# පුරවැසි අධ්‍යාපනය

## 9 ශ්‍රේණිය

**අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව**



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට
www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

ලෝකය දිනෙන් දින සංවර්ධනය කරා පියමනින විට අධ්‍යාපන ක්ෂේත්‍රය ද සැමවිටම අලුත් වෙයි. එබැවින් අනාගත අභියෝග සඳහා සාර්ථක ලෙස මුහුණ දිය හැකි ශිෂ්‍ය ප්‍රජාවක් බිහිකරලීමට නම් අපගේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය ද නිරතුරුව සාධනීය ප්‍රවේශ වෙත ළඟාවිය යුතු ය. එයට සවියක් වෙමින් නවලොව දැනුම සමීප කරන අතරම, යහගුණයෙන් පිරිපුන් විශ්වීය පුරවැසියන් නිර්මාණය කිරීමට සහයවීම අපගේ වගකීම වේ. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යයෙහි සක්‍රිය ලෙස ව්‍යාවෘත වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ සඳහා දායක වනුයේ දූයේ දරුවන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොතක් යනු දැනුම පිරි ගබඩාවකි. එය විටෙක අප වින්දනාත්මක ලොවකට කැඳවාගෙන යන අතරම තර්ක බුද්ධිය ද වඩවාලයි. සැඟවුණු විභව්‍යතා විකසිත කරවයි. අනාගතයේ දිනෙක, මේ පෙළපොත් හා සබැඳි ඇතැම් මතක, ඔබට සුවයක් ගෙන දෙනු ඇත. මේ අනගි ඉගෙනුම් උපකරණයෙන් ඔබ නිසි පල ලබාගන්නා අතරම තව තවත් යහපත් දැනුම් අවකාශ වෙත සමීප වීම ද අනිවාර්යයෙන් සිදු කළ යුතු ය. නිදහස් අධ්‍යාපනයේ මහරු තිළිණයක් ලෙස නොමිලේ මේ පොත ඔබේ දෝතට පිරිනැමේ. පාඨ ග්‍රන්ථ වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පෙළපොත හොඳින් පරිශීලනය කර නැණ ගුණ පිරි පුරවැසියන් වී හෙට ලොව එළිය කරන්නට ඔබ සැමට දිරිය සවිය ලැබෙන්නැයි සුබ පතමි.

මෙම පෙළපොත් සම්පාදන සත්කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ප්‍රණාමය පළකරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2020. 05. 26

**නියාමනය හා අධීක්ෂණය**

ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

දක්ෂිණා කස්තුරිආරච්චි — සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කරණය**

ඒ. එල්. එස්. අබේවික්‍රම — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

ධම්ම දිසානායක — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
දේශපාලන විද්‍යාව හා රාජ්‍ය ප්‍රතිපත්ති
අධ්‍යයන අංශය, කොළඹ විශ්වවිද්‍යාලය

නීතිඥ වසන්තා සෙනෙවිරත්න — අංශාධිපති, පොදු හා අන්තර්ජාතික නීති
අධ්‍යයනාංශය, නීති පීඨය,
කොළඹ විශ්වවිද්‍යාලය

දක්ෂිණා කස්තුරිආරච්චි — සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**ලේඛක මණ්ඩලය**

සිරිල් ශාන්ති ජයසිංහ — ගුරු මධ්‍යස්ථාන කළමනාකරු (විශ්‍රාමික),
හොරණ

ජී. ජී. තුසිත ප්‍රියන්ත කුමාර — ගුරු සේවය, ලුම්බිණි විද්‍යාලය, කොළඹ 05

එච්. අරුණ ඉන්ද්‍රසේන — ගුරු උපදේශක, කලාප අධ්‍යාපන කාර්යාලය,
බලංගොඩ

ඩබ්ලිව්. එච්. නාමල් රේණුකා — ගුරු සේවය, ඇහැලියගොඩ මධ්‍ය මහා
විද්‍යාලය

කේ. ඒ. නිලන්ත පුෂ්පකුමාර — සහකාර විදුහල්පති, අසෝක විද්‍යාලය,
කොළඹ 10

දමින්ද්‍ර හේමජීවක කුඩලිගම — ගුරු සේවය, ආනන්ද විද්‍යාලය, කොළඹ

එම්. කේ. කිංස්ලි ප්‍රියන්ත — කථිකාචාර්ය,
රුහුණ ජාතික අධ්‍යාපන විද්‍යා පීඨය, වලහන්දූව

ආචාර්ය ඩබ්ලිව්. එම්. ශාමින්ද වනසිංහ — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
ශ්‍රී ලංකා විවෘත විශ්වවිද්‍යාලය, නාවල

**සෝදුපත් කියවීම**

එම්. ඒ. එම්. දමයන්ති
සංවර්ධන සහකාර,
ද්විතීයික පාසල් සංවර්ධන ශාඛාව,
අධ්‍යාපන අමාත්‍යාංශය

**භාෂා සංස්කරණය**

මහාචාර්ය රත්නසිරි අරංගල
සිංහල ජන සන්නිවේදන අධ්‍යයන අංශය,
ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය

රංජිත් ඉලුප්පිටිය
සහකාර කොමසාරිස්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**චිත්‍ර, රූප සටහන් සැකසීම**

අමිතා ඉන්දිරානි
සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ,
කලාප අධ්‍යාපන කාර්යාලය, ගම්පල

**පරිගණක සහාය, පිටු සැකසුම හා පිටකවර නිර්මාණය**

තිනෝලි ශෙනේෂා කොතලාවල
තොරතුරු තාක්ෂණ අංශය,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

# 01 සමාජ සුරක්ෂිතතාව

**හැඳින්වීම**

සාමූහිකව කටයුතු කිරීම ජන සමාජයක දැකිය හැකි මූලික ලක්ෂණයකි. සෑම පුද්ගලයකුට ම බියෙන් හා සැකයෙන් තොරව ජීවත් වීමට අයිතියක් තිබේ. එම අයිතිය තහවුරු වීමෙන් සමාජ සුරක්ෂිතතාව තහවුරු වේ.

පවුල, පාසල, ආගමික ආයතන, සමාජ ආයතන සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා විශේෂ කාර්යභාරයක් ඉටු කරයි. රජය මගින් ද විවිධ ආයතන පිහිටුවා ඇති අතර ඒ සඳහා විශේෂ යාන්ත්‍රණ ද ක්‍රියාත්මක වේ.

පුරවැසියන් ස්වයං විනයෙන් හා ශික්ෂණයෙන් යුතු වීම ද අන්‍යයන් කෙරෙහි ගරුත්වයෙන් යුක්තව කටයුතු කිරීම ද විශේෂයෙන් බහු සංස්කෘතික සමාජයක සමාජ ඒකාබද්ධතාව තහවුරු කිරීම ද සමාජ සුරක්ෂිතතාවට හේතු වේ.

ජන සමාජයක පුද්ගල සංවර්ධනයටත්, සමාජ සංවර්ධනයටත්, ජාතික සංවර්ධනයටත් සමාජ සුරක්ෂිතතාව ප්‍රබල ලෙස බලපාන සාධකයකි. මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට පහත සඳහන් කරුණු පිළිබඳව පුළුල් අවබෝධයක් ලබා ගැනීමට හැකි වනු ඇත.

- පුද්ගලයා හා සමාජය
- සමාජ සුරක්ෂිතතාව
- සමාජ සුරක්ෂිතතාව සඳහා දායක වන ආයතන
- සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා යොදා ඇති යාන්ත්‍රණ හා නීතිරීති
- සමාජ සුරක්ෂිතතාව කෙරෙහි බලපාන පුද්ගල වගකීම් හා යුතුකම්

## 1.1 පුද්ගලයා හා සමාජය

### 1.1.1 සමාජය හැඳින්වීම

සමාජයක මූලික තැනුම් ඒකකය වන්නේ පවුලයි. පවුල් ඒකක කිහිපයක එකතුවෙන් සමාජයක් ගොඩ නැගෙයි. කිසියම් භූගෝලීය ප්‍රදේශයක් තුළ වාසය කරන ජන කණ්ඩායම් තම විවිධ අවශ්‍යතා ඉටු කර ගැනීම සඳහා සාමූහිකව කටයුතු කිරීම සමාජයක මූලික ලක්ෂණයකි. ඒ සඳහා ඔවුහු විවිධ ආයතන, සමිති සමාගම් හා සංවිධාන පිහිටුවා ගනිති. ඒ අනුව සමාජය යනු පුද්ගල හා සංවිධාන සමූහයක එකතුවකි.



| පුද්ගලයා | පවුල | සමාජය |
|---|---|---|

සෑම පුද්ගලයෙක් ම සමාජයේ සාමාජිකයෙකි. ඔවුහු තම අවශ්‍යතා සපුරා ගැනීම සඳහා නිරන්තර අන්තර් සම්බන්ධතා පවත්වති.

සෑම සමාජයකට ම ආවේණික වූ සිරිත්විරිත්, නීතිරීති, පිළිගැනීම්, ආචාරධර්ම, සම්මුති හා සම්ප්‍රදාය දැකිය හැකි ය. මේවා සෑම සමාජයකට ම පොදු ලක්ෂණ වේ. එය සමාජයක් විචිත්‍රවත් කිරීමට ද හේතු වේ.

වර්තමාන ජන සමාජය ඉතා සංකීර්ණ වී ඇත. එබැවින් පුද්ගලයන්ට තම අවශ්‍යතා සපුරා ගැනීම සඳහා අන් අය සමග යහපත් සබඳතා පවත්වාගෙන යාමට සිදු වී තිබේ. විවිධ පුද්ගලයන්ගේ හා සමාජ ආයතනවල සහාය සෑම දෙනාට ම අවශ්‍ය වේ. පුද්ගලයා හා සමාජය අතර සබඳතා ශක්තිමත් වූ තරමට සමාජයේ යහ පැවැත්ම තහවුරු වේ.

### 1.1.2 සමාජ සුරක්ෂිතතාව

සෑම පුද්ගලයකුට ම බියෙන් හා සැකයෙන් තොරව ජීවත් වීමටත්, ජීවිතය යහපත් ලෙස පවත්වාගෙන යාමටත් සමාජයෙන් රැකවරණය සහ ආරක්ෂාව හිමි විය යුතු ය. එය සමාජ සුරක්ෂිතතාව ලෙස සරලව හැඳින්විය හැකි ය. එලෙස සමාජයේ ආරක්ෂාව හා යහපැවැත්ම උපරිම ලෙස තහවුරු වී තිබීම සමාජ සංවර්ධනයට අත්‍යවශ්‍ය වේ.

සෑම සමාජයක ම පුද්ගලයන් නීතිරීති, සම්ප්‍රදාය පිළිගනිමින් සහ ඒවාට ගරු කරමින් කටයුතු කිරීම සමාජ සුරක්ෂිතතාව තහවුරු වීමට හේතු වේ. එමෙන් ම විවිධ මට්ටමේ පුද්ගලයන්, ආයතන හා සංවිධාන මනා ලෙස සංවිධානය වීම සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා අත්‍යවශ්‍ය වේ.

දූරදර්ශී යහපත් පුද්ගලයෝ සහ කණ්ඩායම්, සුරක්ෂිත ජන සමාජ නිර්මාණය සඳහා ප්‍රබල දායකත්වයක් ලබා දෙති.



ඇමෙරිකා එක්සත් ජනපදයේ පැවති වහල් භාවය ඉවත් කිරීමට කටයුතු කළ හිටපු ජනාධිපති ඒබ්‍රහම් ලින්කන් (1809-1865) වහලුන් ලෙස දුක්විඳි අතිමහත් ජනතාවකගේ සමාජ සුරක්ෂිතතාව ඇති කළ ශ්‍රේෂ්ඨ නායකයෙකි. ඇමරිකාවේ වහල් භාවය ව්‍යාප්ත කිරීමට විරුද්ධව සෘජුව ක්‍රියා කළ ඔහු තම රටේ "නිදහස් පසෙහි නිදහස් ශ්‍රමය"(Free Labour in free soil) වැළැක්වීමට පියවර ගත්තේය. එමෙන් ම ඔහු 1863 දී වහල් සේවයේ යොදවා සිටි මිලියන ගණනක් වූ මිනිසුන් නිදහස් කර ඔවුන්ගේ සමාජ සුරක්ෂිතතාව තහවුරු කළ දූරදර්ශී නායකයෙකි. "ඔබ කුමක් කළත් හොඳ කෙනෙක් වන්න," මෙය ඔහුගේ ප්‍රසිද්ධ කියමනකි.



ඒබ්‍රහම් ලින්කන්

### ක්‍රියාකාරකම 1.1



1. "සමාජ සුරක්ෂිතතාව" යන්න ඔබේ වචනයෙන් පැහැදිලි කරන්න.

#### 1.1.3 සමාජ සුරක්ෂිතතාව කෙරෙහි දායක වන ආයතන හා ඒවායින් ඉටු වන කාර්යභාරය

සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා දායක වන ආයතන රාශියක් සමාජයේ දක්නට ලැබේ. ඉන් කිහිපයකට නිදසුන් පහත දක්වා ඇත.



### 1.1.3.1 සමාජ සුරක්ෂිතතාව කෙරෙහි පවුලේ දායකත්වය


ප්‍රීතිමත් පවුලක්

පුරවැසි අධ්‍යාපනය විෂය යටතේ 7 ශ්‍රේණියේ දී 'අපේ පවුල' මාතෘකාවෙන් ඉගෙනගත් කරුණු නැවත සිහිපත් කරමු. එහි දී පවුලේ ස්වභාවය, කාර්යභාරය හා එහි වැදගත්කම පිළිබඳව බොහෝ කරුණු අධ්‍යයනය කිරීමට ඔබට අවස්ථාව ලැබුණි. සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා පවුලෙන් සුවිශේෂ කාර්යභාරයක් ඉටුවේ. පුද්ගලයකු සමාජයට හැඩ ගැසීමේ මූලික පුහුණුව පවුලෙන් ලබා දේ. පවුලේ සාමාජිකයන් අතර ඇති වන යහපත් හැසිරීම්, ක්‍රියාකාරකම්, ආදර්ශ, ආකල්ප මගින් යහපත් පුද්ගලයෙක් නිර්මාණය වේ. පවුලේ වගකීම වන්නේ යහපත් ලෙස කටයුතු කරන විනයගරුක පුද්ගලයකු සමාජයට දායාද කිරීමයි. පවුලේ සාමාජිකයකු ලෙස පුද්ගලයකු ලබන පෝෂණය, ආරක්ෂාව, ආදරය, දයාව, කරුණාව, ආදර්ශ ඔහුගේ/ඇයගේ ආත්ම විශ්වාසය සහ සමබර පෞරුෂය නිර්මාණය වීමට හේතු වේ. එමගින් රැකවරණය හා සුරක්ෂිතතාව ද ඇති වේ. පවුලේ සාමාජිකයන් ලෙස එකට ජීවත් වීමෙන් පොදු හැඟීම් ඇති වන අතර ඒවා සමාජ සුරක්ෂිතතාවට ඍජුව ම බලපායි.

**සමාජ සුරක්ෂිතතාව සඳහා පවුලකින් ඉටුවිය යුතු කාර්ය**

- සාමාජිකයන් අතර යහපත් සබඳතා වර්ධනය කිරීම
- ඥාතීන්, අසල්වැසියන් සමග යහපත් සබඳතා පැවැත්වීම
- විවිධ පුද්ගලයන් සමග යහපත් සබඳතා පැවැත්වීම
- යහපත් සමාජානුයෝජනයක් සඳහා මග පෙන්වීම
- ආදරය, දයාව, කරුණාව වැනි ගුණාංග ප්‍රගුණ කිරීම
- ආරක්ෂාව හා රැකවරණය තහවුරු කිරීම
- මද්‍යසාර, මත්ද්‍රව්‍ය භාවිතය හා සමාජ විරෝධී විෂමාචාර ක්‍රියා ආදියෙන් මුදවා ගැනීම
- සංස්කෘතික හර රැක ගැනීමට හුරු කිරීම
- අන්‍යයන්ට සවන්දීමට හා එම අදහස්වලට ගරු කිරීමට ඉගැන්වීම
- එකිනෙකා සමග සහයෝගයෙන් කටයුතු කිරීමට අවශ්‍ය පුහුණුව ලබා දීම
- ආදර්ශයෙන් මග පෙන්වීම
- තමාගේ අභිවෘද්ධිය සඳහා වැඩිහිටියන් දෙන උපදෙස් පිළිපැදීමට යොමු කිරීම
- චිත්තවේග පාලනයට හුරු කිරීම
- පුද්ගලයන් හා සමාජය පිළිබඳව සුබවාදීව සිතීමට මගපෙන්වීම
- දැරිය හැකි අල්පේච්ඡ ජීවන රටාවකට හුරු කිරීම
- නීතිගරුක වීමේ අවශ්‍යතාව අවබෝධ කර දීම

මෙබඳු ගුණාංග පිරි පුද්ගලයන් සෑම පවුලක් තුළින් ම බිහි වීමට අවශ්‍ය පසුබිම නිර්මාණය විය යුතු ය. එවිට සමාජ සුරක්ෂිතතාව තහවුරු වනු ඇත.
පහත දැක්වෙන්නේ පවුලෙන් ලැබෙන සමාජ සුරක්ෂිතතාව සඳහා උදාහරණයකි.

දිනක්, කුඩා තෝමස් අල්වා එඩිසන් පාසලේ සිට නිවසට පැමිණ ඔහුගේ මවට ලිපියක් දුන්නේ ය. "අම්මා, මගේ ගුරුවරයා මට මේ ලිපිය දුන්නා, ඔබට දෙන්න කියලා. එය ඔබ පමණක් කියවිය යුතුයි කියලත් කිව්වා. මොකද්ද මේ ලිපියෙන් කියන්නේ?" එඩිසන් විමසුවේ ය.

ලිපිය කියවන විට ඇගේ ඇස්වල කඳුළු පිරුණි. **"ඔබේ පුතා අතිදක්ෂයෙක්. මෙම පාසල ඔහු සඳහා කුඩා වැඩියි. ඔහුට ඉගැන්වීමට තරම් දක්ෂ, පුහුණු ගුරුවරුන් මෙම පාසලේ නොමැත. කරුණාකර ඔහු නිවසේ තබා ඔබ ඔහුට උගන්වන්න."** ලිපියේ කියූ දේ ඒ අයුරින් ම සිදුවිය, එඩිසන්ගේ පාසල් ගමන නැවතිණි. ඔහුගේ නිවස පාසල විය. ගුරුවරිය මව වූවාය.

ප්‍රථම වරට විදුලි බල්බයක් නිපද වූ තෝමස් අල්වා එඩිසන් (1841-1931)

එඩිසන්ගේ මව මියගොස් වසර ගණනාවකට පසුව, ඔහු ශතවර්ෂයේ ශ්‍රේෂ්ඨ නිර්මාණකරුවෙකු බවට පත්විය.

එඩිසන්ට පසු කාලයක තම නිවසේ ට්‍රන්ක පෙට්ටියක තිබී ඔහුගේ පැරණි ගුරුවරයා විසින් එවන ලද හතරට නැමූ ලිපිය අහම්බෙන් හමු විය. ඔහු එය විවෘත කළේ ය. ලිපියෙහි ලියා තිබුණේ, **"ඔබේ පුතා මහා පල් මෝඩයෙකි. ඔහුට ඉගැන්වීමට කාලය වැය කිරීමට මෙම පාසලේ ගුරුවරුන්ට නොහැකි ය. තව දුරටත් ඔහුට මෙම පාසලේ ඉගෙන ගැනීමට ඉඩ ලබාදිය නොහැකි අතර කරුණාකර ඔහු නිවසේ තබාගෙන ඔබ ඔහුට උගන්වන්න," යනුවෙනි.**

එය චිත්තාවේගාත්මකව කියවීමෙන් පසු එඩිසන් සිය දින පොතේ මෙලෙස සටහනක් තැබුවේ ය.

**"තෝමස් අල්වා එඩිසන් යනු මව විසින් සියවසේ ශ්‍රේෂ්ඨයකු බවට පත් කරනු ලැබූ මහා පල් මෝඩයෙකි."**

### 1.1.3.2 සමාජ සුරක්ෂිතතාව කෙරෙහි පාසලේ දායකත්වය

පවුල් සමාජයෙන් දරුවන් ඊළඟට පිවිසෙන්නේ පාසල් සමාජයටයි. සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා පවුලට නොදෙවෙනි කාර්යභාරයක් පාසල තුළින් ද ඉටු විය යුතු ය. සමාජ සුරක්ෂිතතාව ගොඩනගා ගැනීම සඳහා අවශ්‍ය පසුබිම පුළුල් ලෙස සංවිධානය කළ සංවිධිත ආයතනයක් ලෙස පාසල හැඳින්විය හැකි ය. පාසලේ දී ඔබ ලබා ගන්නා දැනුම, ආකල්ප, කුසලතා හා යහජීවන පුරුදු යහපත් පුරවැසියකු ලෙස සමාජයේ ජීවත් වීමට බෙහෙවින් උපකාරී වේ.



පාසලක ඡායාරූපයක්

| සමාජ සුරක්ෂිතතාව කෙරෙහි පාසලෙන් ඉටු වන කාර්ය | |
|---|---|
| | විධිමත් අධ්‍යාපනයක් ලබා දීම |
| | යහපත්, සමාජශීලී, විනයගරුක පුද්ගලයන් බිහි කිරීම |
| | නිපුණතාවලින් පරිපූර්ණ කිරීම |
| | සමබර පෞරුෂයකින් හෙබි පුද්ගලයන් බිහි කිරීම |
| | අයිතිවාසිකම් භුක්ති විඳිමින් යුතුකම් ඉටු කිරීමට ඉගැන්වීම |
| | සංස්කෘතිය පවරාදීම සහ ආරක්ෂා කිරීම |
| | සමාජ යහපත උදෙසා කටයුතු කිරීමට ඉගැන්වීම |
| | මද්‍යසාර, මත්ද්‍රව්‍ය භාවිතයේ ආදීනව පැහැදිලි කරදීම හා ඉන් මුදවා ගැනීම |
| | සමාජ විරෝධී හා විෂමාචාර ක්‍රියාවල අහිතකර ප්‍රතිඵල අවබෝධ කරදීම හා ඉන් මුදවා ගැනීම |
| | යහපත් සමාජානුයෝජනයක් ඇති කිරීම |
| | සමානාත්මතාව අගය කිරීමට හා චිත්තවේග පාලනයට හුරු කිරීම |
| | සාමූහිකව, සාමයෙන් කටයුතු කිරීමට යොමු කිරීම |
| | ජාතික සමගිය හා සහෝදරත්වය, සමානාත්මතාව ඇති කිරීම |
| | පරිසරය සුරැකීමට අවශ්‍ය නිපුණතා සංවර්ධනය කිරීම |
| | ආගම හා ආචාර ධර්මවලට අදාළ යහගුණ වර්ධනය කිරීම |
| | සෑම දරුවෙකු ම වැදගත් බවත්, දක්ෂ බවත් අවබෝධ කරදීම |

තම පාසලේ දරුවන්ට යහමග පෙන්වන ගුරුවරියක සම්බන්ධ පහත කතාව කියවා බලන්න.



පළමු වසරට ඇතුළත් වූ කුඩා ටිම් බොහෝ විෂයවලට දක්ෂතා පෙන්වූ දරුවෙකි. එහෙත් තුන්වන ශ්‍රේණියේ දෙවන වාරයේ සිට ටිම්ගේ ක්‍රියාකාරිත්වයේ මන්දගාමී බවක් ගුරුතුමියට හඳුනාගත හැකි විය. ඔහු දෙස සුපරික්ෂාවෙන් සිටි ගුරුතුමිය, පසුගිය වර්ෂයේ ටිම්ගේ ප්‍රගති වාර්තා ද අධීක්ෂණය කළා ය. මුල් කාලයේ දක්ෂ සිසුවකු වූ ඔහු ක්‍රමයෙන් මන්දගාමී වීමට හේතුව සෙවීමට ගුරුතුමියට සිත්විය. ටිම්ට සමීප වූ ගුරුතුමිය ඔහුගේ වතගොත විමසන්නට වූවා ය. තුන්වන ශ්‍රේණියේ පළමු වාරයේ දී අසනීප තත්වයක් හේතුවෙන් ඔහුගේ මව මිය ගොසිනි. ඉන් ඇති වූ කම්පනය, කාන්සාව හේතුවෙන් ටිම්ගේ පුංචි හිත ඔද්දල් විය.

ටිම්ගේ පසුබෑස්මට හේතුව වටහා ගත් මේ ගුරුතුමිය ඉන්පසු ඔහුට මවක් වූවා ය. මවකගෙන් ලැබිය යුතු ආදරය, කරුණාව, දයාව, සැලකිල්ල මේ ගුරු දෙව්දුවගෙන් ටිම්ට නො අඩුව ම ලැබුණි. ටිම් පාසල් කටයුතුවලට නැවත උනන්දු විය. පාසල ඔහුට නිවස මෙන් ප්‍රියමනාප විය. වර්ෂ අවසානයේ ගුරුතුමියගේ මේසය මත සිසුන් දුන් තෑගි බෝග පිරී තිබුණි. කඩදාසියක ඔතාගත් කුඩා තෑග්ගක් ගෙන ආ ටිම් ද එය ගුරුතුමියට දී ආචාර කළේ ය. එය ටිම්ගේ මව පැළඳි දුර්වර්ණ වූ වළල්ලකි. ගුරුතුමිය එය ඉතා අගය කොට භාර ගත්තා ය.

කාලයත් සමග ටිම්ගේ දක්ෂතා වැඩිදියුණු වූ අතර ප්‍රාථමික හා ද්විතීයික අධ්‍යාපනය හමාර කළ ටිම් විශ්වවිද්‍යාල අධ්‍යාපනය ද සාර්ථක ව නිම කළේ ය. ටිම් විවාහ වන දිනය උදා විය. මේ ගුණගරුක දරුවා තම ජීවිතය යහ මගට යොමු කළ තම ආදරණීය ගුරුමව අමතක නො කළේ ය. ඇය විවාහ උත්සවයට පැමිණියා ය. ඇය අත පැලඳ සිටියේ ටිම් විසින් වර්ෂාවසානයේ ඇයට දුන් වළල්ලයි.

## ක්‍රියාකාරකම 1.2



ඔබගේ පාසල, සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා ඉටු කරන කාර්ය නිර්මාණාත්මකව ඉදිරිපත් කරන්න.

### 1.1.3.3 සමාජ සුරක්ෂිතතාව කෙරෙහි ආගමික ආයතනවල දායකත්වය

යහ පුරුදු සහ සාරධර්ම තහවුරු කර සාමකාමී සමාජයක් ගොඩනැගීම සඳහා ආගමික ආයතනවලින් ප්‍රමුඛ කාර්ය භාරයක් ඉටු වේ. සෑම ආගමක ම අරමුණක් වන්නේ යහපත් පුරවැසියන් ලෙස සාමයෙන්, සමගියෙන්, සයෝගයෙන් හා සහජීවනයෙන් යුතුව ජීවත් වීමේ වැදගත්කම ජනතාවට අවබෝධ කර දීමයි. එමෙන් ම එකිනෙක ආගම් හා ජනවර්ග අතර සහජීවනයක් ඇති කිරීම ද ආගමික ආයතනවලින් ඉටු විය යුතු මහඟු මෙහෙවරකි. ඒ අනුව ආගමික ආයතන සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා වැදගත් මෙහෙවරක් ඉටු කරයි. ඊට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.









- යහපත් ආකල්ප ඇති කිරීම
- විනය හා ශික්ෂණය ඇති කිරීම
- ආධ්‍යාත්මික සංවර්ධනයට මග කියා දීම
- ගුණගරුක පුරවැසියන් බිහි කිරීම
- මද්‍යසාර, මත්ද්‍රව්‍ය භාවිතයේ ආදීනව පහදා දී ඉන් මුදවා ගැනීම
- සමාජ විරෝධී හා විෂමාචාර ක්‍රියාවල අහිතකර බලපෑම් අවබෝධ කර දීම හා ඉන් මුදවා ගැනීම
- සහයෝගිතාව හා උපකාරය හුරු කිරීම
- සිරිත්විරිත්, සම්ප්‍රදාය හුරු කිරීමට හා ආරක්ෂා කිරීමට ඉගැන්වීම
- ජීවිතය පිළිබඳව සුබවාදී නිවැරදි දැක්මක් ඇති කිරීම
- ජාතික සමගිය, ජාතික ඒකාග්‍රතාව ඇති කිරීම සඳහා සහාය වීම
- තිරසර සාමය සඳහා කටයුතු කිරීම



මර්සලින් ජයකොඩි පියතුමා කතෝලික පූජකවරයෙකි. එහෙත් එතුමාට බුද්ධ ධර්මය පිළිබඳ මනා අවබෝධයක් තිබූ අතර එතුමා විසින් රචනා කරන ලද බෞද්ධ ගීත බොහෝ ප්‍රචලිත ය. ආගම් අතර සහජීවනය ඇති කිරීමට කටයුතු කළ බැවින් ඔහු "පන්සලේ පියතුමා" ලෙසින් හැඳින්විණි.



මර්සලින් ජයකොඩි පියතුමා

## ක්‍රියාකාරකම 1.3



1. ඔබේ ප්‍රදේශයේ දක්නට ලැබෙන විවිධ ආගමික ආයතන මොනවා ද?
2. එම ආයතන පොදුවේ සමාජ සුරක්ෂිතතාව වෙනුවෙන් ඉටු කරන කාර්ය පහක් සඳහන් කරන්න.

### 1.1.3.4 සමාජ සුරක්ෂිතතාව කෙරෙහි සමාජ ආයතනවල දායකත්වය

එදිනෙදා ජීවිතයේ සිය විවිධ අවශ්‍යතා ඉටු කර ගැනීම සඳහා පුද්ගලයෝ සමාජ ආයතන හා සංවිධාන සමග එක්ව කටයුතු කරති. එමෙන් ම පුද්ගල අවශ්‍යතා සංකීර්ණ වීමත් සමග ඒවා ඉටු කරදීම සඳහා විවිධ ආයතන හා සංවිධාන බිහි වී තිබේ. එයට නිදසුන් කිහිපයක් පහත රූපයේ දැක්වේ.



මෙම සංවිධාන බොහොමයක් විධිමත් සැලැස්මකට හා ව්‍යවස්ථාවකට අනුව ක්‍රියාත්මක වේ. ඒවායේ මූලික අරමුණ වන්නේ එකිනෙකා සමග සහයෝගයෙන් කටයුතු කර සමාජ ශුභසාධනය වැඩි දියුණු කර ගැනීමයි. මෙසේ පොදුවේ සාමූහිකව පිහිටුවා ගන්නා සමාජ ආයතන හා සංවිධාන සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා විශාල මෙහෙවරක් ඉටු කරයි. ඒවායේ කාර්යවලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

**සමාජ සුරක්ෂිතතාව කෙරෙහි විවිධ සමාජ ආයතන මගින් ඉටුවන කාර්ය**

- සාමාජිකයන් අතර සාමූහිකත්වය වර්ධනය කිරීම
- යහපත් අන්තර් පුද්ගල සම්බන්ධතා ඇති කිරීම
- අන් මත ඉවසීමට හා අන්‍යයන්ට ගරු කිරීමට හුරු කිරීම
- නායකත්වයට ගරු කිරීම හා අනුගාමික වගකීම් ඉටු කිරීම
- සමාජ යුතුකම් හා වගකීම් ඉටු කිරීම
- නීතිගරුකව කටයුතු කිරීමට හුරු කිරීම
- සමාජ ශුභසාධක සේවා පවත්වාගෙන යාම
- ආර්ථික සුරක්ෂිතතාව සඳහා සහාය වීම
- ප්‍රජා සෞඛ්‍ය සේවා පවත්වාගෙන යාම
- ආහාර හා පෝෂණය පිළිබඳව දැනුම්වත් කිරීම
- වසංගත රෝග වැළැක්වීමට සහාය වීම හා ආරක්ෂා වීම පිළිබඳව දැනුම්වත් කිරීම
- මෘදු කුසලතා වර්ධනය කිරීම (ආදරය, කරුණාව, මෛත්‍රිය වැනි)
- ජාතික සමගිය, ජාතික ඒකාග්‍රතාව හා තිරසර සාමය තහවුරු කිරීමට සහාය වීම
- පුද්ගලයන් හා සමාජය පිළිබඳ ශුභවාදීව සිතීමට මගපෙන්වීම
- මද්‍යසාර, මත්ද්‍රව්‍ය භාවිතය, සමාජ විරෝධී හා විෂමාචාර ක්‍රියා ආදියෙන් සමාජය මුදා ගැනීමට වැඩසටහන් ක්‍රියාත්මක කිරීම
- අවමංගල්‍ය අවස්ථා වැනි පුද්ගලයන් දුකට/සංවේගයට පත්වූ අවස්ථාවල දී උදවු උපකාර කිරීම

## ක්‍රියාකාරකම 1.4



ඔබේ ප්‍රදේශයේ ක්‍රියාත්මක වන සමාජ ආයතන (සංවිධාන) පිළිබඳ තොරතුරු රැස් කර පහත වගුව සම්පූර්ණ කරන්න.

| සංවිධානයේ නම | පිහිටුවීමේ අරමුණු | සමාජ සුරක්ෂිතතාව වෙනුවෙන් ඉටු කරන කාර්ය |
|---|---|---|
| | | |
| | | |
| | | |
| | | |

### 1.1.5 මද්‍යසාර හා මත්ද්‍රව්‍ය භාවිතය, සමාජ විරෝධී හා විෂමාචාර ක්‍රියා

වර්තමාන සමාජය මුහුණ පා තිබෙන ප්‍රධාන ගැටලුවක් වන්නේ මද්‍යසාර හා මත්ද්‍රව්‍ය භාවිතය ඉහළ යාමයි. එමෙන් ම සමාජ විරෝධී ක්‍රියා හා විෂමාචාර ක්‍රියා බහුල වී තිබේ. මේවාට විසඳුම් සෙවීම සඳහා රජය මගින් විවිධ වැඩසටහන් ක්‍රියාත්මක කරනු ලබයි. ඊට අමතරව රාජ්‍ය ආයතන, විවිධ සංවිධාන හා රාජ්‍ය නොවන ආයතන බොහොමයක් ද මේ වෙනුවෙන් විවිධ ක්‍රියාමාර්ග ගෙන තිබේ.

මද්‍යසාර හා මත්ද්‍රව්‍ය භාවිතය, විවිධ සමාජ විරෝධී ක්‍රියා සහ විෂමාචාර ක්‍රියා වැඩි වීම කෙරෙහි ඍජුව ම බලපායි. සමාජ සුරක්ෂිතතාව බිඳ වැටීම සඳහා ප්‍රධාන බලපෑම ක් වන්නේ ද මද්‍යසාර හා මත්ද්‍රව්‍ය භාවිතය බව විවිධ මාධ්‍ය ඔස්සේ දකින්නට, අසන්නට ලැබෙන ප්‍රකට කරුණකි.

මද්‍යසාර, මත්ද්‍රව්‍ය භාවිතය, සමාජ විරෝධී ක්‍රියා හා විෂමාචාර ක්‍රියා වළක්වා ගැනීම සඳහා පවුල, පාසල, ආගමික ආයතන හා සමාජ ආයතනවලින් ඉටු වන කාර්යභාරය සමාජයට ඉතා වැදගත් වේ. එමෙන් ම එවැනි සමාජ විරෝධී ක්‍රියා මැඬපැවැත්වීම හා සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා ක්‍රියාත්මක වන ආයතන බොහොමයක් ද තිබේ. ඒවාට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- අන්තරායකර ඖෂධ පාලක ජාතික මණ්ඩලය
- ශ්‍රී ලංකා පොලිසිය
- ජාතික ළමා ආරක්ෂක අධිකාරිය
- පරිවාස හා ළමාරක්ෂක සේවා දෙපාර්තමේන්තුව
- මත්පැන් හා මත්ද්‍රව්‍ය තොරතුරු මධ්‍යස්ථානය
- 'හෙල්දි ලංකා', සුමිත්‍රයෝ, මිතුරුමිතුරෝ වැනි රාජ්‍ය නොවන ආයතන

### 1.1.6 සමාජ සුරක්ෂිතතාව සඳහා වන නීති

#### නීතිය හැඳින්වීම

රටක හෝ ජන සමාජයක සියලු දෙනා ම අවනත විය යුතු, රාජ්‍යය විසින් පනවනු ලබන සමස්ත රෙගුලාසි පද්ධතිය නීතිය ලෙස සරලව හැඳින්විය හැකි ය. පුද්ගලයා සමාජයේ ජීවත් වීමේ දී සමාජයට සිදු වන අහිතකර බලපෑම් හා හානි වළක්වා ගැනීම සඳහාත්, සාමය හා ආරක්ෂාව සහතික කිරීම සඳහාත්, නීති ක්‍රියාත්මක වේ.

සෑම සමාජයක් ම නීතියට අනුව පාලනය විය යුතු ය. ආණ්ඩුවක මූලික වගකීම වන්නේ ද තම රාජ්‍යය තුළ නීතිය හා සාමය ආරක්ෂා කිරීමයි. නීතියට ගරු කිරීම හා අවනත වීම පුරවැසියන්ගේ වගකීමකි. නීති කඩ කළ විට දඬුවම් හිමි වේ. නීතියේ ආධිපත්‍යය නිසි පරිදි ක්‍රියාත්මක වන සෑම සමාජයක ම යුක්තිය, සාමය හා සමාජ සුරක්ෂිත බව ආරක්ෂා වී තිබේ.

සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා රාජ්‍ය ආයතනවලින් සිදුවන කාර්ය භාරය ද ඉතා වැදගත් ය. එවැනි රාජ්‍ය ආයතනවලට උදාහරණ ලෙස අධිකරණය, පොලීසිය, ආරක්ෂක හමුදා ආදිය හඳුනාගත හැකි ය.

**නීතියේ ගුණාංග කිහිපයක්**

- අධිකාරි බලය පදනම් කරගෙන රජය විසින් පනවනු ලැබීම
- මිනිසාගේ බාහිර හැසිරීම හා ක්‍රියාකාරකම් පාලනය කිරීම
- නීති කඩකිරීම දඬුවම් ලැබිය හැකි වරදක් වීම
- පොදුවේ සමාජ යහපත අරමුණු කරගෙන පනවා තිබීම
- වෙනස් වන සමාජ අවශ්‍යතා අනුව වෙනස් වීම
- සැමට සාධාරණව හා සමානව ක්‍රියාත්මක වීම
- නිරවුල්ව හා පැහැදිලිව දැක්විය යුතු වීම
- නීතිය අන් සැමට ඉහළින් ක්‍රියාත්මක වීම (නීතියේ ආධිපත්‍යය)

**නීතියේ මූලාශ්‍ර**

සමාජ සුරක්ෂිතතාව සඳහා සකස් කර ඇති නීති විවිධ මූලාශ්‍ර පදනම් කරගෙන සකස් කර තිබේ. ඒවාට උදාහරණ කිහිපයක් පහත දැක්වේ.

- ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව
- ව්‍යවස්ථා (අණපනත්)
- සිරිත්විරිත්
- අධිකරණ තීරණ
- නීති විශාරදයන්ගේ මත
- ආගම

නීති සමාජ අවශ්‍යතා සමග දැඩි ලෙස බැඳී පවතී. එයින් පැහැදිලි වන්නේ සියලු දෙනා ම නීතියට අවනත වීම හා නීති පිළිපැදීම අත්‍යවශ්‍ය බවයි.

නීතිය ක්‍රියාත්මක වන ආකාරය අනුව ප්‍රධාන වශයෙන් වර්ග දෙකකට බෙදා දැක්විය හැකි ය.

1. දේශීය නීතිය
2. අන්තර්ජාතික නීතිය

**1. දේශීය නීතිය**

රටක් තම දේශ සීමාව තුළ බලපැවැත්වෙන පරිදි පනවනු ලබන හා ක්‍රියාත්මක කරනු ලබන නීති දේශීය නීති වශයෙන් හැඳින්වේ. දේශීය නීතිය රටකින් රටකට වෙනස් වේ.

දේශීය නීතිය

| ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථා නීතිය | අපරාධ නීතිය | සිවිල් නීතිය |
|---|---|---|
| රාජ්‍ය පාලනය සම්බන්ධ මූලික සිද්ධාන්ත ඇතුළත් රටක උත්තරීතර නීතිය ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා නීතිය වේ. විවිධ අංශ සතු බලතල, වගකීම් හා මානව හිමිකම් මෙමගින් දැක්වේ.<br><br>**උදාහරණ :**<br>1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව | පුද්ගලයකු හෝ කණ්ඩායමක් හෝ විසින් සමාජයට එරෙහිව කරනු ලබන වැරදි සම්බන්ධයෙන් බලපාන නීති<br>**උදාහරණ :**<br>● මිනීමැරීම හා මිනීමැරීමට තැත් කිරීම<br>● මංකොල්ල කෑම<br>● ස්ත්‍රී දූෂණ<br>● ළමා අපයෝජන<br>● පැහැර ගැනීම<br>● අතුරුදහන් කිරීම<br>● මත්ද්‍රව්‍ය භාවිතය හා වෙළෙඳාම<br>● සොරකම | සමාජයක පුද්ගල සම්බන්ධතා සහ දේපළ සම්බන්ධ වැරදි, ආරවුල් හා හානි සම්බන්ධයෙන් බලපාන නීති<br>**උදාහරණ :**<br>● ගිවිසුම්<br>● පවුල් සබඳතා (දික්කසාද, දරුවන්ගේ භාරකාරත්වය)<br>● උරුමය<br>● අයිතිවාසිකම්<br>● ඉඩම් ගැටලු<br>● ණය අයකර ගැනීම<br>● වන්දි |

**2. අන්තර්ජාතික නීතිය**

එක් රටක් තවත් රටක් සමග හෝ රටවල් කිහිපයක් සමග හෝ සම්බන්ධ වී කටයුතු කිරීමේ දී බල පවත්වන නීතිය අන්තර්ජාතික නීතිය ලෙස සරලව හැඳින්විය හැකි ය. එසේ අන්තර්ජාතික වශයෙන් බලපවත්නා නීති කිහිපයකට නිදසුන් පහත දැක්වේ.

- අන්තර්ජාතික මානව හිමිකම් නීතිය
- අන්තර්ජාතික සාංක්‍රමණික නීතිය
- අන්තර්ජාතික ගුවන් ගමන් සම්බන්ධව පවත්නා නීතිය
- අන්තර්ජාතික සාගර නීතිය
- අන්තර්ජාතික පරිසර නීතිය
- අන්තර්ජාතික ආයෝජන නීතිය
- අන්තර්ජාතික ආරවුල් නිරාකරණය කිරීමේ නීතිය

අන්තර්ජාතික යුක්ති අධිකරණය, අන්තර්ජාතික අපරාධ අධිකරණය මගින් මෙබඳු අන්තර්ජාතික නීති බලාත්මක කිරීම සිදු කෙරේ.

### 1.1.7 නීතිය බලාත්මක කිරීම සඳහා පවතින විවිධ ආයතන

### 1. අධිකරණය

ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩු ක්‍රමයක යුක්තිය පසිඳලීම, පුරවැසි නිදහස හා මිනිස් අයිතිවාසිකම් ආරක්ෂා කර දීම අධිකරණය මගින් සිදු කරනු ලබයි. අධිකරණය ස්වාධීනව ක්‍රියාත්මක වීම අධිකරණය කෙරෙහි පුරවැසියන් තුළ විශ්වාසය හා ගෞරවය ගොඩනැඟීමට හේතු වේ.

යුක්තිය පසිඳලීම සඳහා ශ්‍රී ලංකාවේ ප්‍රධාන වශයෙන් අධිකරණ ආයතන කිහිපයක් ක්‍රියාත්මක වේ.

### ශ්‍රී ලංකාවේ වර්තමාන අධිකරණ පද්ධතිය




## 2. ශ්‍රී ලංකා පොලීසිය

රටේ නීතිය හා සාමය සුරකිමින් සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම පොලීසියේ ප්‍රධාන වගකීමකි.

'ශ්‍රී ලංකා පොලීසිය' යන මාතෘකාව යටතේ පාසලේ උදෑසන රැස්වීමේ දී 9 ශ්‍රේණියේ ඉගෙනුම ලබන සමිත සිසුවා විසින් කරන ලද කතාවයි, මේ;




ශ්‍රී ලංකා පොලීසියේ
නිල ලාංඡනය

"ආදරණීය ගුරු දෙමාපියන්ගෙන් සහ සහෝදර සහෝදරියන්ගෙන් අවසරයි!

'ධම්මෝ හවේ රක්ඛති ධම්මචාරි'. ධර්මයේ හැසිරෙන්නා ධර්මයෙන් ම රැකේ. ඒ පොලීසියේ ආදර්ශ පාඨයයි. මා අද ඔබ හමුවේ කතා කරන්නට යන්නේ ශ්‍රී ලංකා පොලීසිය පිළිබඳවයි. දිවා රෑ දෙකෙහි අපට නිරතුරුව ආරක්ෂාව සලසන ප්‍රධානතම ආයතනය වන්නේ පොලීසියයි. උදේ අවදි වූ මොහොතේ සිට රෑ නින්දට යන තුරුත්, රාත්‍රි නින්දට යාමේ සිට උදෑසන අවදි වන තුරුත් බියෙන් සැකෙන් තොරව, සුවසේ වාසය කිරීම පිණිස අපට ආරක්ෂාව සැලසීම පොලීසියේ නිලධාරීන් කරන විශිෂ්ට සේවාවකි.



සොර, සතුරන්ගෙන්, විවිධ අපරාධකරුවන්ගෙන් අප නිරතුරුව ආරක්ෂා කරන්නේ පොලීසියයි. මාර්ගවල රථවාහන හැසිරවීම, පාර මාරු වීමට උදවු කිරීම, නගරබද ප්‍රදේශවල දක්නට ලැබෙන සුලබ දසුනක්. රිය නියාමකයන් ලෙස අප පුහුණු කිරීමත් පොලීසිය අපට කරන ලොකු උදව්වක්.

ප්‍රභූ ආරක්ෂාව සැපයීම, විවිධ උත්සව, රැස්වීම් වැනි දේ සඳහා ආරක්ෂාව සැලසීම, ආරක්ෂිත ලෙස වාහන ධාවනයට යොමු කිරීම පොලීසියෙන් අපට සැලසෙන විශේෂිත සේවා ලෙස හඳුන්වන්න පුළුවන්.



මද්‍යසාර, මත්ද්‍රව්‍ය වැනි විවිධ සමාජ විරෝධී ක්‍රියා මැඩපැවැත්වීම, වැරදිකරුවන් නීතියේ රැහැනට හසු කර ගැනීම පොලීසියේ ප්‍රධාන කාර්යයන්. එමෙන් ම විවිධ ආරවුල්, කලකෝලාහල, ත්‍රස්තවාදී ක්‍රියා මැඩපැවැත්වීමට කටයුතු කිරීමත් පොලීසියෙන් කෙරෙන වැදගත් මෙහෙවරක්. මේවා සියල්ල ම පොලීසිය කරන්නේ අපගේ ආරක්ෂාව සහතික කිරීමටය. එමෙන් ම අප වැනි ළමයින් වෙනුවෙන් හා කාන්තාවන් වෙනුවෙන් වෙන ම අංශයකුත් පවත්වාගෙන යාමෙන් අපගේ ආරක්ෂාව සහතික කර තිබීම සතුටට කරුණකි.



ගංවතුර, නායයාම් වැනි හදිසි ආපදාවල දී පොලීසිය කරන මෙහෙවර ද කිසිවිටෙකත් අපට අමතක කළ නොහැකියි. ඒ විතරක් නොවෙයි, දරුණු ගණයේ අපරාධකරුවන් ඉතා කෙටි කාලයක් තුළ අත්අඩංගුවට ගැනීමට ඉතා දක්ෂ ලෙස පොලීසිය කටයුතු කිරීම මෙහි දී සඳහන් කළ යුතු මයි. එහි දී පොලිස් නිල සුනඛ සේවය ඉටු කරන කාර්යය ද විශේෂයෙන් අගය කළ යුත්තක්.

එමෙන් ම 119 සේවාව පවත්වාගෙන යාමෙන් හදිසි කරදර, හදිසි අනතුරු සම්බන්ධයෙන් ක්ෂණිකව ක්‍රියාත්මක වීමත් පොලීසියේ විශිෂ්ට සේවාවක්.

අව්ව වැස්ස, රෑ දහවල, වෙනසක් නොමැතිව පොලීසිය අප වෙනුවෙනුත් අපගේ මාතෘ භූමිය වෙනුවෙනුත්, කරන මෙහෙවරට අපි නිරතුරු ගරු කරමු. ඒ වගේ ම පොලිසියේ කාර්යයන් සාර්ථකව ඉටු කිරීම සඳහා සැම විට ම අපගේ සහාය ලබාදීමත් වැදගත් යුතුකමක්. සමාජ සුරක්ෂිතතාව සඳහා පොලීසිය කරන මෙහෙවරෙන් බිඳක් පමණයි මා සඳහන් කළේ. මගේ කතාව අසා සිටි ඔබ සැමට ස්තුතියි.”

විශ්‍රාමික පොලිස්පති ඒ. ජේ. ඉද්දමල්ගොඩ මහතා "POLICE" යන්න අර්ථකථනය කර තිබූ ආකාරය

| | | |
|---|---|---|
| P | - Polite | - විනීත |
| O | - Obedient | - කීකරු |
| L | - Loyal | - රාජපාක්ෂික |
| I | - Intelligent | - බුද්ධිමත් |
| C | - Courageous | - ධෛර්යවත් |
| E | - Efficient | - කාර්යශූර |

ශ්‍රී ලංකා පොලීසියට සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීමට අවශ්‍ය අවස්ථාවල දී ජාත්‍යන්තර පොලීසියේ සහාය ද ලබා ගත හැකි ය.



**එක්සත් රාජධානියේ පොලීසිය සම්බන්ධ සිදුවීමක්.........**

එක්සත් රාජධානියේ හයිඩ් පාර්ක් කෝනර් යනු සති අන්තයේ මිනිසුන් නිදහසේ ගැවසෙන ස්ථානයකි. ඇතැම්හු විනෝද වෙති, ගී ගයති, සැණකෙළි පවත්වති, ප්‍රසිද්ධ දේශන පවත්වති. දිනක් හයිඩ් පාර්ක් කෝනර් අසලින් තම වාහනය පදවාගෙන ගිය ඇමරිකානු ජාතිකයෙකුට, වේදිකාවක් මත මයික්‍රෆෝනයක් රැගත් දේශකයකු එක්සත් රාජධානියේ පොලීසිය අතිශය පහත්, නින්දිත, දූෂිත, වංචාකාරී එකක් බවට චෝදනා නගමින් කෙරෙන දේශනයක් අසන්නට ලැබිණි. රිය පැදවූ පුද්ගලයා, රියේ වේගය අඩු කරමින් මෙම දේශනයට සවන් දෙමින් සිටින අතර ප්‍රතාපවත් පොලිස් නිලධාරියකු තම වාහනය දෙසට වේගයෙන් පැමිණෙනු දක්නට ලැබිණි. අනපේක්ෂිත දෝෂාරෝපණයක් නිසැකව ම ලැබෙතැයි එම පුද්ගලයා තැති ගත්ත ද වාහනය අසලට පැමිණි පොලිස් නිලධාරියාගේ ඉල්ලීම වූයේ, **"කරුණාකර ඔබගේ වාහනයේ එන්ජිම නතර කරන්න. එහි ශබ්දය නිසා අන් අයට දේශනය ඇහෙන්නේ නැහැ,"** යන්න ය.

**ක්‍රියාකාරකම 1.5**



සමිත සිසුවා විසින් කරන ලද කතාව ඇසුරෙන් සමාජ සුරක්ෂිතතාව සඳහා පොලීසියෙන් ඉටුවන කාර්ය මොනවා දැයි ලැයිස්තුගත කරන්න.

උදා :- මහජන ආරක්ෂාව හා සාමය ආරක්ෂා කිරීම

## 3. නීතිපති දෙපාර්තමේන්තුව

රජයේ සියලු ම නීතිමය කටයුතු සම්බන්ධ වගකීම නීතිපති දෙපාර්තමේන්තුව සතු වේ. රජය වෙනුවෙන් නඩු පැවරීම සහ නඩුවලට පෙනී සිටීම සිදු කරනු ලබන්නේ ද මෙම දෙපාර්තමේන්තුව මගිනි. ශ්‍රී ලංකාවේ ප්‍රධාන නීති නිලධාරියා වන නීතිපතිතුමා, නීතිපති දෙපාර්තමේන්තුවේ ප්‍රධානියා වේ. ජනාධිපතිවරයා විසින් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සභාවේ නිර්දේශය මත නීතිපතිවරයා පත් කරනු ලබයි. නීතිපති දෙපාර්තමේන්තුවේ කාර්ය කිහිපයක් පහත දැක්වේ.

- රජය සම්බන්ධ නඩුවල දී අවශ්‍ය නීති උපදෙස් ලබා දීම
- රජය සම්බන්ධ හෝ රජයට එරෙහි සියලු ම නීති කාර්ය ගොනු කිරීම
- රජයේ සහ රාජ්‍ය ආයතන සම්බන්ධ නඩුවල දී පෙනී සිටීම
- පාර්ලිමේන්තුවට ඉදිරිපත් කරන පනත්වලට අවශ්‍ය නීතිමය උපදෙස් ලබා දීම
- ශ්‍රේෂ්ඨාධිකරණය විසින් විභාග කරනු ලබන නඩුවල දී පාර්ශ්වකරුවකු ලෙස සහභාගි වීම
- මරණ දඬුවම නියම වූවකුගේ, එම දඬුවම ක්‍රියාත්මක කිරීමට අවශ්‍ය නිර්දේශය ජනාධිපතිවරයාට ලබා දීම

## 4. රජයේ රස පරීක්ෂක දෙපාර්තමේන්තුව

අධිකරණය, නීතිය ක්‍රියාත්මක කිරීමේ ආයතන සහ වෙනත් ආයතනවලට අධිකරණ විද්‍යාව, ආහාර විද්‍යාව යන ක්ෂේත්‍ර සම්බන්ධ විශ්ලේෂණ හා විශේෂඥ උපදේශන සේවා සපයනු ලබන්නේ රජයේ රස පරීක්ෂක දෙපාර්තමේන්තුව මගිනි.

"සාධාරණ හා නීතිගරුක සමාජයක් ගොඩනැගීම" රජයේ රස පරීක්ෂක දෙපාර්තමේන්තුවේ දැක්ම වන අතර කාර්යක්ෂම සහ සාධාරණ ලෙස යුක්තිය පසිඳලීමේ ක්‍රියාවලියට දායක වීම මෙහි මූලික අරමුණයි. විවිධ ආයතන විසින් ඉදිරිපත් කරනු ලබන සාම්පල පරීක්ෂා කර විශ්ලේෂණ වාර්තා සැපයීම සඳහා විෂය විශේෂඥයෝ මෙම දෙපාර්තමේන්තුවේ සේවය කරති. සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා රජයේ රස පරීක්ෂක දෙපාර්තමේන්තුව සමග එක්ව කටයුතු කරන ආයතන රාශියකි. ඉන් කිහිපයක් පහත දැක්වේ.

- අධිකරණය
- පොලිස් දෙපාර්තමේන්තුව
- සෞඛ්‍ය දෙපාර්තමේන්තුව
- ශ්‍රී ලංකා ප්‍රමිති ආයතනය
- මධ්‍යම පරිසර අධිකාරිය
- කම්කරු විනිශ්චය සභා
- අපරාධ විමර්ශන දෙපාර්තමේන්තුව
- රේගු දෙපාර්තමේන්තුව
- සුරාබදු දෙපාර්තමේන්තුව
- ශ්‍රී ලංකා තේ මණ්ඩලය

## 5. බන්ධනාගාර දෙපාර්තමේන්තුව

විවිධ අපරාධ හා සමාජ විරෝධී ක්‍රියා සම්බන්ධයෙන් වැරදිකරුවන් ලෙස අධිකරණය විසින් තීන්දු කරනු ලබන පුද්ගලයන් සිරගත කොට තැබීම සහ පුනරුත්ථාපනය කිරීම සහ ඔවුන් නීතිගරුක හා මානව හිතවාදී යහපත් පුරවැසියන් ලෙස සමාජගත කිරීම බන්ධනාගාර දෙපාර්තමේන්තුවේ මූලික අරමුණ මෙන්ම ප්‍රධාන කාර්ය භාරය වේ. මීට අමතරව විවිධ වැරදි සම්බන්ධයෙන් සැකකරුවන් ලෙස අත්අඩංගුවට ගන්නා අය රඳවා තබාගැනීම හා රැකබලා ගැනීම ද මෙයින් ඉටු කෙරෙන වැදගත් කාර්යභාරයකි. ශ්‍රී ලංකාවේ බන්ධනාගාර ගත වන පුද්ගලයන්ගෙන් වැඩි ප්‍රතිශතයක් පාසල් අධ්‍යාපනය සාර්ථකව අවසන් නොකළ අය බව සමීක්ෂණවල දී තහවුරු වී ඇත.

## 6. ශ්‍රී ලංකාවේ ආරක්ෂක හමුදා

සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා කටයුතු කරන ප්‍රධාන ආයතන ලෙස ආරක්ෂක හමුදාවලට හිමිවන්නේ වැදගත් ස්ථානයකි. ඒ සඳහා ආරක්ෂක අමාත්‍යාංශය යටතේ යුද හමුදාව, නාවික හමුදාව හා ගුවන් හමුදාව ස්ථාපිත කර තිබේ. මේ එක් එක් හමුදාව පිළිබඳ ව 9 ශ්‍රේණියේ සිසුන් කණ්ඩායම් තුනක් විසින් බිත්ති පුවත්පතකට සපයනු ලැබූ ලිපි තුනක් පහත දැක්වේ.

### ශ්‍රී ලංකා යුද හමුදාව






ශ්‍රී ලංකාවට නිදහස ලැබීමෙන් පසුව 1949 ඔක්තෝබර් මස 10 වන දින ලංකා යුද හමුදාව ආරම්භ කරන ලදි. 1972 වර්ෂයේ දී ලංකා යුද හමුදාව 'ශ්‍රී ලංකා යුද හමුදාව' ලෙස නම් කරන ලදි. ජාතියේ ඒකවරණය වෙනුවෙන් ශ්‍රී ලංකාවට ගොඩබිමින් ආරක්ෂාව සැපයීම යුද හමුදාවේ ප්‍රධාන කාර්යභාරයයි. ශ්‍රී ලංකා යුද හමුදාවේ ආදර්ශ පාඨය "පිතෘ භූමිය සඳහා (For the Fatherland)" වේ. එමෙන් ම දේශීය වශයෙන් මෙන් ම විදේශීය වශයෙන් ද බලපාන විවිධ යුදමය තත්ත්වවලින් මව්බිම ආරක්ෂා කරගැනීමට ද හමුදාව කැප වී සිටී.

### ශ්‍රී ලංකා නාවික හමුදාව








1950 දෙසැම්බර් 09 දින ලංකා නාවික හමුදාව ආරම්භ කරන ලදි. 1972 සිට එය "ශ්‍රී ලංකා නාවික හමුදාව" ලෙස හඳුන්වනු ලබයි. "රට වට බැඳි රන් වැට" (The golden fence around the country) එහි ආදර්ශ පාඨයයි. අභ්‍යන්තරව හා බාහිරව රටට එල්ල වන යුදමය තර්ජනවලින් මාතෘ භූමිය ආරක්ෂා කර ගැනීමට කටයුතු කිරීම ශ්‍රී ලංකා නාවික හමුදාවේ ප්‍රධාන කාර්යභාරයයි. මහ සයුර සමග ගැටෙමින්, මහත් වූ වෙහෙසක් දරමින් රටේ ආරක්ෂාවට කටයුතු කරන ශ්‍රී ලංකා නාවික හමුදාව සයුරින් මෙන් ම ගොඩබිමින් ද රටට ආරක්ෂාව සලසයි. එමෙන් ම රහසිගතව මුහුදු මාර්ගයේ සිදු වන මත්ද්‍රව්‍ය වැනි නීති විරෝධී වෙළෙඳාම් කටයුතු හා අනවසර සංක්‍රමණ වැළැක්වීම සඳහා කටයුතු කිරීම ද ශ්‍රී ලංකා නාවික හමුදාවේ වැදගත් කාර්යභාරයකි. මුහුදු සීමා උල්ලංඝනය කරමින් සිදු වන අනවසර ධීවර කටයුතු වැළැක්වීම ද නාවික හමුදාවෙන් ඉටු වන වැදගත් මෙහෙවරකි. තව ද ශ්‍රී ලංකාවේ දූපත් අතර ප්‍රවාහන පහසුකම් සැපයීම, ආපදාවල දී පිහිට වීම, ජල විපත්වලින් විපතට පත්වූවන් බේරා ගැනීම ආදි කටයුතු ද මෙහි දී අගය කළ යුතු ය.

## ශ්‍රී ලංකා ගුවන් හමුදාව




1951 මාර්තු මස 02 දින ලංකා ගුවන් හමුදාව පිහිටුවන ලදි. 1972 වර්ෂයේ සිට එය "ශ්‍රී ලංකා ගුවන් හමුදාව" ලෙස නම් කරනු ලැබිණි. "සුරකිමු ලකඹර" යන්න ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ ආදර්ශ පාඨයයි. අහස් ගැබ සිසාරා යමින් ගුවනින් මව්බිමට ආරක්ෂාව සැපයීම ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ ප්‍රධාන කාර්යයයි. දේශීය වශයෙන් මෙන් ම විදේශීයව මව්බිමට එල්ල විය හැකි යුදමය තත්ත්වවලින් රට ආරක්ෂා කරගැනීමට අමතරව අභ්‍යන්තර ගුවන් ප්‍රවාහන කටයුතු කිරීම ද ගුවන් හමුදාවේ තවත් වැදගත් කාර්යභාරයකි. හදිසි විපත් අවස්ථාවල දී ගොඩබිමින් හෝ ජලයෙන් ළඟා විය නොහැකි තැන්වලට ළඟා වී සහනාධාර සැපයීම, ජීවිත ගලවා ගැනීම, ආරක්ෂාව සැපයීම ගුවන් හමුදාවෙන් ඉටු කරන තවත් වැදගත් මෙහෙවරකි.





මීට අතිරේක වශයෙන් සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා සිවිල් ආරක්ෂක බළකාය ද, ත්‍රිවිධ හමුදාවට සහාය වෙමින් ඉතා වැදගත් ජාතික මෙහෙවරක් ඉටු කරයි.

ශ්‍රී ලංකා ත්‍රිවිධ හමුදාව රට ජාතිය වෙනුවෙන් අභිමානවත් මෙහෙවරක් ඉටු කරයි. ශ්‍රී ලංකාවේ ඒකීය භාවය සහ භෞමික අඛණ්ඩතාව ආරක්ෂා කිරීම හමුදාවල ප්‍රධාන වගකීමයි. ගොඩබිම, මුහුද සහ ගුවන ආරක්ෂා කරමින් ජනතාවට ඇති විය හැකි විවිධ අනතුරු, ආපදා වළක්වා සමාජ සුරක්ෂිතතාව තහවුරු කරමින් ත්‍රිවිධ හමුදාව මව්බිම වෙනුවෙන් සුවිශේෂී කාර්යභාරයක් ඉටු කරයි.

ආරක්ෂක හමුදා පොදුවේ "සමාජ සුරක්ෂිතතාව" තහවුරු කිරීම සඳහා ඉටු කරන කාර්ය කිහිපයකට නිදසුන් පහත දක්වා ඇත.

- දේශීය වශයෙන් හෝ විදේශීය රටවලින් එල්ල විය හැකි යුද්ධමය තත්ත්වවලින් රට ආරක්ෂා කිරීම
- කැරලි කෝලාහල හා ත්‍රස්තවාදී ක්‍රියා මර්දනය කිරීමට කටයුතු කිරීම
- ශ්‍රී ලංකාව තුළ භෞතික සහ මානව සම්පත් ආරක්ෂා කිරීමට පොලීසියට සහාය වීම
- හදිසි ආපදා හා විපත් අවස්ථාවල දී සහන සේවා සැලසීම
- වැඩ වර්ජන වැනි අවස්ථාවල අත්‍යවශ්‍ය සේවා පවත්වා ගැනීමට සහාය වීම
- විවිධ හේතු මත අවතැන්වූවන් සඳහා දෛනික අවශ්‍යතා සම්පාදනයට සහාය වීම
- ජාතික වශයෙන් වැදගත් වන කාර්ය ඉටු කිරීම සඳහා අවශ්‍ය අවස්ථාවල දී රජයට සහාය වීම

ත්‍රිවිධ හමුදාවෙන් ඉටුවන කාර්ය සම්බන්ධයෙන් නිමවා ඇති පහත ගීතය කියවා රස විඳින්න.

රන් මලක් ලෙස දෙව් බඹුන් දෝතින් පිදූ මේ පින් බිමේ
පස් පිඬක් ගිලිහී නොයන්නට රන් වැටක් ඇත සිව් කොනේ
නෙත් පුරා එක හීනයේ මුළු ලෝකයා නිදනා රැයේ
දේශයේ මුර දේවතා එළි රැ පුරා දැල්වී තියේ

ළෙහි හොවා වැඩූ සිය පුතුන් ඇත අවි දරා වැද රණ මතින්
පෑ විකුම් දැක දෑ බැතින් හිස අත් මුදුන් දෙති පියවරුන්
මව්බිමේ හිමිකම් පතා තම දිවි පිදූ කල ඒ පුතුන්
තුන් හෙලේ හැම මව්වරුන් ළය කිරි එරී ඇත උන් නමින්

රන් මලක් ලෙස.........

මව් කුසින් නොව මිහි කුසින් සිරිලක උපන් විරු දරුවනේ
අපි ඔබෙන් නව පණ ලබා මෙහි යළි උපන්නෙමු අද දිනේ
නෑසියන් සොයුරන් ඔබේ අද දූ පුතුන් හැම මේ බිමේ
හදවතින් අපි යුදබිමෙහි ඔබ තනි කළේ නැත කිසි දිනේ///

**පද රචනය :- කුමාරදාස සපුතන්ත්‍රී ගායනය :- සුනිල් එදිරිසිංහ**

## ක්‍රියාකාරකම 1.6



සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා ක්‍රියාත්මක වන ආයතනවලින් එකක් පිළිබඳව තොරතුරු ඇතුළත් පොත් පිංචක් සකස් කරන්න.

## 1.2 සමාජ සුරක්ෂිතතාවට දායක වන යාන්ත්‍රණ සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම්

සමාජ සුරක්ෂිතතාව ඇති කිරීමේ ප්‍රධාන වගකීම පැවරෙන්නේ පුද්ගලයාට ය. ඒ අනුව සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා පුද්ගලයා විසින් සමාජයට ඉටු කළ යුතු යුතුකම් රාශියක් පවතී. එහි දී සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා පිහිටුවා ඇති විවිධ ආයතන සමග කටයුතු කිරීමේ දී තම යුතුකම් කොටස නොපිරිහෙලා ඉටු කිරීම සෑම පුද්ගලයෙකුගේ ම වගකීමක් ද වේ. එම එක් එක් යාන්ත්‍රණ සම්බන්ධයෙන් පුද්ගලයා විසින් ඉටු කළ යුතු වගකීම් හා යුතුකම් පිළිබඳව විස්තර කෙටියෙන් පහත දක්වා ඇත.

### 1.2.1 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව හා අනෙකුත් නීතිරීති සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම්

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව රටේ මූලික නීතියයි. උත්තරීතර නීතිය ලෙස ද එය හැඳින්වේ. සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අමතරව

අපරාධ නීතිය, සිවිල් නීතිය හා වෙනත් අණපනත් ද ක්‍රියාත්මක වේ. මේවා ක්‍රියාත්මක කිරීමේ දී ඒවාට අනුගතව කටයුතු කිරීම හා නීතිරීතිවලට ගරු කිරීමත් අවනත වීමත් අත්‍යවශ්‍ය වේ.

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව හා අනෙකුත් නීතිරීති සම්බන්ධයෙන් පුද්ගල වගකීම් හා යුතුකම් පිළිබඳව 9 ශ්‍රේණියේ ශිෂ්‍ය ශිෂ්‍යාවන් පිරිසක් අතර ඇති වූ සාකච්ඡාවකින් උපුටාගත් කොටස් කිහිපයක් පහත දැක්වේ.

රිසානා: ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව කටයුතු කිරීමට බැඳී සිටීම හැමෝගෙ ම වගකීමක් හා යුතුකමක්

සාමක: අනෙකුත් නීතිරීතිවලට අවනත වෙන්නත් අපි බැඳී සිටිනවා

දිස්නා: රටේ පවතින නීතිරීතිවලට අවනත වීම නිසා රටේ පාලනය ස්ථාවර වීමත්, ක්‍රමවත් වීමත්, අයිතිවාසිකම් ආරක්ෂා වීමත් සිදු වෙනව.

උමා: ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව හා නීතිරීති පිළිබඳ අවබෝධයක් ලබා තිබීමත් පුරවැසියකුට අත්‍යවශ්‍යයි

රවි: නීතිය නොදැන සිටීම නිදහසට කරුණක් නොවෙයි.

රුක්ෂාන්: නීති කඩකළා ම ලැබෙන දඬුවම් ගැන දැන සිටිමත් ඉතා වැදගත්.

රේකා: නීතිය දන්නේ නෑ කියලා ලබා දෙන දඬුවමේ වෙනසක් සිද්ධ වෙන්නේ නෑ.

ඉසුර: නීතිරීති ගැන දන්න දේවල් අනෙක් අයට කියලා දෙන එකත් අපේ යුතුකමක්

## 1.2.2 අධිකරණය සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම්

සමාජ සුරක්ෂිතතාව සඳහා යොදා ඇති යාන්ත්‍රණ අතර අධිකරණය ද ඉතා වැදගත් වේ. අධිකරණය රටක යුක්තිය පසිඳලන ආයතනයයි.




### 1.2.3 පොලිසිය සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම්

සමාජ සුරක්ෂිතතාව සහතික කිරීමට පොලීසිය මහඟු මෙහෙවරක් ඉටු කරයි. ඒ වෙනුවෙන් පුද්ගලයන් ලෙස අප විසින් ද ඉටු කළ යුතු වගකීම් හා යුතුකම් රාශියක් පවති. එයට නිදසුන් කිහිපයක් පහත දක්වා ඇත.

මහාමාර්ගයේ විනය ආරක්ෂා වන අයුරින් කටයුතු කිරීම

නීතිය ක්‍රියාත්මක කිරීම සම්බන්ධයෙන් අවනත භාවය දැක්වීම

කැරලි කෝලාහල, නීති විරෝධී මහජන උද්ඝෝෂණ මැඩ පැවැත්වීමේ කටයුතුවලට බාධා නොකිරීම

සාමය කඩ වන අවස්ථා පිළිබඳව පොලිසිය දැනුම්වත් කිරීම

සාමය හා ආරක්ෂාව පවත්වාගෙන යාමට සහාය ලබාදීම

අවශ්‍ය අවස්ථාවල දී සත්‍ය හා නිවැරදි තොරතුරු ලබාදීම

රාජ්‍ය හා මහජන දේපළ ආරක්ෂා වන අයුරින් කටයුතු කිරීම

අපරාධ පරීක්ෂණ සඳහා පොලීසියට සහාය ලබා දීම

අපරාධකරුවන් අල්ලා ගැනීමට පොලිසියට සහාය ලබා දීම

මද්‍යසාර, මත්ද්‍රව්‍ය භාවිතය හා අනෙකුත් සමාජ විරෝධී ක්‍රියා වැළැක්වීමට පොලීසියට සහාය දැක්වීම

## ක්‍රියාකාරකම 1.7



පහත දක්වා ඇති වගුවේ I වන තීරුවේ සමාජ සුරක්ෂිතතාව සඳහා පොලීසිය මගින් ඉටු කරනු ලබන කාර්ය කිහිපයක් දක්වා ඇත. එම කටයුතු සාර්ථක කර ගැනීම සඳහා පුරවැසියකු වශයෙන් ඔබට ඉටු කළ හැකි යුතුකම් කිහිපයක් II වන තීරුවේ සටහන් කරන්න.

| I වන තීරුව<br>පොලිසිය මගින් ඉටු කරනු ලබන කාර්යයන් | II වන තීරුව<br>පුරවැසියන් වශයෙන් ඉටු කළ හැකි යුතුකම් |
|---|---|
| මාර්ග ආරක්ෂාව | |
| මත්ද්‍රව්‍ය නිවාරණය | |
| ඩෙංගු වැනි බෝවන රෝග මර්දනය | |
| පරිසර සංරක්ෂණය | |

### 1.2.4 ආරක්ෂක හමුදා සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම්

ආරක්ෂක හමුදා විසින් සමාජ සුරක්ෂිතතාව සඳහා විශාල සේවා රැසක් ඉටු කරනු ලැබේ. මෙම සේවා ඉටු කිරීම නිසා ඔවුහු දේශයේ මුර දේවතාවන් ලෙස නිබඳ ගෞරවයට පාත්‍ර වෙති. ආරක්ෂක හමුදා විසින් ඔවුන්ගේ කාර්යයන් ඉටු කරනු ලැබීමේ දී පුද්ගලයන් වශයෙන් අපට ද ආරක්ෂක හමුදා සම්බන්ධයෙන් ඉටු කළ යුතු වගකීම් හා යුතුකම් සමුදායක් පවතී. ඒවාට නිදසුන් කිහිපයක් පහත රූපසටහන් මගින් දක්වා ඇත.

ආපදා සහන සේවා කටයුතු සඳහා සහාය ලබා දීම

කැරලි කෝලාහල වැනි අවස්ථා පිළිබඳව ආරක්ෂක හමුදා දැනුම්වත් කිරීම



රණවිරු සුබසාධක කටයුතුවලට හැකි අයුරින් දායක වීම

කැරලි මර්දන කටයුතුවලට බාධා නොකිරීම

මියගිය හා ආබාධිත රණවිරුවන් පිළිබඳව සංවේදීව කටයුතු කිරීම

සාමය හා ආරක්ෂාව පවත්වාගෙන යාමට ආරක්ෂක හමුදාවල කටයුතුවලට සහාය දැක්වීම

ආරක්ෂක හමුදා විසින් දිවි පරදුවට තබා සිදු කරනු ලබන සේවය අගය කිරීම

**1.2.5 සමථ මණ්ඩල සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම්**

සමථ මණ්ඩලය යනු ජනතාව අතර ඇතිවන සුළු ආරවුල් අධිකරණය වෙත නොගොස් නිරාකරණය කර ගැනීමට පිහිටුවා ඇති විකල්ප ආයතන විශේෂයකි. ඉන් විශාල වශයෙන් ගොඩ ගැසෙන නඩු අවම කිරීමක් ද අපේක්ෂා කෙරේ.

ශ්‍රී ලංකාවේ සමථකරණය සඳහා දැනට පවතින ක්‍රමය හඳුන්වා දී ඇත්තේ 1988 අංක 72 දරන සමථ මණ්ඩල පනත මගිනි.

සමථ මණ්ඩල සඳහා සාමාජිකයන් පත් කරනු ලබන්නේ සමථ මණ්ඩල කොමිෂන් සභාව විසිනි. එහි දී සාමාජිකයන් ලෙස පත් කර ගනු ලබන්නෝ උගත්, බුද්ධිමත්, සමාජය විසින් පිළිගත් චරිතවත් පුද්ගලයෝ ය.

ආරවුලක් සමථ මණ්ඩලය වෙත යොමු කළ හැකි ක්‍රම තුනකි.

1. පොලීසිය මගින්
2. අධිකරණය මගින්
3. පෞද්ගලික යොමු කිරීමක් මගින්

සමථ මණ්ඩල මගින් සිදු කෙරෙන සේවය සාර්ථක කර ගැනීමට නම් ඒ හා බැඳුණු පුද්ගල වගකීම් හා යුතුකම් ඉටු කළ යුතු ය. ඒවා මෙසේ පෙළගැස්විය හැකි ය.




**1.2.6. ජාතික ළමා ආරක්ෂක අධිකාරිය සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම්**

1998 අංක 50 දරන පාර්ලිමේන්තු පනත මගින් ජාතික ළමා ආරක්ෂක අධිකාරිය පිහිටුවන ලදි. එය ළමා හිංසනය වැළැක්වීමේ සහ එවැනි හිංසනයක වින්දිතයන් වූ ළමයින්ට ආරක්ෂාව හා ප්‍රතිකාර ලබා දීමේ අරමුණින් ස්ථාපිත කර ඇත.

| දැක්ම | මෙහෙවර |
|---|---|
| ළමුන් සඳහා හිතකාමී සහ සුරක්ෂිත පරිසරයක් ගොඩනැගීම | ළමුන්, සියලු ආකාරයේ අපයෝජනයන්ගෙන් නිදහස් බව තහවුරු කිරීම |

ජාතික ළමා ආරක්ෂක අධිකාරිය මගින් ඉටු කෙරෙන ප්‍රධාන සේවා මෙසේ ය;

- ළමා හිංසනය හා අපචාර පිළිබඳ දැනුම්වත් කිරීම පිළිබඳව ඍජු දුරකථන අංකය (1929) පවත්වාගෙන යාම
- ළමා අයිතිවාසිකම් පනතට අදාළ ළමා අයිතිවාසිකම් කඩවීමක් සිදු වන්නේ නම් ඊට ක්ෂණිකව මැදිහත් වීම.
- ළමා අපයෝජන සම්බන්ධ නෛතික මැදිහත්වීම්
- අධ්‍යාපනික ප්‍රදර්ශන සහ දැනුම්වත් කිරීමේ වැඩසටහන්
- වින්දිත දරුවන්ට මනෝ සමාජීය සේවාවන් සැපයීම
- සුනාමි මා - පිය කැපකරු වැඩසටහන
- විශේෂ පොලිස් විමර්ශන

ඉහත සේවා ඉටු කිරීමේ දී ළමයින් වෙනුවෙන් ජාතික ළමා ආරක්ෂක අධිකාරියට සුවිශාල කාර්යභාරයක් පවතී. එම කාර්ය හරහා සමාජ සුරක්ෂිතතාව ඇති කිරීමේ දී ඒ හා සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම් සමුදායක් පවතී.




ඉහත වගකීම් හා යුතුකම් ඉටු කිරීම හරහා ජාතික ළමා ආරක්ෂක අධිකාරිය සමාජ සුරක්ෂිතතාව වෙනුවෙන් දක්වන දායකත්වයට අපගේ සහාය ලබා දිය හැකි ය.

### 1.2.7. මානව හිමිකම් කොමිෂන් සභාව සම්බන්ධ පුද්ගල වගකීම් හා යුතුකම්




මානව හිමිකම් ආරක්ෂා කිරීමට 1996 අංක 21 දරන පනත මගින් ශ්‍රී ලංකා මානව හිමිකම් කොමිෂන් සභාව පිහිටුවා තිබේ.

මානව හිමිකම් ආරක්ෂා කිරීම හරහා මෙම කොමිෂන් සභාව සමාජ සුරක්ෂිතතාව සඳහා විශාල සේවයක් ඉටු කරයි. එම කාර්ය ඉටු කිරීමේ දී පුද්ගලයන් වශයෙන් අපට ද කොමිෂන් සභාව හා බැඳුණු වගකීම් හා යුතුකම් පවතී. ඒවායින් කිහිපයක් පහත දැක්වේ.

- මානව හිමිකම් උල්ලංඝනය වීම් පිළිබඳව පැමිණිලි කොමිෂන් සභාව වෙත ඉදිරිපත් කිරීම
- මානව හිමිකම් කොමිෂන් සභාවේ නිර්දේශවලට ගරු කිරීම හා අවනත වීම
- මානව හිමිකම් ප්‍රවර්ධන වැඩසටහන්වලට සහභාගි වීම
- කොමිෂමේ කටයුතු කරගෙන යාමේ දී අවශ්‍ය නිවැරදි තොරතුරු ලබා දෙමින් සහයෝගය දැක්වීම
- මානව අයිතිවාසිකම් හා බැඳුණු යුතුකම් ඉටු කිරීම

#### ක්‍රියාකාරකම 1.8



සමාජ සුරක්ෂිතතාව තහවුරු කිරීම සඳහා ක්‍රියාත්මක වන ආයතන කිහිපයක් පහත වගුවේ I වන තීරුවේ දැක්වේ. එම ආයතන හා බැඳුණු ඔබේ යුතුකම් II වන තීරුවේ සටහන් කරන්න.

| I තීරුව<br>සමාජ සුරක්ෂිතතාව ක්‍රියාත්මකවන ආයතන | II තීරුව<br>අප විසින් ඉටු කළ යුතු යුතුකම් |
|---|---|
| 1. අධිකරණය | |
| 2. ආරක්ෂක හමුදාව | |
| 3. සමථ මණ්ඩලය | |
| 4. ජාතික ළමා ආරක්ෂක අධිකාරිය | |
| 5. මානව හිමිකම් කොමිසම | |

## සාරාංශය



- පුද්ගලයා හා සමාජය අතර අන්‍යෝන්‍ය වශයෙන් වෙන් කළ නොහැකි සම්බන්ධතාවක් පවතී.
- සමාජයේ ආරක්ෂාව සහ යහපැවැත්ම උපරිම ලෙස තහවුරු කිරීම සමාජ සුරක්ෂිතතාවයි.
- සමාජ සුරක්ෂිතතාව සඳහා දායක වන ආයතන අතර පවුල, පාසල, ආගමික ආයතන හා සමාජ ආයතන ඉතා වැදගත් වේ.
- සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව හා විවිධ නීතිරීති රාශියක් ස්ථාපිත කර තිබේ.
- අධිකරණය, පොලිසිය, ආරක්ෂක හමුදා, සමථ මණ්ඩලය, ජාතික ළමා ආරක්ෂක අධිකාරිය, මානව හිමිකම් කොමිෂම ඇතුළු ආයතන රාශියක් සමාජ සුරක්ෂිතතාව ඇති කිරීම සඳහා ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වේ.
- සමාජ සුරක්ෂිතතාව පොදුවේ ක්‍රියාත්මක කරනු ලබන ආයතන වෙනුවෙන් පුරවැසියන්ගෙන් ඉටු විය යුතු යුතුකම් රාශියක් ද පවතී.
- පුද්ගල යුතුකම් මැනවින් ඉටු කිරීම හා යාන්ත්‍රණය නිසි පරිදි ක්‍රියාත්මක වීම සමාජ සුරක්ෂිතතාව තහවුරු වීමට අතිශයින් වැදගත් වේ.
- සමාජ සුරක්ෂිතතාව නිසි පරිදි තහවුරු වීම ජාතික සංවර්ධනයටත් තිරසර සාමයටත් එක සේ වැදගත් වේ.

# 02 කාලීන වෙනස්වීම්

**හැඳින්වීම**

විද්‍යාවේ දියුණුවත්, විවිධ පර්යේෂණ හා ගවේෂණවල ප්‍රතිඵලත් හේතුවෙන් නව සොයාගැනීම් ඇති වේ. ඊට අනුරූපව මිනිස් අවශ්‍යතා ඉටු කර ගැනීමට අවශ්‍ය පරිදි තාක්ෂණික මෙවලම් නිපදවීමට මිනිසා පෙළඹී තිබේ. තම කටයුතු වඩාත් පහසු කර ගැනීමට මිනිසාට තාක්ෂණය අවශ්‍ය ව ඇත. තාක්ෂණය මඟින් ආර්ථිකයේ විවිධ ක්ෂේත්‍රවල වෙනස්කම් රැසක් සිදු කර තිබේ. ඒවා ජන ජීවිතය කෙරෙහි යහපත් ලෙස මෙන් ම අයහපත් ලෙස ද බලපෑම් එල්ල කළ හැකි ය. මේ නිසා කාලීන වෙනස්වීම් පිළිබඳව නිරතුරුව සිහියෙන් යුතුව සිටීම අත්‍යවශ්‍ය වේ.

කාලීන වෙනස්වීම් පිළිබඳව සාකච්ඡා කෙරෙන මෙම පාඩම් ඒකකය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- තාක්ෂණය
- නව තාක්ෂණික මෙවලම්
- තාක්ෂණය ජන ජීවිතයට යහපත්ව හා අයහපත්ව බලපාන ආකාරය
- යෝග්‍ය තාක්ෂණය යොදා ගැනීමේ වැදගත්කම
- ආර්ථිකයේ සිදු වන කාලීන වෙනස්කම්
- එම වෙනස්වීම්වලට අනුගතව කටයුතු කිරීම
- රැකියා වෙළඳපොළ හා එහි ප්‍රවණතා
- නව රැකියා සඳහා සපුරාලිය යුතු සුදුසුකම්
- තරගකාරී ලෝකය සමඟ කටයුතු කිරීමේ දී සහජීවනයෙන් යුතු යහජීවනයක අවශ්‍යතාව.
- සමුපකාර ව්‍යාපාරය, එහි කාර්යභාරය හා එමඟින් සැලසෙන සේවා
- කාලීන සමාජ වෙනස්වීම්වලට අනුගතව දේශීයත්වය රැක ගනිමින් විශ්ව ගම්මානයේ සාමාජිකයකු ලෙස කටයුතු කිරීම පිළිබඳව නිපුණතා සංවර්ධනය කරගැනීමට අවස්ථාව සැලසෙනු ඇත.

## 2.1 තාක්ෂණයේ වෙනස්වීම් හා ඒවාට දක්වන ප්‍රතිචාර

### 2.1.1 තාක්ෂණය හැඳින්වීම

මිනිසා අතීතයේ සිට ම තම කටයුතු පහසු කර ගැනීම සඳහා විවිධ උපක්‍රම භාවිත කළේ ය. ඒ සඳහා ඔහුට උපතින් ම පෙළඹීමක් ද තිබිණි. මේ අනුව ''**තම කටයුතු වඩා පහසු කර ගැනීම සඳහා මිනිසා යොදා ගන්නා ක්‍රමවේදය**'' තාක්ෂණය ලෙස සරලව හඳුන්වා දිය හැකි ය.

### 2.1.2 තාක්ෂණික වෙනස්වීම්

වැඩවසම් ක්‍රමය බිඳ වැටීමත් සමග පොත පත පරිශීලනයට මිනිසා යොමු විය. එය මිනිසාගේ චින්තන ශක්තිය දියුණු වීමට ඍජුව ම බලපා තිබේ. එහි ප්‍රතිඵලයක් ලෙස විද්‍යාව හා තාක්ෂණය ද ක්‍රමයෙන් දියුණු විය. ඊට අනුරූපව නව සොයාගැනීම් රැසක් ලෝකයට දායාද වීම සතුටට කරුණකි. **එසේ මිනිස් අවශ්‍යතා පහසු කර ගැනීම සඳහා යොදා ගනු ලබන ක්‍රමවේදවල ඇති කරන වෙනස්කම්** තාක්ෂණික වෙනස්කම් ලෙස දැක්විය හැකි ය.

දඩයම් යුගයේ ජීවත් වූ මිනිසා තම කටයුතු ඉටු කර ගැනීමේ දී ගල් මෙවලම් භාවිත කළේ ය. එහෙත් පසු කාලයේ දී ඒවා ක්‍රමයෙන් දියුණු විය. අතීත මිනිසාගේ ජීවිතය ඉතා සරල වූවකි. ඒ නිසා ම ඔහු හිසට වහළක් ලෙස භාවිත කළේ ස්වභාව ධර්මයාගේ අපූරු නිර්මාණයක් වූ ගල් ලෙනකි. නමුත් නව සොයාගැනීම් හා තාක්ෂණයේ ඇති වූ දියුණුවත් සමග ඔහුට ක්‍රමයෙන් වෙනස් වීමට සිදු විය. එහි ප්‍රතිඵලයක් ලෙස ගල්ලෙනක වාසය කළ මිනිසා වර්තමානයේ දී අතිනවීන ක්‍රම භාවිත කර සකස් කර ගත් අධි සුඛෝපභෝගී මන්දිර තම වාසස්ථාන බවට පත් කොටගෙන තිබේ.



තාක්ෂණයේ දියුණුවත් සමග මිනිස් අවශ්‍යතා ද සංකීර්ණ වී තිබේ. එහි ප්‍රතිඵලය වී ඇත්තේ මුල් කාලයේ පැවති ගල් මෙවලම් වෙනුවට ක්‍රමයෙන් විද්‍යුත් මෙවලම් රැසක් ලෝකයට දායාද වීමයි. අතීතයේ පැවති නිවාසයක හා වර්තමානයේ නිවසක මුළුතැන් ගෙයි භාවිත වන උපකරණ නිරීක්ෂණයෙන් මෙය වඩාත් පහසුවෙන් අවබෝධ කර ගැනීමට හැකි වනු ඇත.



පැරණි නිවසක මුළුතැන්ගෙයක්



නවීන නිවසක මුළුතැන්ගෙයක්

### 2.1.3 ගවේෂණ හා පර්යේෂණ මගින් කෙරෙන නව සොයාගැනීම්

ජනගහනයේ ක්‍රමික වර්ධනයත් සමග මිනිස් අවශ්‍යතා ද වර්ධනය විය. එම අවශ්‍යතා සපුරා ගැනීමට කාර්යක්ෂම මෙවලම්වල අවශ්‍යතාව ද ඇති විය. මීට සාපේක්ෂව 18 වන සියවසේ ඇති වූ කාර්මික විප්ලවයේ ප්‍රතිඵලයක් ලෙස නව සොයාගැනීම් රැසක් ලෝකයට දායාද විය. මේ සඳහා එකල සිදු කළ ගවේෂණ හා පර්යේෂණ මහත් රුකුලක් වූ බව නොරහසකි. **''විද්‍යාත්මක ක්‍රමවේද අනුගමනය කරමින් ගැටලුවක් පිළිබඳව විසඳුම් සොයා ගැනීමට කෙරෙන අධ්‍යයනයක් පර්යේෂණයක්'' ලෙස සරලව හැඳින්විය හැකි ය.** වර්තමාන ලෝකයේ ගවේෂණ හා පර්යේෂණ ඉතා සුවිශේෂී කාර්යභාරයක් ඉටු කරයි. මේ අනුව මිනිස් අවශ්‍යතා පුළුල් වීමක් ද සිදුව තිබේ. ඒවා සපුරා ගැනීමට වැඩි දියුණු කරන ලද මෙවලම්වල අවශ්‍යතාව ද ඇති විය. මෙය තාක්ෂණික නිෂ්පාදන බිහි වීමට බලපෑ ප්‍රබල ම සාධකය ලෙස හඳුන්වා දීම වඩා යෝග්‍ය වේ.

### 2.1.4 තාක්ෂණය වෙනස්වීම සමග ඇති වන සමාජ වෙනස්වීම්

අතීතයේ සිට වර්තමානය දක්වා සිදු කළ අධ්‍යයනවලට අනුව තාක්ෂණයේ වෙනස්කම් රාශියක් සිදු වී ඇති බව පැහැදිලි වේ. මෙම වෙනස්කම් නිසා සමාජයේ විවිධ ක්ෂේත්‍රවල වෙනස්කම් රැසක් ඇති වී තිබේ. එලෙස සමාජයේ ඇති වූ වෙනස්කම් කිහිපයක් මතු දැක්වේ.

- මිනිසාගේ පරිභෝජන රටාව වෙනස් වීම
- නව රැකියා රැසක් බිහි වීම
- නව විලාසිතා බිහි වීම
- නවීන වෛද්‍ය ප්‍රතිකාර ක්‍රම ඇති වීම
- ආහාර පානවල නිෂ්පාදනය හා භාවිතය වෙනස් වීම

- විවේකය හා විනෝදය ගත කරන ආකාර වෙනස්වීම
- සමාජ සම්බන්ධතා පුළුල් වීම හා වේගවත් වීම
- පැරණි සාම්ප්‍රදායික ක්‍රම ශිල්ප අභාවයට යාම
- මිනිසාගේ සිතුම් පැතුම් වෙනස් වීම

■ **තාක්ෂණික වෙනස්වීම් නිසා ඇතිවන හිතකර හා අහිතකර බලපෑම්**

තාක්ෂණික වෙනස්වීම් අවැසි වුව ද එය මිනිසා විසින් බහුල ලෙස භාවිතයට ගැනීම නිසා ඇති වී තිබෙන හිතකර හා අහිතකර බලපෑම් රැසකි.

**හිතකර බලපෑම්**

- වැඩ පහසු වීම
- කාලය ඉතිරි වීම
- සම්පත් නාස්තිය අවම වීම
- ඵලදායීතාව වැඩි වීම
- කාර්යක්ෂමතාව වැඩි වීම
- මානව හා සමාජ සම්බන්ධතා පුළුල් වීම

**අහිතකර බලපෑම්**

- මිනිස් අවශ්‍යතා සංකීර්ණ වීම
- මිනිසා අනවශ්‍ය පරිභෝජන රටාවකට හුරු වීම
- මිනිසුන් යාන්ත්‍රීකරණය වීම
- සමාජය සංකීර්ණ වීම
- පරිසර දූෂණය වේගවත් වීම
- මිනිසා විවිධ ලෙඩ රෝගවලට ගොදුරු වීම
- තාක්ෂණයට දැඩි ලෙස යොමුවීම නිසා සමාජ සම්බන්ධතා බිඳ වැටීම

### 2.1.5 නිර්මාණශීලී පුරවැසියකු වශයෙන් තාක්ෂණික වෙනස්වීම් යොදා ගැනීමේ වැදගත්කම

විවිධ ක්ෂේත්‍රවල ඇති වූ තාක්ෂණික වෙනස්වීම් පිළිබඳව අපි ඉහත දී විමසා බැලුවෙමු. තාක්ෂණය මිනිසාගේ යහපතට යොදා ගැනීමෙන් අත් කරගත හැකි ප්‍රතිඵල ඉමහත් ය. විවිධ කටයුතු සඳහා තාක්ෂණය නිර්මාණශීලී ලෙස යොදා ගැනීම උචිත බව පහත කියමනෙන් ද අපට පසක් වේ.

> ''අලුත් අලුත් දෑ නොතනන ජාතිය ලොව නොනඟී''
>
> **කුමාරතුංග මුනිදාස**

ඉහත වැකියෙන් පෙන්වා දෙන්නේ තාක්ෂණය ඇවැසි බවත් එය නිර්මාණශීලීව යොදා ගත යුතු බවත් ය. ඒ තුළින් පුද්ගල හා සමාජ සංවර්ධනය උදා කරගත හැකි බව මුනිදාස මහතා අවධාරණය කරයි.

වර්තමානයේ තාක්ෂණය යොදා ගැනෙන අවස්ථා කිහිපයකට නිදසුන් පහත දැක්වේ.

- විවිධ ගෘහ අවශ්‍යතා සඳහා
- විවිධ සේවා අවශ්‍යතා සඳහා (අධ්‍යාපනය, ප්‍රවාහනය, සන්නිවේදනය, සෞඛ්‍යාරක්ෂණය)
- විවේකය හා විනෝද කටයුතු සඳහා
- සමාජ සම්බන්ධතා ගොඩනගා ගැනීම සඳහා
- නව නිපැයුම් බිහි කිරීම සඳහා
- නිෂ්පාදන කාර්යක්ෂමතාව වර්ධනය කර ගැනීම සඳහා

### 2.1.6 යෝග්‍ය තාක්ෂණය

රටක පවත්නා සමාජ, ආර්ථික, සංස්කෘතික, පාරිසරික රටාවලට ගැළපෙන පරිදි තාක්ෂණය යොදා ගැනීම **යෝග්‍ය තාක්ෂණය** ලෙස සරලව හැඳින්විය හැකි ය. නිදසුන් ලෙස ශ්‍රම සම්පත බහුල රටක් එම ශ්‍රම සම්පතින් උපරිම ප්‍රයෝජන ලබා ගත හැකි පරිදි යන්ත්‍ර සූත්‍ර භාවිතයට යොමුවීම දැක්විය හැකි ය. සාම්ප්‍රදායික කර්මාන්ත සුරකිමින් කාර්මීකරණය වෙත යොමු වීම, රටට ඔරොත්තු දෙන අයුරින් කර්මාන්ත අංශය පුළුල් කිරීම පිළිබඳව තාක්ෂණය භාවිතයේ දී අවධානය යොමු කිරීම ද මෙහි දී වැදගත් වේ.

### 2.1.7 තිරසර සංවර්ධනය ඇති කර ගැනීමට යෝග්‍ය තාක්ෂණය යොදා ගැනීමෙන් අත්වන ප්‍රතිලාභ

තිරසර සංවර්ධනය යනු කල් පවතින හෙවත් දරාගත හැකි (ධරණීය) සංවර්ධනයයි. අනාගත පරපුරේ අවශ්‍යතා සඳහා අවශ්‍ය වන සම්පත් නැති නොකර, වර්තමාන කටයුතු සඳහා සම්පත් යොදාගෙන පරිසරයට හානියක් නොකරමින් සිදු කරන සංවර්ධනය **තිරසර සංවර්ධනයයි.**

එහි දී රටේ පවතින සම්පත්වලින් උපරිම ප්‍රයෝජන ලබා ගනිමින් නාස්තිය අවම කරමින් සංවර්ධන ක්‍රියාවලිය සිදු කළ යුතු වේ.

ඒ සඳහා යෝග්‍ය තාක්ෂණය යොදා ගැනීමෙන් අත් වන ප්‍රතිලාභ කිහිපයක් පහත දැක්වේ.

- සම්පත් අපතේ යාම වැළැක්වීම
- ශ්‍රම සම්පතින් උපරිම ප්‍රයෝජන ලබා ගත හැකි වීම
- පරිසර හානිය අවම වීම
- පාරිසරික තුල්‍යතාව රැක ගත හැකි වීම
- රටේ ආර්ථිකයට දරාගත හැකි වීම

## ක්‍රියාකාරකම 2.1



ඔබ නිවසේ භාවිත කෙරෙන විවිධ තාක්ෂණික උපකරණ හඳුනා ගෙන ඒ ඇසුරින් පහත වගුව සම්පූර්ණ කරන්න.

| තාක්ෂණික උපකරණය | ලබාගත හැකි ප්‍රයෝජන |
|---|---|
| A | 1 .................................................................<br>2 ................................................................. |
| B | 1 .................................................................<br>2 ................................................................. |

2. Facebook, Instergram, Linked in යනු දැනට ප්‍රචලිත සමාජ ජාලා වෙබ් අඩවිවලින් සමහරකි. මේවා මගින් පුද්ගලාන්තර සම්බන්ධතා වඩාත් පුළුල් වේ. අධ්‍යාපන වැඩසටහන්, රුක් රෝපණය, වකුගඩු රෝගීන්ට උපකාර කිරීම, නිවාස සාදා දීම වැනි සමාජ සත්කාරක සේවා ද මෙමගින් ප්‍රවර්ධනය කෙරේ. එහෙත් මෙම සමාජ ජාලා වෙබ් අඩවි දරුණු අහිතකර ප්‍රතිඵල ඇති කළ අවස්ථා ද ඇත. එවැනි අවස්ථා 02ක් සඳහන් කර ඒවා මගහරවා ගැනීමට ගත හැකි පියවර 02ක් ලියන්න.
3. තාක්ෂණික වෙනස්වීම් සමග සමාජය තුළ ඇති වී තිබෙන අයහපත් බලපෑම් සඳහන් කරන්න.
4. එම අයහපත් බලපෑම් අවම කිරීම සඳහා ගත හැකි ක්‍රියාමාර්ග යෝජනා කරන්න.
5. එදිනෙදා කටයුතු ඉටු කර ගැනීමේ දී ප්‍රයෝජනවත් වන "නව නිපැයුම්වල වැදගත්කම" කෙටියෙන් පහදන්න.

## 2.2 ආර්ථිකයේ සිදු වන වෙනස්වීම්වලට අනුගත වීම

### 2.2.1 තාක්‍ෂණය සමග ආර්ථිකයේ සිදු වන වෙනස්කම්

මිනිසාගේ අසීමිත වූත් සංකීර්ණ වූත් අවශ්‍යතා ඉටු කර ගැනීමට පරිසරයේ ඇති සම්පත් බහුලව යොදා ගනු ලබයි. එම සම්පත් පරිසරය තුළ පවතින්නේ ඉතා සීමිතව ය. මෙම සීමිත වූ සම්පත් යොදා ගනිමින් තම අවශ්‍යතා ඉටු කර ගැනීම සඳහා භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කිරීමට අතීතයේ සිට ම මිනිසා පෙළඹී තිබේ. ඒ අනුව ඕනෑ ම රටක ආර්ථිකයක සිදු වන ප්‍රධාන ක්‍රියාවලි තුනක් හඳුනාගත හැකි ය.

- නිෂ්පාදනය
- බෙදාහැරීම
- පරිභෝජනය යනු එම ක්‍රියාවලි තුනයි.

ආර්ථිකයක පවත්නා සම්පත් මිනිස් වුවමනා ඉටු කරගත හැකි ආකාරයට වෙනස් කිරීම **නිෂ්පාදනය** නම් වේ. මිනිස් ශ්‍රමය හා ශිල්ප ක්‍රම යොදා ගනිමින්, පවත්නා සම්පත් මිනිස් අවශ්‍යතාවලට සරිලන පරිදි භාණ්ඩ බවට පත් කිරීම නිෂ්පාදනය තුළින් සිදු වේ. එහි දී සිදු වන ප්‍රධාන ක්‍රියාවලිය අමුද්‍රව්‍ය නිමිද්‍රව්‍ය බවට පත් කිරීමයි.

නිෂ්පාදනය කරනු ලබන භාණ්ඩ හා සේවා පාරිභෝගිකයා දක්වා ලබා දීමේ ක්‍රියාවලිය **බෙදාහැරීම** නම් වේ. ඒ සඳහා ප්‍රවාහනය අත්‍යවශ්‍ය සාධකයකි. ආර්ථිකයක නිෂ්පාදනය කරන භාණ්ඩ හා සේවා යොදා ගෙන මිනිස් අවශ්‍යතා හා වුවමනා ඉටු කරගැනීම **පරිභෝජනය** නම් වේ. ඉහත සඳහන් ක්‍රියාවලි තුන ම ආර්ථිකයක පැවැත්ම සඳහා අත්‍යවශ්‍ය වේ.

ආර්ථිකයක සිදු වන වෙනස්වීම් ප්‍රධාන අංශ තුනක් යටතේ සලකා බැලිය හැකි ය.




### 2.2.1.1 කෘෂිකාර්මික අංශය තුළ සිදු වන කාලීන වෙනස්වීම්

ශ්‍රී ලංකාව අතීතයේ සිට ම කෘෂිකර්මය තම ජීවනෝපාය බවට පත් කර ගත් රටකි. එහි දී මඩ ගොවිතැන ලෙස වී ගොවිතැනට ප්‍රධාන තැනක් හිමි විය. ගොඩ ගොවිතැන ලෙස හේන් වගාව ද ප්‍රචලිතව පැවතිණ. මීට අමතරව එළවළු, පලතුරු, අල වර්ග, ධාන්‍ය වර්ග හා කුළු බඩු ආදී ද්‍රව්‍යයන්ගෙන් ද කෘෂිකාර්මික අංශය සමන්විත විය.

බටහිර ජාතීන්ගේ ආගමනයත් සමග වැවිලි කෘෂිකර්මය මෙරට ප්‍රචලිත වීම ඇරඹුණි. එහි දී වාණිජ භෝග වගා ලෙස තේ, රබර් හා පොල්වලට සුවිශේෂී තැනක් හිමි විය. එහෙත් මේවා පැවතුණේ ප්‍රාථමික නිෂ්පාදන ලෙසිනි. තාක්ෂණයේ ඇති වූ ශීඝ්‍ර දියුණුවත් සමග මෙරට කෘෂිකාර්මික අංශය තුළ ද කැපී පෙනෙන දියුණුවක් දක්නට ලැබිණි. වර්තමානය වන විට කෘෂිකාර්මික අංශය තුළ මේ ඇසුරින් බිහි වූ නවීනතම වෙනස්කම් රැසක් දක්නට ලැබේ.

උදාහරණ:

- බිම් සැකසීම, පැළ සිටුවීම, අස්වනු නෙළීම වැනි විවිධ කටයුතු සඳහා යන්ත්‍ර සූත්‍ර භාවිතය
- රසායනික පොහොර හා පළිබෝධනාශක භාවිතය
- කෙටි කාලීන අස්වනු ලබා ගැනීමේ බීජ, අභිජනනය කරන ලද නව බීජ හා පටක රෝපණ පැළ වර්ග හඳුන්වා දීම
- ජාන තාක්ෂණය යොදා ගැනීම
- නව ජල සම්පාදන ක්‍රම යොදා ගැනීම
- නව වගා ක්‍රම හා හරිතාගාර වගා ක්‍රම භාවිතය
- නිෂ්පාදන විවිධාංගීකරණය

### කෘෂි කර්මාන්තයේ දී නවීන තාක්ෂණය භාවිතය


බිම් සැකසීම


පැළ සිටුවීම


අස්වනු නෙළීම

රසායනික පොහොර හා පළිබෝධනාශක භාවිතය


රසායනික පොහොර යෙදීම


පළිබෝධනාශක යෙදීම

### කෘෂිකාර්මික කටයුතුවල දී නව ජල සම්පාදන ක්‍රම භාවිත වන අවස්ථා




විසිරි ජල සම්පාදනය

නව වගා ක්‍රම


හරිතාගාර වගාවක්


හයිඩ්‍රොපොනික්ස්

නිෂ්පාදන විවිධාංගීකරණය යටතේ තේ නිෂ්පාදනය විවිධාංගීකරණය වී ඇති ආකාරයට නිදසුන් :




2.2.1.2 කාර්මික අංශයේ සිදු වන වෙනස්කම්

නව තාක්‍ෂණික සොයා ගැනීම්වල ප්‍රතිඵල බහුලව යොදාගෙන ඇත්තේ කාර්මික ක්ෂේත්‍රයේ දියුණුවට ය. මේ නිසා දැඩි ආයාසයක් යොදා සිදු කළ නිෂ්පාදන, වැඩි දියුණු කළ යන්ත්‍ර භාවිතයෙන්, අඩු කාලයක් තුළ, උසස් තත්ත්වයෙන් සකස් කර ගැනීමට මිනිසාට හැකියාව ලැබී තිබේ. එහි ප්‍රතිඵල ලෙස,

- ශ්‍රම විභජනය හා විශේෂීකරණය ඇති වීම
- එකලස් කිරීමේ කර්මාන්ත බිහි වීම
- අධිතාක්‍ෂණික කර්මාන්ත බිහි වීම
- නිෂ්පාදන ක්‍රියාවලියට රොබෝ තාක්‍ෂණය යොද ගැනීම
- විද්‍යුත් තාක්ෂණය හා නැනෝ තාක්ෂණය භාවිත කිරීම
- විවිධ ගවේෂණ හා පර්යේෂණ සඳහා අවශ්‍ය යන්ත්‍ර හා උපාංග නිපදවීම (චන්ද්‍රිකා හා අභ්‍යවකාශ යානා)

වැනි ක්ෂේත්‍රවල විශාල පරිවර්තනයක් වර්තමානයේ ඇති වී තිබේ.



වාහන එකලස් කිරීමේ කර්මාන්තයක අංශ කිහිපයක්



නිවෙස්වල ජනේල ලෙස භාවිත කළ හැකි පාරදෘශ්‍ය සූර්ය පැනල



කර්මාන්ත සඳහා භාවිත කරන නැනෝ පරිමාණයේ රොබෝ යන්ත්‍ර (විශාලනය කරන ලද රූපයකි)

### 2.2.1.3. සේවා අංශයේ සිදු වන වෙනස්කම්

ආර්ථිකයක සේවා අංශයට වර්තමානයේ සුවිශේෂී තැනක් හිමිව තිබේ. භාණ්ඩ හා සේවා නිෂ්පාදනයේ සිට පරිභෝජනය දක්වා විවිධ මට්ටම්වල දී සේවා සැපයීමට සිදු වේ. මෙහි දී අධ්‍යාපන, සෞඛ්‍ය, බැංකු, රක්ෂණ, ප්‍රවාහන සහ වෙළෙඳ වැනි විවිධ ක්ෂේත්‍ර ඔස්සේ සේවා සපයනු ලැබේ. එම සේවා සැපයීමේ දී තාක්ෂණය යොදාගැනීම හා එහි වෙනස්වීම් ද විශාල වශයෙන් සිදු වී තිබේ.

## අධ්‍යාපනය

**අධ්‍යාපන ක්ෂේත්‍රයේ දියුණුවට තාක්ෂණය බලපා ඇති ආකාරය**

මිනෝලි : ඉස්සර කාලෙ ගමේ ළමයි අධ්‍යාපනය ලැබුවෙ ගමේ සිටි උගත් වැඩිහිටි අයගේ ගෙදරින්. එය හැඳින්වුණේ ''**ගුරු ගෙදර**'' කියලයි. පසුව පන්සල හා පිරිවෙන ආශ්‍රිතව අධ්‍යාපනය ලබා දුන්නා. ඒ කාලෙ ''**වැලිපිල්ලෙ**'' ලිවීම බහුල ව භාවිත කළා. පස්සෙ තමයි ගල් ලෑල්ලට මාරු වුණේ.



වැලිපිල්ල

පවිත්‍රා : අපේ රටේ විධිමත් පාසල් ආරම්භ වුණේ යුරෝපීයයන්ගේ යුගයේ දි. ඒ කාලෙ පාසලේ ප්‍රධාන උපකරණය වුණේ කළු ලෑල්ල හා හුනු කෑල්ලයි.



ගල් ලෑල්ල

පබසර : බලන්න දැන් අපේ පාසල දිහා. ඉගෙන ගැනීම සඳහා කොයි තරම් පහසුකම් තියනවද. ගුවන් විදුලිය, රූපවාහිනිය, උඩිස් ප්‍රක්ෂේපණ, බහු මාධ්‍ය ප්‍රක්ෂේපණ, පරිගණක වැනි නවීන උපාංග අධ්‍යාපන කටයුතුවල දී අපට ලොකු ශක්තියක් වී තිබෙනව නේද?

අස්ෆාක් : වර්තමානයේ තාක්ෂණය භාවිත කිරීම අධ්‍යාපනයේ ප්‍රධාන අංගයක් බවට පත් වෙලා. අන්තර්ජාලය භාවිත කරමින් ලොව වෙනත් රටවල පවතින පාඨමාලා හැදෑරීමට පවා අපට හැකියාව ලැබී තිබෙනව.



උඩිස් ප්‍රක්ෂේපණ යන්ත්‍රය (OHP)

කලිඳු : නවතම හඳුන්වා දීම තමයි ''ඊ - ලර්නින් ''
(e – Learning)

සුපුනි : ඒ විතරක් නෙමෙයි. විවිධ ක්ෂේත්‍ර ඔස්සේ අධ්‍යාපන ගවේෂණවලට මෙන් ම පර්යේෂණවලටත් අද හුඟක් පහසුකම් ලැබිල තියනවා. තාක්ෂණයේ ඇති වී තිබෙන ශීඝ්‍ර දියුණුව මීට ප්‍රධාන හේතුව කියලයි මට හැඟෙන්නෙ.



බහුමාධ්‍ය ප්‍රක්ෂේපණ යන්ත්‍රය

### සෞඛ්‍යය

නව තාක්‍ෂණයත් සමඟ සෞඛ්‍ය සේවාව ද පුළුල් වී තිබේ. රෝග නිශ්චය කර ගැනීම, ප්‍රතිකාර කිරීම, ඖෂධ වර්ග නිෂ්පාදනය වැනි ක්ෂේත්‍ර ශීඝ්‍ර ලෙස දියුණු වී ඇත. නවීන උපකරණ භාවිතයෙන් ඉතා සංකීර්ණ ශල්‍යකර්ම පවා වඩා පහසුවෙන් සිදු කිරීමට හැකි වෛද්‍ය උපකරණ නිර්මාණය වී තිබේ. රෝගීන් පරීක්‍ෂාවට අවශ්‍ය එක්ස් කිරණ යන්ත්‍ර, 'සී. ටී. ස්කෑනර්' යන්ත්‍ර ආදිය බහුල වීම නිසා සෞඛ්‍ය ක්ෂේත්‍රයේ සේවා සැපයීම ඉහළ මට්ටමකට පත් වී තිබේ.



ස්කෑන් යන්ත්‍ර

### බැංකු කටයුතු




මිනිසාට එදිනෙදා කටයුතුවල දී ගනුදෙනු කිරීම වඩාත් පහසු කර ගැනීමට බැංකු සේවා ක්‍රියාත්මක වේ. මෙමගින් තම මුදල් සුරක්ෂිතව තැන්පත් කිරීමටත් අවශ්‍ය අවස්ථාවල දී නැවත ලබා ගැනීමටත් හැකියාව සැලසී තිබේ. වර්තමානයේ මුදල් එහා මෙහා ගෙන යාමකින් තොරව කාඩ්පත් මගින් ගනුදෙනු කිරීමේ හැකියාව උදා වී ඇත. ස්වයංක්‍රීය ටෙලර් යන්ත්‍රය හඳුන්වා දීමෙන් මුදල්වලට අමතර ආරක්ෂාවක් ද සැලසේ. ඉ - බැන්කින් ක්‍රමය මගින් දේශීයව හා ජාත්‍යන්තරව ද පහසුවෙන් සේවා ඉටු කර ගැනීමට හැකියාව ලැබී ඇත. එමෙන් ම මුදල් ගණනය කිරීම, ව්‍යාජ මුදල් නෝට්ටු, ව්‍යාජ චෙක්පත් හා ව්‍යාජ අත්සන් හඳුනාගැනීම ආදිය සඳහා නවීන තාක්ෂණික උපකරණ භාවිතය දක්නට ලැබේ.

## ප්‍රවාහනය

තාක්ෂණය සමග ප්‍රවාහන ක්ෂේත්‍රයේ ඇති වූ දියුණුව


ගැල් මගින් ප්‍රවාහනය

නිකිල් : මුල් කාලයේ මිනිසුන් ගමන් ගියේ පයින්. පස්සෙ ඒ සඳහා සතුන් යොදා ගත්තා. රෝදය සොයා ගැනීමත් සමග විවිධ වර්ගයේ වාහන භාවිතයට මිනිසා පෙළඹුණා. අද එය නවීන තාක්ෂණික වාහන දක්වා සංවර්ධනය වී තිබෙනව.


නවීන මෝටර් රථයක්

නිමාෂා : ප්‍රවාහනය මාධ්‍ය කීපයකින් ම සිදු වෙනව. ගොඩබිමින්, ජල මාර්ගවලින් සහ ගුවනින් තමයි සිද්ධ වෙන්නෙ. ඉතා සුඛෝපභෝගී මගී ප්‍රවාහන නෞකා වගේ ම ගුවන්යානාත් දක්නට ලැබෙනවා.


මගී නෞකාවක්

හසින්ත : ඒ විතරක් ද? මගීන් විශාල සංඛ්‍යාවක් සහ කිලෝ දහස් ගණනක බඩු පටවා ගත් ගුවන් යානා අහසේ පියාසර කරන්නෙ හරි ම සැහැල්ලුවෙන්. ඒ වගේ ම කන්ටේනර් පෙට්ටි දහස් ගණන් පැටවූ නැව් මුහුදේ ගමන් කරන හැටි දැක්කම පුදුම හිතෙනව.


ගුවන් යානයක්

හර්ෂ : මිනිසුන් ප්‍රවාහනය කිරීමට වගේ ම භාණ්ඩ ප්‍රවාහනයටත් අද විවිධ නවීන ක්‍රම භාවිත වෙනවා.

අශේන් : මගී ප්‍රවාහනයේ දී බස්රථවලිනුත් ලොකු සේවාවක් ඉටු වෙනවා නේද? ඒ වගේ ම දිගු සේවා ගුවන්යානා, රියදුරු රහිත වාහන, පරිසර හිතකාමී වාහන ආදියත් දැන් ප්‍රචලිතයි.


නවීන බස් රථයක්

දයාල් : ලෝකයේ දුම්රිය ප්‍රවාහනයත් ඉතා ප්‍රචලිතයි. මගී දුම්රිය මගින් වගේ ම භාණ්ඩ ප්‍රවාහන දුම්රිය මගිනුත් විශාල සේවාවක් ඉටු වෙනවා. බලන්නකො තාක්ෂණයේ දියුණුව මිනිසාගේ යහපතට යොදාගෙන තිබෙන ආකාරය හරි ම අපූරුයි නේද?


අධිවේගී දුම්රියක්

නවීන තාක්ෂණය සමග **සන්නිවේදනයේ** ඇති වූ දියුණුව :



ගිනිමැල දැල්වීම

තරිඳු : ඔයා දන්නව ද ඉස්සර කාලෙ මිනිස්සු දුර සිටි කෙනෙකුට පණිවිඩයක් යැවීමට ''**හූ**'' **කියල** කෑ ගැහුව කියලා? එතකොට දුර ඉන්න කෙනා පණිවිඩය තේරුම් ගෙන ඒකට ''**පිළිතුරු හූවකුත්** '' දුන්නා.

අවිශ්කා : ඇයි එච්චර ද? ගිනිමැල දැල්වීම, අණබෙරකරුවන් යැවීම, තල් කොළවල පණිවිඩය ලියා දුන්නෙන් විදීම, පරවියන්ගේ කකුලේ පණිවිඩය ගැට ගසා යැවීම වගේ දේවලුත් අතීතයේ මිනිසුන් සිදු කළා කියලා මං අහලා තියනවා.



පක්ෂීන් යොදා පණිවිඩ යැවීම

පැතුම් : අපෝ අපි අද ඊට වඩා දියුණුයි යාළුවේ. දැන් අපිට ජංගම දූරකථනයෙන් ඔය ඔක්කොම දේවල් කරන්න පුළුවන්.

චිරාන් : ඔච්චර කෑ ගහන එකේ කියන්නකො බලන්න දූරකථනය සොයා ගත්තෙ කවුද කියලා.

පැතුම් : ආ ඒක සුළු දෙයක්. මං අහලා තියන විදියට ඇලෙක්සැන්ඩර් ග්‍රැහැම් බෙල්.





ඇලෙක්සැන්ඩර් ග්‍රැහැම්බෙල්ගේ දූරකථනය

අවිශ්කා : පැතුම් හරි ම දක්ෂයි නේද?

තරිඳු : ඔව් ඒක ඇත්ත. එයා හරියට පොත් කියවනවනෙ. ඒක නෙමෙයි, ඔයාලා දන්නවා ද අද රැහැන් සහිත දූරකථන වගේ ම රැහැන් රහිත දූරකථනත්, විවිධ වූ පහසුකම් සහිත ජංගම දූරකථනත් ඕන තරම් භාවිත කරනවා කියලා?

ලයත්මා : ඇයි ටෙලිමේල්, අධිවේගී තැපැලත් දැන් තියනවනෙ.





දූරකථනය

තෙවිනු : ඒ කියන්නෙ අද සන්නිවේදනය අපට හිතා ගන්න බැරි තරමට දියුණු වෙලා. ලෝකයේ කොහේ හිටියත් අන්තර්ජාලය (Internet) චන්ද්‍රිකා පණිවුඩ හුවමාරු තාක්ෂණය (Satellite), Skype (ස්කයිප්), Viber (වයිබර්), Blogs (බ්ලොග්ස්) නිසා තත්පර ගාණකින් ලෝකෙ ඕනෑ ම තැනක ඉන්න කෙනෙකුට අමතන්න හැකි වෙලා තියනව.



චන්ද්‍රිකා භාවිතය



නවීන ජංගම දූරකථනය



ෆැක්ස් යන්ත්‍රය

### 2.2.2. ආර්ථිකයේ සිදු වන විවිධ වෙනස්වීම් පුද්ගලයා හා සමාජය කෙරෙහි ඇති කරන බලපෑම

ඉහත සඳහන් සියලු ම කරුණු අනුව ආර්ථිකයේ වෙනස්වීම් රැසක් සිදු වී ඇති බව අපි හඳුනා ගතිමු. මෙම වෙනස්වීම් පුද්ගලයා හා සමාජය කෙරෙහි විවිධ බලපෑම් ඇති කරයි. ඒවාට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- පුද්ගලයා අයහපත් පරිභෝජන රටාවකට හුරු වීම
- ආර්ථිකයට ඔරොත්තු නොදෙන ජීවන රටාවකට යොමු වීම
- වැරදි චර්යාවන්ට හුරු වීම
- නාගරීකරණය වීම
- පරිසරය දූෂණය වීම
- යාන්ත්‍රීකරණය වීම
- මානසික ආතති ඇති වීම
- නිශ්චය කරගත නොහැකි ලෙඩරෝග ඇති වීම

මේ නිසා ආර්ථිකයේ වෙනස්වීම් කොපමණ සිදු වුව ද එම කාලීන වෙනස්වීම් උචිත පරිදි භාවිතයට ගැනීමට අප සවිඥානික විය යුතු වේ. එහි දී,

- තම අවශ්‍යතා හඳුනා ගෙන ඊට යෝග්‍ය තාක්‍ෂණය භාවිත කිරීම
- තාක්‍ෂණයට දැඩි ලෙස වහල් නොවීම
- ආර්ථිකයේ සිදු වන වෙනස්වීම්වලට උචිත පරිදි අනුගත වීම යන කරුණු පිළිබඳව සැලකිලිමත් වීම වඩා කාලෝචිත ය.

**2.2 අභ්‍යාසය**



01. නව තාක්ෂණයත් සමඟ උද්ගතව ඇති, ඔබ ජීවත් වන ප්‍රදේශයේ බහුලව දක්නට ලැබෙන පාරිසරික ගැටලු නම් කරන්න.
02. එම ගැටලු අවම කිරීමට ඔබගේ යෝජනා සඳහන් කරන්න.
03. යෝග්‍ය තාක්ෂණය යනු කුමක් දැයි හඳුන්වා එය වර්තමානයට වඩා වැදගත් වන්නේ ඇයි දැයි පැහැදිලි කරන්න.

## 2.3 රැකියා වෙළෙඳපොළ හා බැඳුණු නව ප්‍රවණතා

### 2.3.1 රැකියා වෙළෙඳපොළ හා බැඳුණු නව ප්‍රවණතා හඳුනා ගැනීම

සමාජයේ පවත්නා සියලු ම රැකියා අවස්ථා **වැඩ ලෝකය** ලෙස හැඳින්වේ. වැඩ ලෝකයේ රැකියා අවස්ථා සඳහා පවත්නා වූ ඉල්ලුම හා සැපයුම **රැකියා වෙළෙඳපොළ** ලෙස සරලව අර්ථකථනය කළ හැකි ය. වත්මන් ලෝකයේ රැකියා සඳහා පවත්නා

ඉඩ ප්‍රස්ථා බහුල ය. එහෙත් එම රැකියා අවස්ථාවලට පුහුණු ශ්‍රමිකයන් නොමැතිකම ලෝකයේ බොහෝ රටවල් මුහුණ පාන ප්‍රබල ම ගැටලුව බවට පත්ව තිබේ. මේ නිසා රැකියා වෙළෙඳපොළේ පවත්නා රැකියා අවස්ථා හඳුනා ගැනීම ඉතා වැදගත් වේ. මේ අතර රැකියා වෙළෙඳපොළෙහි පවතින නව ප්‍රවණතා පිළිබඳව නිරන්තරයෙන් දැනුම්වත් විය යුතු ය. එමෙන් ම ඊට සරිලන සුදුසුකම් සපුරා ගැනීම ද අත්‍යවශ්‍ය වේ.

තාක්ෂණයේ දියුණුවත් සමග ම වර්තමාන රැකියා වෙළෙඳපොළෙහි විවිධ ක්ෂේත්‍රවල රැකියා රැසක් ව්‍යාප්තව පවතී. ඒවාට උදාහරණ කිහිපයක් පහත දක්වා ඇත.




මෑත කාලීනව දේශීය හා විදේශීය රැකියා වෙළෙඳපොළ තුළ විවිධ අතිරේක සුදුසුකම් සපුරා තිබීම අත්‍යවශ්‍ය සාධක බවට පත්ව තිබේ.

කාලීන වෙනස්වීම් සමග රැකියා වෙළෙඳපොළෙහි විවිධ රැකියා සඳහා පවතින ඉල්ලුම වෙනස් වී තිබේ. ඊට බලපා ඇති කරුණු කිහිපයකට නිදසුන් පහත දැක්වේ.

- මිනිස් අවශ්‍යතා සංකීර්ණ වීම
- අධ්‍යාපනය ලබන පිරිස ක්‍රමිකව වැඩි වීම
- මිනිස් ශ්‍රමය වෙනුවට විවිධ යන්ත්‍ර සූත්‍ර භාවිතයට පැමිණීම
- ජනගහන වර්ධනය සමග ශ්‍රම බලකායේ වර්ධනය

වත්මන් රැකියා වෙළෙඳපොළ දෙස අවධානය යොමු කිරීමේ දී එය ප්‍රධාන අංශ දෙකකින් සමන්විත වන බව පැහැදිලි වේ. එනම්

- **දේශීය රැකියා වෙළෙඳපොළ**
- **විදේශීය රැකියා වෙළෙඳපොළ**

අද වන විට දේශීය හා විදේශීය යන අංශ දෙක සඳහා ම ඉතා ම තරගකාරී රැකියා වෙළෙඳපොළක් නිර්මාණය වී තිබේ. මේ නිසා පාසල් වියේ සිට ම රැකියා අවස්ථාවලට සරිලන ආකාරයෙන් අධ්‍යාපන හා වෘත්තීය සුදුසුකම් සපුරා ගැනීම වැදගත් වේ.

2.3.2 **නව ප්‍රවණතා ඔස්සේ විවෘත වන රැකියා**

රැකියා වෙළෙඳපොළෙහි නව ප්‍රවණතාවල බලපෑම ඔස්සේ බිහි වී ඇති නව පන්නයේ රැකියා රැසකි. පහත දැක්වෙන්නේ එම රැකියා කිහිපයකට නිදසුන් ය.

- පරිගණක දත්ත සැකසුම් ශිල්පීන්
- මෘදුකාංග ශිල්පීන්
- උද්‍යාන සැකසුම් ශිල්පීන්
- ජාන තාක්ෂණ ශිල්පීන්
- මෝස්තර නිරූපණ ශිල්පීන්
- ග්‍රැෆික් නිර්මාණකරුවන්
- භාෂා පරිවර්තකයන්
- විසිතුරු මල් වවන්නන්
- ගෘහ නිර්මාණ ශිල්පීන්
- සුරතල් මසුන් ඇති කරන්නන්
- මාධ්‍ය ශිල්පීන්
- උත්සව සංවිධානකරුවන්
- දත්ත විශ්ලේෂකයන්
- උපදේශන ශිල්පීන්

මෙවැනි සුවිශේෂී වූ ක්ෂේත්‍රවල රැකියා මෙන් ම තාක්‍ෂණය සමග වැඩ ලෝකයේ රැකියා අවස්ථා තව දුරටත් පුළුල් වීමක් දක්නට ලැබේ. මේ පිළිබඳව දැනුම්වත්ව සිටීම අනාගත රැකියා වෙළෙඳපොළට ප්‍රවිෂ්ට වීමේ දී ඉතා වැදගත් වේ.

රැකියා වෙළෙඳපොළෙහි පවතින නව ප්‍රවණතාවලට සරිලන අයුරින් තම සුදුසුකම් සපුරා ගැනීමේ දී පහත සඳහන් කරුණු කෙරෙහි ද අවධානය යොමු කිරීම වැදගත් වේ.

- නව තාක්ෂණික උපකරණ පිළිබඳ පුහුණුව
- පරිගණක භාවිතය පිළිබඳ දැනුම
- තව දුරටත් පුහුණු වීමට ඇති කැමැත්ත
- අතිරේක කාලයක් සේවය සැපයීමට කැපවීම
- නම්‍යශීලී භාවය
- විවිධ භාෂාමය හැකියා වර්ධනය කර ගැනීම (උදාහරණ : ඉංග්‍රීසි, දෙමළ, චීන, රුසියන්, ස්පාඤ්ඤ, කොරියන්, ජපන්, ප්‍රංශ වැනි)

## ක්‍රියාකාරකම 2.3



1. තාක්ෂණයේ වෙනස් වීමත් සමග කෘෂිකාර්මික, කාර්මික හා සේවා යන අංශවල බිහි වී ඇති නව රැකියා අවස්ථා පුවත්පත් හෝ අන්තර්ජාලය භාවිත කර සොයා නම් කරන්න.
2. දැනට 9 වන ශ්‍රේණියේ ඉගෙනුම ලබන ඔබට ද අනාගතයේ දී රැකියා වෙළෙඳපළට අවතීර්ණ වීමට සිදු වේ. ඒ අනුව ඔබ අනාගතයේ දී නියැලීමට බලාපොරොත්තු වන රැකියාව නම් කර එම රැකියාව තුළින් ඔබටත් රටටත් සිදු වන සේවාව කෙටියෙන් පහදන්න.
3. තාක්‍ෂණයේ නවතම පෙරළිය "**නැනෝ තාක්ෂණය** Nano Technology" හෙවත් "**නිනිති**" තාක්‍ෂණයයි. මේ පිළිබඳ කරුණු රැස් කර පොත් පිංචක් සකස් කරන්න.

## 2.4 තරඟකාරී ලෝකය තුළ යහජීවන ගුණාංග ප්‍රගුණ කරමින් සහජීවනයෙන් කටයුතු කිරීම

### 2.4.1. යහජීවනය

''යහපත්ව ජීවත් වීම යහජීවනයයි.'' නැතහොත් අන් අයට කරදරයක් නොවන අයුරින් නීත්‍යානුකූල මාර්ගවලින් ධනය උපයාගෙන ධාර්මිකව ජීවත් වීම යහජීවනයයි. පහත දැක්වෙන්නේ හෙළයේ මහා ගත් කතුවරයකු වූ මුනිදස කුමාරතුංගයන් විසින් රචිත **"ශික්ෂා මාර්ග"** පළමු වන පොතෙහි අන්තර්ගත **"සිරිමත්"** නැමති කවි පන්තියෙන් උපුටා ගත් කොටසකි. එය පන්තියේ සියලු දෙනා ම එක්ව ගායනා කරන්න.



සිරිමත් මගෙ සකි
යහපත් ළමයෙකි
නුවණත් ඇත්තෙකි
වැඩටත් සමතෙකි

උදය ම පුබුදී
මුහුණට දිය දී
කුල දෙවි නමදී
ගේ දෙර අමදී



පාඩම් කරනට
පත පොත ගෙන සිට
සිත වෙන දෙය කට
නොහරී කිසි විට



වැඩිහිටියන් හට
දන්වා නිසි කොට
කටයුතු කරනට
කැමති ය හැම විට

සොඳ දේ සිතුමත්
සිතු දේ කීමත්
කී දේ කැරුමත්
නොහරී සිරිමත්

**ශික්ෂා මාර්ග පළමුවන පොත**

මෙම පැදි පෙළෙහි සඳහන් "**සිරිමත්**" තුළ පවතින යහජීවන ගුණාංග ගුරුතුමා/ගුරුතුමිය සමග සාකච්ඡා කරන්න. එම ගුණාංග අතුරින් ඔබ තුළ පවතින ගුණාංග මොනවා දැයි මඳක් සිතා බලන්න. පාසල් ශිෂ්‍යයකු වශයෙන් යහජීවන ගුණාංග හා පුරුදු ඔබ තුළ වර්ධනය කර ගැනීමට උත්සාහ කරන්න.

දමිළ සාහිත්‍යයේ අන්තර්ගත පහත කවිවලින් ද කියවෙන්නේ යහජීවන ගුණාංගවල වටිනාකම හා යහජීවන පුරුදු ජීවිතයට එක්කර ගැනීම වැදගත් වන ආකාරයයි.

அழுக்காறு அவாவெகுளி இன்னாச் சொல் நான்கும்
இழுக்கா இயன்ற அறம்.
அதிகாரம் - 4 குறள் - 35



**''ඊර්ෂ්‍යාව, ආශාව, කෝපය, නරක වචන**
**කථා කිරීම ආදියෙන් ඉවත් වීම යහපත් ධර්මයයි.''**

Giving up envy, lust, anger and using filthy words is a good virtue.

ஒழுக்கமும் வாய்மையும் நாணும்இம் மூன்றும்
இழுக்கார் குடிப்பிறந் தார்.
அதிகாரம் - 96 குறள் - 952

**''යහපත් චරිතයකින් යුතු වීම, සත්‍ය කථා කිරීම,**
**බොරුවට, වංචාවට බිය වීම වැදගත් ය.**
**මේ නිසා ලජ්ජා බිය රැකගෙන ජීවත් වීම යහපති.''**



It is virtuous to live with good character. Be afraid of lies and cheating while being truthful.

நிறைநீர நீரவர் கேண்மை பிறைமதிப்
பின்நீர பேதையார் நட்பு.
அதிகாரம் - 79 குறள் - 782

**''අධ්‍යාපනය ලැබූ අයගේ යහගුණ පූර්ණ චන්ද්‍රයා මෙන් වැඩේ.**
**අධ්‍යාපනයෙන් අඩු අයගේ යහගුණ අමාවක මෙන් අඩු වී යයි.''**

Virtues of educated persons grow like the full moon. The opposite happens to those who have got less education.

(වල්ලුවර්තුමාගේ තිරුක්කුරල් ග්‍රන්ථයෙන් උපුටා ගන්නා ලදි.)

යහජීවනයක අවශ්‍යතාව දැක්වෙන පහත ගීතය පිළිබඳව ඔබේ අවධානය යොමු කරන්න.

මගේ සිත තැන්පත් ය තැන්පත් ය තැන්පත් ය
මගේ සිත පිවිතුරු ය සන්සුන් ය තැන්පත් ය
ආදරය කරුණාව දයා උතුරා ගලන
මා සිතෙහි ශිල්ප හා ගුණ දහම් ඇත රැඳී
ගුරු දෙගුරු හිත මිතුරු හා අවට සියලු දෙන
මා හැදෙන සැටි බලා සිටිති ආදරයකින්
මගේ සිත තැන්පත් ය තැන්පත් ය තැන්පත් ය...//
පරිසරය මා රකී රකිමි මම පරිසරය
ලෝකයට බර නොවී වැඩ පිණිස මම හැදෙමි
වාසනාවන්ත වූ අනාගතයක් කරා
පාසලින් මග දකින හොඳ ම දරුවා මමයි.../////



**පද රචනය :- සමරවීර වීරවන්නි**
**ගායනය :- නාලනී රණසිංහ**

**2.4.2 යහජීවනයක අවශ්‍යතාව**

තරගකාරී ලෝකය තුළ මිනිසාට ඉතා සංකීර්ණ වූ ජීවන රටාවකට නැඹුරු වීමට සිදු වී තිබේ. නවීන විද්‍යාව, තාක්ෂණය, සන්නිවේදනය යන ක්ෂේත්‍රවල ඇති වූ දියුණුව මීට සෘජුව ම බලපා ඇත. එමෙන් ම පුද්ගල අභිරුචිවල ඇති වූ විවිධත්වය මෙම සංකීර්ණ බව තිව්‍ර කිරීමට හේතු වී ඇත. මේ නිසා වත්මන් සමාජයේ වෙසෙන වැඩි පිරිසක් "සරු නිසරු දේ" තේරුම් නොගෙන අනුකාරකවාදීව හැසිරීමට උත්සාහ දරති. මෙම තත්ත්වය වර්තමානයේ ප්‍රබල සමාජ ගැටලුවක්ව පවතී. මේ නිසා සමාජ ප්‍රගමනය සඳහා යහජීවනයක අවශ්‍යතාව වැඩි වීම කෙරෙහි බලපාන කරුණු රාශියකි. ඉන් කිහිපයකට නිදසුන් පහත දක්වා තිබේ.




- **සමාජ යහපැවැත්ම සඳහා**

  නීත්‍යානුකූලව සමාජයේ කටයුතු කිරීමට හා යහපත්, නීතිගරුක පුරවැසියකු ලෙස ජීවත් වීමට

- **පුද්ගල අභිරුචිවල විවිධත්වය**

  මිනිස් සිතුම් පැතුම්, ආශා හා ළැදියා විවිධ වීම නිසා ඇති වන අභිරුචි නිවැරදි ක්‍රම මඟින් ඉටු කර ගැනීමට

- **ජීවන රටාව සංකීර්ණ වීම**

  ජීවන රටාව සංකීර්ණ වීමේ දී මිනිසා විවිධ වැරදි ක්‍රම මගින් මුදල් උපයා ගැනීමට පෙළඹේ. එසේ නොකර නිවැරදි ක්‍රම මඟින් ධනය උපයා ගැනීමෙන් සරල ජීවන රටාවකට හුරුවීමට

- **ධාර්මිකව ධනය ඉපැයීම හා පරිහරණය**

  සමාජයේ ජීවත් වීමේ දී තම ඩහදිය මහන්සියෙන් දැත දෙපය වෙහෙසා ස්වෝත්සාහයෙන් යමක් උපයා ගැනීමට පුරවැසියන් යොමු කිරීමට

- **සාධාරණත්වය**

  තම ජීවනෝපාය හා ජීවන ක්‍රමය සමාජයේ පවත්නා පිළිගත් සම්මතයට අනුව පවත්වාගෙන යැමට

- **සාමය**

  සමාජය සාමකාමීව පවත්වාගෙන යැමට

### 2.4.3 යහජීවන ගුණාංග

**මානව සමාජය යහපත්ව පවත්වාගෙන යාම සඳහා ප්‍රගුණ කළ යුතු ගුණාංග යහජීවන ගුණාංග ලෙස හඳුන්වා දිය හැකි ය.** මෙම ගුණාංග යහපත් ජීවිතයක් ගත කිරීමට උදවු වන බැවින් යහජීවන ගුණාංග ලෙස ව්‍යවහාර කෙරේ. එවැනි යහජීවන ගුණාංගවලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

| | |
|---|---|
| ▪ නීතිගරුක බව | ▪ උත්සාහවන්ත බව |
| ▪ හොඳින් සවන් දීම | ▪ සතුටින් සිටීම |
| ▪ පරිත්‍යාගශීලී බව | ▪ කඩිසර බව |
| ▪ කළගුණ සැලකීම | ▪ අවංක බව |
| ▪ ලද දෙයින් සතුටු වීම | ▪ ස්තුති කිරීම |
| ▪ සුහදශීලී බව | ▪ කරුණාව |
| ▪ ධාර්මික බව | ▪ ඉවසීම |
| ▪ සැහැල්ලු දිවි පැවැත්ම | ▪ පරිසරයට ආදරය කිරීම |
| ▪ ධෛර්යවන්ත බව | ▪ හෘදය සාක්ෂියට අනුව කටයුතු කිරීම |
| ▪ සමාජ විරෝධී ක්‍රියාවලින් ඈත් වීම | ▪ මද්‍යසාර, මත්ද්‍රව්‍ය භාවිතයෙන් හා විවිධ විෂමාචාර ක්‍රියාවලින් වැළකීම |

මෙවැනි ගුණාංග ඔබ තුළ කුඩා කල සිට වර්ධනය කර ගැනීමට උත්සාහ කරන්න. එය ඔබගේ වර්තමානය හා අනාගතය සාර්ථක කර ගැනීමටත් සමාජයේ යහ පැවැත්මටත්, රටේ අනාගතය යහපත් කර ගැනීමටත් ඉමහත් පිටිවහලක් වේ.

**දැන උගෙන ගත්කම**
**තමයි කෙනකුගෙ වත්කම**
**ගුණ නුවණ දැක්කම**
**ඔබට සලකති රටේ ඔක්කොම**

යනුවෙන් අතීත පඬිවරුන් පැවසුවේ මේ නිසා ම ය. එබැවින් යහජීවන ගුණාංග වර්ධනය කරගෙන සමාජයේ යහපත් පුරවැසියන් ලෙස රටට ඵලදායී සේවයක් කිරීමට අප වගබලා ගත යුතු ය.

### 2.4.4 යහජීවනයෙන් කටයුතු නොකිරීමෙන් ඇති වන ප්‍රතිවිපාක

කුඩා කාලයේ සිට ම යහජීවන ගුණාංග පුරුදු පුහුණු නොකිරීම නිසා පසු කාලීනව වැඩිහිටි ජීවිතයේ දී ඉතා බරපතළ සිදුවීම්වලට මුහුණ පෑමට සිදු වනු ඇත. යහජීවන ගුණාංග ප්‍රගුණ නොකිරීමෙන් වටිනා මිනිස් ජීවිත, සත්ත්ව ජීවිත, පොදු දේපළ හා ස්වාභාවික පරිසරය ආදී සියල්ල කෙරෙහි ම අහිතකර බලපෑම් එල්ල වේ.

යහජීවන ගුණාංග පුරුදු පුහුණු නොකිරීමෙන් සමාජයේ වෙසෙන ඕනෑ ම කෙනකුට පහත ගීතයේ කියැවෙන ඉරණමට ගොදුරුවීමේ හැකියාව පවතී.



මල්ලියෙ නරක මිතුරන් පිළිගන්ට එපා
නංගියෙ නොහොබිනාකම් හුරු වෙන්ට එපා
බෝගම්බර සිපිරි ගෙදරට එන්ට එපා
සතුරෙකුට වත් මට වන් දුක වෙන්ට එපා

දළඳ මැදුරේ තේවා හඬ රාවි දෙනවා
කළ පව් මතක් වී දෑස ම තෙත් වෙනවා
සියක් වාරයක් මැරි මැරි උපදිනවා
තිබහට වතුර වෙනුවට කඳුළැලි බොනවා

ලැබුවේ අවවාද නොහොබින ආරකය
දුදනන් නිසා විය හෙනහුරු මාරකය
මං පෙර ගියේ වරදින් පිරි පාරකය
ඒ ගිය මගේ අවසානය පෝරකය

**පද රචනය :- මහාචාර්ය සුනිල් ආරියරත්න**
**ගායනය :- විශාරද සුනිල් එදිරිසිංහ**

යහජීවන ගුණාංග පුරුදු පුහුණු නොකිරීමෙන් පහත දැක්වෙන අයහපත් ප්‍රතිවිපාකවලට මුහුණ දීමට මුළු මහත් සමාජයට ම සිදු විය හැකි ය.

- මිනිසාගේ ජීවිත කාලය අවාසනාවන්ත ලෙස ගෙවී යාම
- අන්තර් පුද්ගල සම්බන්ධතා බිඳ වැටීමෙන් පුද්ගලයා හුදෙකලා වීම
- ස්වාභාවික සම්පත් විනාශ වීම
- වියදම් අධික වීම, ඉතිරි කිරීම් අඩුවීම
- නාස්තිය වැඩි වීම
- යහපැවැත්ම බිඳ වැටීම
- සමාජ සුරක්ෂිත බව බිඳ වැටීම
- සමාජ සාමය බිඳ වැටීම
- සමාජ විරෝධී ක්‍රියා වැඩි වීම
- ආතතිය වැඩි වීම
- අපචාර වැඩි වීම
- අල්ලසට හා දූෂණයට යොමු වීම
- බිය සැක සහිතව ජීවත් වීමට සිදු වීම

### 2.4.5 යහජීවනය සමාජයේ යහපැවැත්මට බලපාන ආකාරය

ඉහත සඳහන් ආකාරයට සියල්ලෝ ම යහජීවනයෙන් කටයුතු කිරීම සමාජයේ යහපැවැත්මට අත්‍යවශ්‍ය වේ. ඒ මගින් අපට ලබා ගත හැකි ප්‍රතිලාභ රැසකි. ඒවාට උදාහරණ කිහිපයක් පහත දැක්වේ.

- අන් අයගේ අයිතිවාසිකම් ආරක්ෂා වීම
- තම යුතුකම් නොපිරිහෙලා ඉටු කිරීමට පෙළඹීම
- සමාජය තුළ සාමකාමී වාතාවරණයක් නිර්මාණය වීම
- සමාජ සුරක්ෂිතතාව තහවුරු වීම
- ධර්මිෂ්ඨ නිවහල් සමාජයක් ගොඩනැගීම
- අල්ලස්, දූෂණ, වංචාව, හොරකම ඇතුළු විවිධ විෂමාචාර ක්‍රියා පිටුදැකිය හැකි වීම



යහජීවන ගුණාංග වර්ධනය කර ගනිමින් සමාජයේ යහපැවැත්මට දායක වීමට ඔබ ද කුඩා කල සිට ම පුරුදු පුහුණු වීමට අදිටන් කර ගන්න. ''**රටෙන් අපට නොව අපෙන් යමක් රටට ඉටු විය යුතු ය.**'' යන හැඟීම ඔබ තුළ ඇති කර ගන්න. එවිට මුළු මහත් සමාජය ම, ලෝකය ම ලස්සන කිරීමට ඔබට හැකියාව ලැබෙනු ඇත.

### 2.4.6 සහජීවනය

මිනිසා උපත ලබන්නේ සමාජයේ කුඩා ම ඒකකය වන පවුල තුළිනි. අපි සැවොම එහි සාමාජිකයෝ වෙමු. පවුලේ සාමාජිකයකු වශයෙන් කටයුතු කිරීමේ දී අනෙක් පුද්ගලයන්ගේ ආදරය හා රැකවරණය අත්‍යවශ්‍ය වේ.



**''සහජීවනය ආරම්භ වන්නේ පවුල තුළිනි.''**

සමාජයේ ජීවත් වන කිසි දු පුද්ගලයකුට තනිව ම තම ජීවිතය ගත කළ නොහැකි ය. විවිධ පුද්ගලයන්ගේ උදවු ලබා ගැනීමටත්, එකිනෙකාට උදවු කිරීමටත් මිනිසාට සිදු වේ. මිනිසාගේ ආරම්භයේ සිට ම ඔහු සාමූහිකව ජීවත් වීමට හුරු වී තිබේ. මේ අනුව **එකට ජීවත් වෙමින් එකිනෙකාට උදවු කර ගනිමින් සහයෝගයෙන් කටයුතු කිරීම සහජීවනය ලෙස සරලව හඳුන්වා දිය හැකි ය.** මේ පිළිබඳව ඉදිරිපත් වී ඇති විද්වත් අදහසක් පහත දැක්වේ.

| | |
|---|---|
| "Coexistence is a state in which two or more groups are living together while respecting their differences and resolving their conflicts nonviolently"<br><br>**By - Angela Nyawira** | කණ්ඩායම් දෙකක් හෝ ඊට වැඩි ප්‍රමාණයක් හෝ එකට ජීවත් වීමේ දී එකිනෙකාගේ වෙනස්කම්වලට ගරු කරමින්, ප්‍රචණ්ඩත්වයෙන් තොරව ප්‍රශ්න විසඳා ගෙන ජීවත් වීම සහජීවනයයි.<br><br>ඇන්ජලා නියවීරා |

### 2.4.7 සහජීවනයක අවශ්‍යතාව

පහත දැක්වෙන පුවත් ශීර්ෂ පාඨ හොඳින් කියවන්න. මෙම ප්‍රකාශ මගින් කියැවෙන සහජීවනය පිළිබඳව විමසා බලන්න.

ගෙයි වහළ සෙවිලි කිරීමට ගමේ හැමෝම පැමිණ උදවු කළහ !

අගහිඟකම් තියෙන යාළුවන්ට පොත්පත්, කෑම බීම දෙන්න යාළුවො ඉදිරිපත් වෙන්නෙ හරි ම සතුටින්

ශ්‍රී ලංකාව මුහුණදුන් ගංවතුර උවදුරෙන් විපතට පත් ජනතාවට සහන සැලසීමට මිතුරු රටවල් රැසකින් ආධාර !

එක්සත් ජාතීන්ගේ 14 වන වෙසක් දින සැමරුම් උළෙල රටවල් රැසක සහභාගීත්වයෙන් 2017 ශ්‍රී ලංකාවේ දී !

නියං සමයේ දී වන සතුන්ට ආහාර හා ජලය සැපයීමට තරුණ කණ්ඩායම් කිහිපයක් ඉදිරිපත් වෙති!

ආගමික උත්සව සැමරීමට සිංහල, දෙමළ, මුස්ලිම් තරුණ එකමුතුවක්....!

වර්තමාන සමාජයේ සහජීවනයක අවශ්‍යතාවට නිදසුන් කිහිපයක් ඉහත දැක්වේ. ඒ අනුව,

- විවිධත්වයෙන් යුතු සමාජයේ එකමුතුකම රැකගැනීමට
- සමාජ සුරක්ෂිත බව තහවුරු කිරීමට
- තම අවශ්‍යතා ඉටු කරගත නොහැකි අයට උපකාර කිරීමට
- අසමානතාවෙන් යුත් සමාජයේ සමානාත්මතාව වර්ධනය කිරීමට සහජීවනය වැදගත් වේ.

### 2.4.8 සහජීවන ගුණාංග

මිනිසා සහජයෙන් ම සමාජශීලී සත්ත්වයෙකි. කණ්ඩායම් හැඟීම, සාමූහිකත්වය, එක්සත් බව වැනි ගුණාංගවලට මිනිස් සමාජයේ ඉහළ පිළිගැනීමක් ලැබී ඇත්තේ එබැවිනි. එවැනි සහජීවන ගුණාංග කිහිපයක් මතු දැක්වේ. මෙවැනි ගුණාංග ඔබ තුළ ද වර්ධනය කර ගැනීමට උත්සාහ ගන්න.

- සහයෝගයෙන් කටයුතු කිරීම
- බෙදාහදා ගැනීම
- අන්‍යයන්ට ගරු කිරීම
- සුහද බව
- අන්‍යෝන්‍ය විශ්වාසය
- අවංක බව
- සුබවාදී වීම
- යුතුකම් ඉටු කිරීම



සොබා දහම සමග බැඳී ඇති සහජීවනය ගැන කියැවෙන මේ අපූරු ගීතය පන්තියේ සියලු දෙනා ම එක්ව ගායනා කරන්න. රස විඳින්න. එහි අරුත සහජීවනය සමග බැඳී ඇති අයුරු සාකච්ඡා කරන්න.

වතුසුදු අරලිය ගසක පිපෙනවා
පිච්ච රෝස මල් වැලක පිපෙනවා
ඕලු නෙලුම් මල් විලක පිපෙනවා
එකම වට්ටියක පන්සල් යනවා //

ගිරා මලිත්තන් අහසෙ සරනවා
නීල කොබෙයියන් පියාසලනවා //

පොඩි බට්ටිච්චන් උඩ ඉගිලෙනවා
අහසට අයිතිය කියන්න කවුරුත් නෑ

වතුසුදු අරලිය....

පුංචි කුඹියෝ ගුලක් හදනවා
වේයො එකතු වී හුඹස් බඳිනවා //

මහ වැසි වැටිලා මෙරු ඉගිලෙනවා
පොළොවට අයිතිය කියන්න කාටත් බෑ

වතුසුදු අරලිය //

පද රචනය :- සුනීතා පී. වික්‍රමගේ

ගායනය :- ඉන්දීවරී ආරියසිංහ

### 2.4.9 සහජීවන ගුණාංග ජීවිතයට අදළ කරගැනීමේ වැදගත්කම



මිනිසාට තනිව ම ජීවත් විය නොහැකි ය. පවුල, ප්‍රජාව, සමාජය සමඟ කටයුතු කිරීමට පුද්ගලයාට සිදු වේ. මේ නිසා එදිනෙදා කටයුතුවල නිරත වීමේ දී සාමූහිකව කටයුතු කිරීමට සිදු වන අවස්ථා බහුල ය. එහි දී සහජීවන ගුණාංග ඇවැසි වන අවස්ථා බොහෝ ය. මේ නිසා එදිනෙදා ජීවිතයේ දී අන්‍යයන් සමඟ කටයුතු කිරීමේ දී සහජීවන ගුණාංග ජීවිතයට අදාළ කර ගැනීමෙන් ඇතිවන ප්‍රතිලාභවලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- පුද්ගල සංවර්ධනය සිදු වීම
- සාමය ස්ථාපිත වීම
- අන්‍යෝන්‍ය සුහදතාව ගොඩනැගීම
- සමාජ සංවර්ධනය වේගවත් වීම
- සමාජ සුරක්ෂිතතාව තහවුරු වීම
- ගැටුම් අවම වීම



### 2.4.10 සහජීවනය සහ යහජීවනය පුද්ගල හා සමාජ සංවර්ධනයට වැදගත් වන ආකාරය

යහජීවනය සහ සහජීවනය යනු එකට බැඳුණු සංකල්ප දෙකකි. අපට උරුමයෙන් ලැබුණු හා අප විසින් පුරුදු පුහුණු කරගනු ලැබූ යහ ගුණාංග රැසක් අපට ඇත. පුද්ගල හා සමාජ සංවර්ධනයට අතිශයින් ම ඉවහල් වන මේ යහ ගුණාංග විවිධ පුද්ගලයන් තුළ අඩු වැඩි වශයෙන් දක්නට ලැබේ. එම ගුණාංග අනුව සමාජයෙහි ජීවත් වන පුද්ගල කණ්ඩායම් කිහිපයක් හඳුනා ගත හැකි ය. මෙම වර්ගීකරණය පුද්ගලයන්ගේ චර්යාවෙහි කැපී පෙනෙන ලක්ෂණ අනුව සිදු කළ දළ වර්ගීකරණයක් බව සැලකිල්ලට ගත යුතු ය.

**1. සහජීවන ගුණාංග අඩු නමුත් යහජීවන ගුණාංග වැඩි පුද්ගලයෝ**

මොවුහු බොහෝ විට ධාර්මික ක්‍රමවලින් ධනය උපයා ගනිති; අනුන්ට කරදරයක් නැතිව ජීවත් වෙති. එහෙත් ඔවුන් අසල් වැසියන්ගේ හා හිත මිතුරන්ගේ දුක සැප බෙදා ගැනීමට හවුල් වන්නේ අඩුවෙනි. සමහර විට මංගල්‍ය හෝ අවමංගල්‍ය අවස්ථාවලට පවා ඔවුන්ගේ සහභාගීත්වය අවම බව දැකිය හැකි ය. මොවුන්ගෙන් කිසිවකුට කරදරයක් සිදු නොවන නමුත් සමාජ සංවර්ධනයට ඔවුන්ගෙන් සිදුවන දයකත්වය අල්ප ය.

**2. සහජීවන ගුණාංග වැඩි නමුත් යහජීවන ගුණාංග අවම පුද්ගලයෝ**

මොවුහු ධාර්මික ක්‍රමවලින් මෙන් ම අධාර්මික ක්‍රමවලින් ද ධනය උපයා ගනිති; නීත්‍යානුකූල ව මෙන් ම නීත්‍යානුකූල නොවන ආකාරයට ද ධනෝපායනයෙහි යෙදෙති. එහෙත් ඔවුහු තම අසල්වැසියන්ට හා ඥාති හිත මිතුරන්ට නිර්ලෝභී ව සලකති; ඔවුන්ගේ දුක - සැප

බෙද - හද ගනිති. මෙවැනි අය ද සමාජයට කරදරයකි. මොවුන්ගේ ධනෝපායන මාර්ග සමාජය අනුමත නොකරයි.

### 3. සහජීවන ගුණාංග මෙන් ම යහජීවන ගුණාංග ද අවම පුද්ගලයෝ

මෙබඳු පුද්ගලයන් ද ඉඳහිට හෝ අප අතර සිටිනු දැකිය හැකි ය. ඔවුහු අධාර්මික ක්‍රමවලින් පවා ධනය උපයා ගැනීමට කටයුතු කරන අතර ම සමාජ යහපතට ද කටයුතු නොකරති. එසේ ම ඔවුහු සමාජයේ සෙසු අය සමග සුහදශීලීව කටයුතු කිරීමට ද නොපෙළඹෙති. ඔවුන් සමග ප්‍රවේශමෙන් කටයුතු කිරීමට ඔබ වග බලා ගත යුතු ය. ඔවුන් යහපත් පුරවැසියන් බවට පත් කිරීමට ඔබට කළ හැකි යමක් වෙතොත් එය කිරීමත්, ඔබ එවැන්නකු නොවීමට අධිෂ්ඨාන කර ගැනීමත් ඔබේ වගකීම හා යුතුකම බව සිහි තබා ගත යුතු ය.

### 4. සහජීවන ගුණාංග හා යහජීවන ගුණාංග ද උපරිම පුද්ගලයෝ

මෙවැනි අය ධාර්මිකව ධනෝපායනයෙහි යෙදෙති; සාධාරණව වියදම් කරති; සුදුසු පරිදි තම ඥාතීන්ගේ හා අසල්වැසියන්ගේ දුක - සැප බෙදා - හද ගනිති. මෙබඳු පුද්ගලයන් තමන්ට මෙන් ම තමා ජීවත් වන සමාජයටත් වැඩදායක අය වෙති. ඔබ ද එවැන්නකු වීමට තරයේ සිතට ගන්න. එවිට පුද්ගලයකු වශයෙන් ඔබ ද ඔබේ ඥාති හිත මිත්‍රාදීන්ට මෙන් ම සමස්ත සමාජයට ම වැඩදායක පුද්ගලයකු බවට පත් වනු ඇත.

කෙසේ වුව ද සමාජයේ ජීවත් වන පුද්ගලයන් "ඉතා හොඳ" හෝ "ඉතා නරක" ලෙස වර්ගීකරණය කිරීම නුසුදුසු බව අවධාරණය කළ යුතු ය. ඉතා ම නරක පුද්ගලයකු ලෙස හැඳින්වෙන කෙනෙකු තුළ වුව ද ඉතා කුඩා හොඳ ලක්ෂණයක් හෝ තිබිය හැකි ය. පුද්ගලයන්ගේ චරිත ලක්ෂණ ඉතා සංකීර්ණ බව අවබෝධ කර ගෙන යහපත් ගුණාංග තමා තුළ වර්ධනය කර ගැනීමට උත්සුක විය යුතු ය. එය පුද්ගලයාගේ මෙන් ම සමාජයේ ද අභිවෘද්ධියට හේතු වන බව වටහා ගෙන කටයුතු කළ යුතු ය.

## ක්‍රියාකාරකම 2.4



1. ඔබ තුළ හා ඔබ ඇසුරු කරන යහළුවන් හෝ වැඩිහිටියන් හෝ තුළ පවත්නා ඔබ හඳුනා ගත් යහගුණ ලැයිස්තුවක් පිළියෙල කරන්න.
2. යහජීවන ගුණාංග ඉස්මතුවන ආකාරයේ විනාඩි දෙකක පමණ භූමිකා රංගනයක් ඉදිරිපත් කරන්න.
3. යහජීවන ගුණාංග අනුගමනය නොකිරීමෙන්,

| පුද්ගලයාට ඇති වන බලපෑම් | සමාජයට ඇති වන බලපෑම් |
|---|---|
| 1 ............................................................ | 1 ............................................................ |
| 2 ............................................................ | 2 ............................................................ |

සඳහන් කරමින් වගුව සම්පූර්ණ කරන්න.

4. යහජීවන ගුණාංග සමාජය තුළ ව්‍යාප්ත කිරීමට අනුගමනය කළ හැකි ක්‍රියාමාර්ග යෝජනා කරන්න.
5. සමාජ සංවර්ධනය උදෙසා ''යහජීවනය'' හා ''සහජීවනය'' වැදගත් වන ආකාරය නිදසුන් ඇසුරෙන් පහදන්න.

## 2.5 සමුපකාර ව්‍යාපාරය (Cooperative Movement)

### 2.5.1 සමුපකාර ව්‍යාපාරය හැඳින්වීම

ශ්‍රී ලාංකික ජනතාව අතීතයේ සිට ම සහජීවනයෙන් කටයුතු කිරීමට පෙළඹී තිබේ. මේ පිළිබඳව ඉහත ''යහජීවනය" හා "සහජීවනය" පිළිබඳ කරුණු ඔබ හොඳින් අධ්‍යයනය කළ බව දනිමු. අත්තම් ක්‍රමය, ශ්‍රමදාන, පිංකම්, ගොයම් සිටුවීම, අස්වනු නෙළීම වැනි කටයුතුවල දී එකිනෙකාට උදවු උපකාර කර ගැනීමට ජනතාව වැඩි කැමැත්තක් දක්වති.

මේ අනුව සාමූහිකව, සහයෝගයෙන්, සමානාත්මතාවෙන් යුතුව පොදු අවශ්‍යතා ඉටු කරගැනීමට හා සමාජ ශුභ සාධනය ඇති කර ගැනීම සඳහා සිය කැමැත්තෙන් ඇති කරගත් සංවිධානය සමුපකාරය ලෙස හැඳින්විය හැකි ය.



සමුපකාර ව්‍යාපාරයේ
පියා රොබට් ඕවන්




සමුපකාර ව්‍යාපාරයේ
නිල ලාංඡනය

සමුපකාර ව්‍යාපාරයේ පියා ලෙස සැලකෙන බ්‍රිතාන්‍ය ජාතික රොබට් ඕවන් මහතා විසින් ඉදිරිපත් කර ඇති පහත නිර්වචනය හොඳින් කියවන්න.

> ආර්ථික දියුණුව සඳහා මිනිසුන් අතර පවතින තරගය වෙනුවට සහයෝගය හා සාරධර්ම ඇතුළත් හොඳ සමාජ පරිසරයක් පදනම් කර ගත් සේවය සමුපකාරය නම් වේ.
>
> **බ්‍රිතාන්‍ය ජාතික රොබට් ඕවන් - 1845**

නූතන සමුපකාර ව්‍යාපාරය පිළිබඳ නිල නිර්වචනය වනුයේ ජාත්‍යන්තර සමුපකාර සංධානය (ICA) විසින් ඉදිරිපත් කරන ලද පහත නිර්වචනයයි.

> "සමුපකාරය යනු ස්වෙච්ඡාවෙන් ඒකාබද්ධ වූ පුද්ගලයන්ගේ ස්වයං පාලිත සංගමයක් ඔස්සේ ඔවුන්ගේ පොදු ආර්ථික, සමාජීය සහ සංස්කෘතික අවශ්‍යතා සහ අභිලාෂ ඉටු කරන සාමූහික අයිතිය හා ප්‍රජාතාන්ත්‍රික පාලනය ඇති ව්‍යවසායකත්වයකි."
>
> (International Co-operative Alliance - ICA - 1995)

සාමූහිකව වැඩ කිරීම හා අන්‍යෝන්‍ය වශයෙන් ඔවුනොවුන්ට උපකාරී වීම සමුපකාර ක්‍රමයේ ප්‍රධාන ලක්ෂණයකි. සමාජය තුළ තරගය වෙනුවට සාමූහිකත්වය වර්ධනය වීම මෙමගින් අපේක්ෂා කෙරෙන විශේෂ ගුණාංගයකි.

### 2.5.2 සමුපකාර ව්‍යාපාරයේ අරමුණු

- සාමාජික අවශ්‍යතා පිරිමසාලීම
- මිනිසාට වඩා හොඳින් ජීවත් වීමට මාර්ගයක් ඇති කිරීම
- ජනතාවගේ ජීවන තත්ත්වය උසස් කිරීමට සහාය වීම
- තනි තනිව ඉටු කරගත නොහැකි අවශ්‍යතා සාමූහික ශක්තියෙන් පහසුවෙන් ඉටු කරගැනීම

සමුපකාරයේ ආදර්ශ පාඨය වනුයේ,

**එකා සැමටත් සැම එකාටත්** යන්නයි.

### 2.5.3 සමුපකාර ව්‍යාපාරයේ වර්තමාන කාර්යභාරය

සමුපකාර ව්‍යාපාරය මුලින් ම ආරම්භ වූයේ ණය දෙන සමිති ලෙසිනි. දුම්බර සමුපකාර ණයදෙන සමිතිය ලංකාවේ පිහිටවූ පළමු සමුපකාර සමිතියයි. එය ක්‍රි. ව. 1906 තෙල්දෙණියේ දී ආරම්භ විය. වර්තමානයේ එය විවිධ මාදිලියේ සමුපකාර සමිති රැසක් දක්වා වර්ධනය වී තිබේ. එලෙස ලංකාවේ ක්‍රියාත්මක වන සමුපකාර සමිති වර්ග කිහිපයක් පහත දැක්වේ.







- විවිධ සේවා සමුපකාර සමිති
- සමුපකාර ණය දෙන සමිති
- කෘෂිකාර්මික නිෂ්පාදන සමුපකාර සමිති.
  උදා : තේ, පොල්, රබර්
- ධීවර සමුපකාර සමිති
- කර්මාන්ත සමුපකාර සමිති
  උදා : පේෂකර්ම, වඩු කාර්මික, කොසු කර්මාන්තය
- ජෛව සම්පත් සමුපකාර සමිති
  උදා : සත්ත්වපාලන/ගොවි
- රෝහල් සමුපකාර සමිති

- ප්‍රවාහන සමුපකාර සමිති
- නිවාස සමුපකාර සමිති
- පාසල් සමුපකාර සමිති

**සමුපකාර සේවාවෙන් ඉටු වන කාර්ය**

- පහසු මිලට පාරිභෝගික ද්‍රව්‍ය අලෙවි කිරීම
- ණය පහසුකම් සැපයීම
- විවිධ ශුභසාධන සේවා පවත්වාගෙන යාම
- සාමාජික ඉතුරුම් පවත්වාගෙන යාම
- දැනුම්වත් කිරීමේ විවිධ වැඩසටහන් කිරීම

  උදා : ස්වයං රැකියා/සුළු ව්‍යාපාර සාමාජිකයන් සඳහා අධ්‍යාපනික දැනුම්වත් කිරීම්

- බැංකු සේවා සැපයීම
- ප්‍රවාහන සේවා සැපයීම
- කෘෂි නිෂ්පාදන මිල දී ගැනීම
- රක්ෂණ සේවා සැපයීම
- රෝහල් පවත්වාගෙන යාම
- අවමංගල්‍ය සේවා සැපයීම
- ඉන්ධන පිරවුම්හල් පවත්වාගෙන යාම

මේ අනුව ජීවිතයේ විවිධ අවශ්‍යතා ඉටු කරගැනීමට අදාළ සේවා රැසක් සැපයීමට කැප වී සිටින සමුපකාර ව්‍යාපාරය අගය කළ යුතු ය.

**2.5.4. විවිධ සේවා සමුපකාර සමිති හා පාසල් සමුපකාර සමිති**

**1. විවිධ සේවා සමුපකාර සමිති**

සමුපකාර දෙපාර්තමේන්තුවෙන් පාලනය වන සමුපකාර සමිති විශාල ප්‍රමාණයක් පවතී. මේවා සියල්ල ඒකරාශි වී පිහිටුවාගෙන ඇති ආයතන **විවිධ සේවා සමුපකාර** සමිති ලෙස හැඳින්වේ. ''**ණය දෙන සමිති වෙනුවට කාර්ය රැසක් ඉටු කරගත හැකි වන පරිදි පිහිටවූ සමුපකාර සමිති** '' මේ නමින් හැඳින්වේ.

මෙහි මූලික පරමාර්ථය සමුපකාර ප්‍රතිපත්ති අනුව සාමාජිකයන්ගේ ආර්ථික, සමාජීය හා සංස්කෘතික දියුණුව ඇති කිරීමයි. සාමාජිකයන් සතු සකසුරුවම, ආත්මාධාරය, අන්‍යෝන්‍යාධාර පිළිබඳ හැඟීම් ජනිත කිරීම ද මෙමගින් අපේක්ෂිත අරමුණකි. මෙම සමිතියක සාමාජිකත්වය ලැබීමට වයස අවුරුදු 18 සම්පූර්ණ විය යුතු ය. තමා ජීවත් වන බල ප්‍රදේශය තුළ පදිංචි සියල්ලන්ට එම ප්‍රදේශයේ සමුපකාර සමිතියේ සාමාජිකත්වය ලබාගත හැකි ය. වර්තමාන ශ්‍රී ලංකාවේ විවිධ සේවා සමුපකාර රැසක් දක්නට ලැබේ. 2013 දෙසැම්බර් වන විට ශ්‍රී ලංකාවේ **සමුපකාර සමිති 14221** පිහිටුවා තිබුණි. ඉන් **308ක් විවිධ සේවා සමුපකාර** සමිති විය. ඒ අතුරින් ක්‍රියාකාරිත්වයේ පවතින විවිධ සේවා සමුපකාර සමිති සංඛ්‍යාව **304**කි.

විවිධ සේවා සමුපකාර සමිති මගින් ඉටු වන සේවා

- ජනතාවට සේවා සැපයීම සඳහා සමුපකාර ප්‍රාදේශික පවත්වාගෙන යාම
- ණය දෙන සමිති පවත්වාගෙන යාම
- අවමංගල්‍ය සේවා සැපයීමට දායක වීම
- ප්‍රවාහන හා ඉන්ධන සේවා සැපයීම
- ආරෝග්‍යශාලා සේවා පවත්වාගෙන යාම
- බැංකු සේවා
- ස්වයං සේවා අලෙවිසල්
- කිරිහල්/ආපන ශාලා
- අධ්‍යාපන සේවා
- රක්ෂණ සේවා
- ළදරු පාසල්
- උකස් කටයුතු

**2. පාසල් සමුපකාර සමිති (School Co-op)**

සමුපකාරය ව්‍යාප්ත කිරීම ඇරඹිය යුත්තේ කුඩා කල පටන් ම ය යන සිතුවිල්ල මත පාසල් සමුපකාර සමිති ගොඩනැගී ඇත. සිසුන් විසින් විදුහල්පති ඇතුළු ගුරු මණ්ඩලයේ දායකත්වය මත මෙම සමුපකාර සමිති කටයුතු කරයි. ක්‍රි. ව. 2013 දෙසැම්බර් මස වන විට ශ්‍රී ලංකාවේ ලියාපදිංචි වී තිබූ පාසල් සමුපකාර සමිති සංඛ්‍යාව 1134 කි. ඉන් ක්‍රියාකාරී තත්ත්වයේ තිබුණු පාසල් සමුපකාර සමිති සංඛ්‍යාව 371 කි.

පරමාර්ථ

- සමුපකාර ප්‍රතිපත්තිවලට අනුකූලව සාමාජිකයන්ගේ ආර්ථික සමාජීය සංස්කෘතික හා ශුභ සාධන අවශ්‍යතා සපුරාලීම
- සමුපකාර ක්‍රමය භාවිතයට යොමු කිරීම
- විද්‍යාලය තුළ සමුපකාර ගති ලක්ෂණ ප්‍රචලිත කිරීම
- නිර්මාණශීලී නායකයන් බිහි කිරීම
- සවිඥානිකව කටයුතු කරන ක්‍රියාශීලී පුරවැසියන් පිරිසක් බිහි කිරීම

මෙම සමුපකාර සමිතිවල කටයුතු සිදු කරනු ලබන්නේ විදුහල්පති ඇතුළු ගුරු මණ්ඩලයේ දායකත්වය මත ක්‍රියා කරනු ලබන සිසුන් විසිනි.

**අපේක්ෂිත අරමුණු**

- සිසුන්ට අවශ්‍ය සියලු ලිපි ද්‍රව්‍ය පහසු මිලට සැපයීම
- කිරි සහ වෙනත් කෑම වර්ග සහන මිලට පිරිසිදුව සැපයීම
- කුඩා කල සිට ළමයින් ඉතුරු කිරීමට හුරු කිරීම
- අධ්‍යාපනික අවශ්‍යතා ඉටු කරලීම
- ඵලදායී වැඩසටහන් ක්‍රියාත්මක කිරීම හා තරග පැවැත්වීම
- සාරධර්ම හා චාරිත්‍ර පවත්වාගෙන යෑම සඳහා දරුවන් හුරු පුරුදු කිරීම

**2.5.5 පාසල් සමුපකාර සමිතියෙන් පාසල් දරුවන්ට ලබාගත හැකි සේවා**

- පාසල් ලිපිද්‍රව්‍ය පහසු මිලට ලබා ගැනීම
- ආහාර ද්‍රව්‍ය පහසු මිලට ලබා ගැනීම
- ක්‍රීඩා උපකරණ පහසු මිලට ලබා ගැනීම
- නායකත්ව පුහුණුව
- සාමූහික ජීවන රටාවකට හුරු වීම
- සෙසු අවශ්‍යතා සපුරා ලීම

දැනට මැලේසියාවේ මෙම පාසල් සමුපකාර සමිති ඉතා ම සාර්ථකව ක්‍රියාත්මක වේ. එමෙන් ම ශ්‍රී ලංකාවේ මහනුවර ධර්මරාජ විද්‍යාලයීය පාසල් සමුපකාර සමිතිය ඉතා සාර්ථකව ක්‍රියාත්මක වේ.

**මූලාශ්‍රය:** "ICA" **සංවිධානයේ වෙබ් අඩවිය** *www.ica.org*

## ක්‍රියාකාරකම 2.5



ඔබ පාසලේ "පාසල් සමුපකාර සමිතියක්" පිහිටුවීමේ වැදගත්කම කෙටියෙන් පහදන්න.

## 2.6 දේශීයත්වය රැක ගනිමින් විශ්ව ගම්මානයේ සාමාජිකයකු ලෙස කටයුතු කිරීමේ වැදගත්කම

### 2.6.1 ලෝකය පිළිබඳ පුළුල් දැක්ම

මිනිසා විශ්ව ගම්මානයේ සාමාජිකයෙකි. විශ්ව ගම්මානයේ සාමාජිකයකු ලෙස කටයුතු කිරීමේ දී ලෝකය පිළිබඳ මනා අවබෝධයක් අප විසින් ඇති කර ගත යුතු වේ. තරගකාරී ලෝකය තුළ කටයුතු කිරීමේ දී ඒ පිළිබඳ පුළුල් දැකීමක් ද තිබිය යුතු ය.

''වත්මන් ලෝකයේ සමාජ, ආර්ථික, දේශපාලන, සංස්කෘතික යන ක්ෂේත්‍රවල විවිධ වෙනස්කම් නිරන්තරයෙන් සිදු වේ. පුරවැසියකු ලෙස ඒ සියලු ම වෙනස්කම් පිළිබඳ ව දැනුමක් හා අවබෝධයක් ලබා ගත යුතු ය. එලෙස අවබෝධයෙන් හා තේරුම් ගෙන ලෝකය සමග කටයුතු කිරීම ලෝකය පිළිබඳ පුළුල් දැක්ම ලෙස හැඳින්වේ.''

ලෝකයේ නිරන්තරයෙන් සිදු වන වෙනස්කම් නිසා පවතින තතු වෙනස් කරමින් නව තොරතුරු හා නිර්මාණ රැසක් ලොවට දායාද වීම සිදු වේ. විශ්ව සාමාජිකයකු ලෙස කටයුතු කිරීමේ දී මෙම වෙනස්කම් පිළිබඳ අවදියෙන් සිටීම වැදගත් ය. තමාට හැකි අයුරින් ඒවාට සහාය දැක්වීම ද කළ යුතු ය. එය තම ජීවිතය මෙන් ම සෙසු ජීවිත ද යහපත් කිරීමට මනා පිටිවහලක් වේ.

### 2.6.2 දේශීයත්වය අර්ථාන්විතව අගය කිරීම

#### දේශීය සංස්කෘතිය

ලෝකයේ සියලු ම රටවල ඒ ඒ රටවලට ආවේණික වූත් සුවිශේෂී වූත් සංස්කෘතියක් පවති. එය එම රටවල දේශීය සංස්කෘතියයි. ශ්‍රී ලංකාව ද අතීතයේ සිට බහු සංස්කෘතික රටකි. ශ්‍රී ලංකාවේ ආදිවාසීන් මෙන් ම සිංහල, දෙමළ, මුස්ලිම්, බර්ගර් වැනි විවිධ ජන කොටස් ජීවත් වෙති. ඔවුහු බෞද්ධ, හින්දු, ඉස්ලාම්, කතෝලික/ක්‍රිස්තියානි වැනි විවිධ ආගම් අදහති. මේ සියලු ම ජන කොටස්වලට ආවේණික වූත් අනන්‍ය වූත් සංස්කෘතියක් පවතී. ඒ තුළ විවිධ සංස්කෘතිකාංග රැසක් දක්නට ලැබේ.

- ශ්‍රී ලංකාවට ආවේණික විවිධ ජන කොටස් අතර ප්‍රචලිත සංස්කෘතිකාංගවලට උදාහරණ කිහිපයක් පහත දැක්වේ. ඒවා හඳුනාගත හැකි දැයි බලන්න.



**දේශීය නිෂ්පාදන**

තම රටේ සම්පත් උපයෝගී කර ගනිමින් රට තුළ භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කිරීම දේශීය නිෂ්පාදනයයි. ශ්‍රී ලංකාවට ආවේණික එවැනි දේශීය නිෂ්පාදන රැසක් පහත දැක්වේ.





**දේශයට ආවේණික දේ**

තම රටට පමණක් ආවේණික වූ දෑ දේශයට ආවේණික දේ ලෙස හැඳින්වේ. ශ්‍රී ලංකාවට පමණක් ආවේණික වූ බොහෝ අංග අප රට තුළ පවතී. දේශීය ඖෂධ, දේශීය ශාක, දේශයට ආවේණික සතුන් මේ අතර වැදගත් වේ.

**දේශීය ඖෂධ**



කොතල හිඹුටු



බඹර වැල්




වෙනිවැල්



පුස් වැල්

### දේශීය ශාක


ඇටඹ


වල් දෙල්


මහරත් මල්


කැකුණ


බදුල්ල

### දේශීය සතුන්


නීල කොබෙයියා


කළු වඳුරා


පතිරණ සාලයා


වලි කුකුළා


අං කටුස්සා

### දේශීය රාමුවෙන් ඔබ්බට ගොස් අන්‍ය සංස්කෘති හඳුනා ගැනීම හා ඒවායෙන් ඉගෙනීම

දේශීය සංස්කෘතිය හා එහි ප්‍රධාන සංස්කෘතිකාංග පිළිබඳව අපි ඉහත දී හැදෑරුවෙමු. අප රටට ආවේණික සංස්කෘතිකාංග මෙන් ම විවිධ රටවලට ආවේණික වූ සංස්කෘතිකාංග රාශියක් ද පවතී. මේවා එම රටවලට ආවේණික අංග වුව ද ඉන් අපට බෙහෝ දෑ උගත හැකි ය. මේ නිසා දේශීය සංස්කෘතියෙන් ඔබ්බට ගොස් විවිධ රටවල සංස්කෘතිකාංග පිළිබඳව දැන ගැනීම ද වැදගත් වේ.

නැගෙනහිර ආසියාතික රටක් වන ජපානයේ සංස්කෘතිකාංග රැසකි. **හිස නමා ආචාර කිරීම, කිමෝනාව ඇඳීම, සුමෝ ක්‍රීඩාව, මළවුන් ඇදහීම** මේ අතර ප්‍රධාන තැනක් ගනී. ජපානය ලෝකයේ දැවැන්ත සංවර්ධනයක් කරා ගමන් කළ රටකි. එහෙත් එරට ඒ කරා ළඟා වූයේ තම සංස්කෘතිය රැකගනිමිනි. **හිස නමා ආචාර කිරීම** වැනි සංස්කෘතිකාංග ලොකු කුඩා කා අතරත් අදටත් ප්‍රචලිතව පවතී.


හිස නමා ආචාර කිරීම


සුමෝ ක්‍රීඩාව


කිමෝනාව

අප්‍රිකානු රටවල සංස්කෘතිය මීට හාත්පසින් ම වෙනස් ය. ඔවුන්ගේ සංස්කෘතිය තුළ පහත සංස්කෘතිකාංග ප්‍රධාන තැනක් ගනී.



අප්‍රිකානු සංස්කෘතිකාංග

ආසියාතික රටක් වන **චීනය** ගත් විට ඔවුහු "මකරා" මුල් කර ගත් සංස්කෘතිකාංග රැසක් අනුගමනය කරති.



චීන සංස්කෘතිකාංග

**දේශීයත්වය අගය කරමින් හා ජාතික අනන්‍යතාව රැකගනිමින් ලෝක සමාජයේ පුරවැසියකු ලෙස කටයුතු කිරීම**

''**ලෝකය පිළිබඳ පුළුල් දැක්ම**'' යන්න අපි ඉහත දී සාකච්ඡා කළෙමු. ඒ අනුව වෙනස් වන ලෝකය සමග බොහෝ දැනුම, නව තාක්ෂණය, විලාසිතා, සංස්කෘතිකාංග ආදිය අප කරා ළඟා වීම සිදු වේ. එහෙත් ඒවා භාවිතයේ දී අප ඥානාන්විත විය යුතු ය. විශ්ව සමාජයෙන් ලබා ගන්නා ආදර්ශ අප රටට ගැළපෙන ආකාරයට යොදා ගැනීමට වගබලා ගත යුතු ය. එසේ නොවුණ හොත් අප නොසිතන ආකාරයේ විවිධ ගැටලුවලට මුහුණ පෑමට අපට සිදු වේ.

''**සිය රට දේ සිරි සැප දේ** '' යනුවෙන් කියමනක් ඔබ අසා ඇත. ආදි අපේ මුතුන් මිත්තෝ ඔවුන්ට අවශ්‍ය සියලු ම දේවල් තමන් විසින් ම සකසා ගත්හ. එහි දී අවට පරිසරයට, සතා සිව්පාවාට, ගස් කොළන්වලට හානියක් නොවීමට ඔවුහු වග බලා ගත්හ. අතීත සංස්කෘතිය රැකගනිමින්, ලෝකයෙන් ලැබුණ දැනුම ද උකහා ගනිමින් අවශ්‍ය දේ ඉදිරි පරම්පරාවට දයාද කළහ. මේ නිසා අප සතු වගකීමක් වනුයේ ඔවුන් රැකගත් දේ ආරක්ෂා කරමින් විශ්ව ගම්මානයෙන් ලැබෙන ආදර්ශ දේශීයත්වයට ගැළපෙන ලෙස යොදා ගැනීමයි. මීට හොඳ ම නිදර්ශනයක් අසල්වැසි ඉන්දියාවෙන් ලබා ගත හැකි ය. අතීතයේ සිට ම ඉන්දියානු වැසියෝ දේශීය නිෂ්පාදන භාවිත කිරීමට නැඹුරුවක් දක්වති. එම ආදර්ශය අතීත ඉන්දියානු පාලකයන්ගෙන් පවා ඔවුන්ට ලැබී තිබේ. **මහත්මා ගාන්ධිතුමා තමන් ඇඟලා ගත් ඇඳුම ඔහු විසින් ම සකසා ගත් එකකි.**



**ගාන්ධිතුමා තම ඇඳුම සකස් කරගනිමින්**

මෙවන් ආදර්ශ තුළින් අප ද පෝෂණය විය යුතු ය. දේශීයත්වයට ගැළපෙන ලෙස විවිධ සංස්කෘතිවලින් ලද ආදර්ශ යොදා ගැනීමට අප වගබලා ගත යුතු ය.

#### 2.6.3 සහජීවනය ගෝලීය වශයෙන් ක්‍රියාත්මක වන ආකාරය හඳුනා ගැනීම

ලෝකයේ ජීවත් වන කිසි ම පුද්ගලයකුට හුදෙකලාව ජීවත් විය නොහැකි ය. එමෙන් ම ජනවර්ගයකට හෝ රටකට ද හුදෙකලාව ජීවත් වීම අපහසු කාර්යයකි. මීට බලපා ඇති හේතු කිහිපයකි.

- සම්පත් විසංතුලනය
- ගෝලීය විවිධත්වය
- තම රටට අවශ්‍ය සියලු ම දෑ තම රට තුළ ම නිපදවාගත නොහැකි වීම
- තාක්ෂණික දියුණුවත් සමග ලෝකයේ තොරතුරු තාක්ෂණය අද වන විට ශීඝ්‍රයෙන් ඉදිරියට ගොස් තිබීම
- සමස්ත ලෝකය විශ්ව ගම්මානයක් බවට පත් වීම



නොරොච්චෝලේ විදුලි බලාගාරය

ඉහත සඳහන් කළ පරිදි විවිධ කරුණු හේතුවෙන් සහජීවනය ගෝලීය වශයෙන් ක්‍රියාත්මක වීම දක්නට ලැබේ. ඒ සඳහා අනුගත වී ක්‍රියා කිරීමට පුද්ගලයකු ලෙසත් රටක් වශයෙනුත් අප සැමට සිදු වී තිබේ. එසේ නොවුණ හොත් ලෝකය හමුවේ රටක් ලෙස අප හුදෙකලා වනු ඇත.




විදේශ ආධාර ලබාදීම

#### 2.6.4 අන්‍යෝන්‍ය රැඳියාව

අප ජීවත් වන ප්‍රදේශය හා අසල්වැසියන් අතරත්, සේවා ස්ථානවලත් අන්‍යෝන්‍ය රැඳියාව දක්නට ලැබේ. **එකිනෙකාට උදවු කරගනිමින් සහයෝගයෙන් කටයුතු කිරීම අන්‍යෝන්‍ය රැඳියාවයි.** රටකට ලෝකයේ අනෙක් රටවල් සමග අන්‍යෝන්‍ය රැඳියාවක් පවත්වා ගැනීම වැදගත් ය. සියලු කටයුතු තනිව ඉටු කරගත නොහැකි නිසාත්, හුදෙකලාව සිටිය නොහැකි නිසාත් සෑම රටකට ම අන්‍යෝන්‍ය රැඳියාවෙන් කටයුතු කිරීම අත්‍යවශ්‍ය වේ. එම නිසා ලෝකයේ රටවල් විවිධ සංවිධාන පිහිටුවා ගෙන තිබේ.

උදාහරණ : එක්සත් ජාතීන්ගේ සංවිධානය, සාර්ක් සංවිධානය, යුරෝපා හවුල, ආසියානු සංවිධානය

එමෙන් ම විවිධ රටවල් සමග එක්ව ඇතිකරගත් සප්තා (sapta) සෆ්ටා (safta) වැනි ජාත්‍යන්තර ගිවිසුම් ද දක්නට ලැබේ. මේ අතර රාජ්‍යතාන්ත්‍රික සම්බන්ධතා මගින් ද ගෝලීය වශයෙන් අන්‍යෝන්‍ය රැඳියාවෙන් යුතුව කටයුතු කරනු දක්නට ලැබේ.

## ක්‍රියාකාරකම 2.6



1. ශ්‍රී ලංකාවට පමණක් ආවේණික සංස්කෘතික ලක්ෂණ, සංස්කෘතික උරුම හා සංස්කෘතික අංග වෙන් වෙන් වශයෙන් නම් කරන්න.
2. ශ්‍රී ලංකාවට ආවේණික ශාක, සතුන් හා ඖෂධ වර්ග නම් කරන්න.
3. ඔබ දන්නා, දැනට වඳ වීමේ තර්ජනයට මුහුණ පා ඇති දේශීය ශාක හා සතුන් නම් කරන්න.
4. විශ්ව ගම්මානය සමඟ කටයුතු කිරීමේ දී දේශීයත්වය රැකගත යුතු ය. මේ පිළිබඳ ඔබගේ අදහස් දක්වන්න.
5. ලෝකයේ ඔබ කැමති රටවල් කිහිපයක් තෝරාගෙන එම රටවල සංස්කෘතිකාංග පිළිබඳ අධ්‍යයනය කරන්න.

### සාරාංශය



- විද්‍යාවේ හා තාක්ෂණයේ දියුණුව සමඟ සමාජය ද විවිධ වෙනස්කම්වලට ලක්වීම සිදු වේ.
- ගවේෂණ හා පර්යේෂණ මඟින් සිදු කරන නව සොයා ගැනීම් සමාජ ප්‍රගමනයට හේතු වී ඇත.
- ජනගහන වර්ධනයත්, මිනිස් අවශ්‍යතා සංකීර්ණ වීමත් සමඟ තාක්ෂණික උපකරණ නිර්මාණය සුලභව සිදු වේ.
- තාක්ෂණික මෙවලම් සමාජයට වැඩදායක ලෙස යොදා ගැනීම කළ යුතු ය.
- නව තාක්ෂණයත් සමඟ රටක ආර්ථිකයේ කෘෂිකාර්මික, කර්මාන්ත හා සේවා යන අංශවල වෙනස්වීම් අඛණ්ඩව සිදු වේ.
- කෘෂිකාර්මික, කර්මාන්ත හා සේවා ඇසුරින් රැකියා වෙළෙඳපළ තුළ නව ප්‍රවණතා රැසක් බිහි වී තිබේ.
- සංකීර්ණ ජීවන රටාව තුළ ලෝකය තරගකාරී ජීවන රටාවකට යොමු වී ඇත. මේ නිසා ම යහගුණාංග මිනිසාගෙන් ඈත් වීම සිදු වේ.
- ''යහජීවනය හා සහජීවනය'' ප්‍රගුණ කිරීමෙන් ජීවිතයේ මුහුණ පෑමට සිදු වන ගැටලු මඟහරවා ගත හැකි ය.
- සහයෝගයෙන් එකිනෙකාට උදවු කිරීම අරමුණු කරගෙන සමුපකාර ව්‍යාපාරය ආරම්භ වී තිබේ.
- වර්තමානයේ  සමුපකාරය යනු සේවා රැසක් සපයන ආයතනයකි.
- ලෝකය පිළිබඳ පුළුල් දැක්මක් ඇති කරගෙන, දේශීයත්වය අගය කරමින්, ජාතික අනන්‍යතාව රැකගනිමින්, විශ්ව සමාජයේ පුරවැසියෙකු ලෙස කටයුතු කිරීම වැදගත් ය.
- ගෝලීය වශයෙන් කටයුතු කිරීමේ දී සහජීවනය හා අන්‍යෝන්‍ය රැඳියාව අවශ්‍ය වේ.

# 03 ප්‍රජාතන්ත්‍රවාදී පාලනය

**හැඳින්වීම**

ප්‍රජාතන්ත්‍රවාදය යනු පාලන ක්‍රමයක් මෙන් ම ජීවන ක්‍රමයක් ද වේ. මහජන කැමැත්ත පදනම් කර ගෙන ගොඩනැඟී ඇති පාලන ක්‍රමයක් ලෙස ප්‍රජාතන්ත්‍රවාදය සරල ව හැඳින්විය හැකි ය. වර්තමාන ලෝකයේ දක්නට ලැබෙන පාලන ක්‍රම අතුරින් ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයට හිමි වන්නේ වැදගත් ස්ථානයකි. මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- ප්‍රජාතන්ත්‍රවාදය
- ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක මූලික අංග ලක්ෂණ
- ප්‍රජාතන්ත්‍රවාදී සමාජයක පුරවැසියකු සතු අයිතිවාසිකම් හා බැඳුණු යුතුකම්
- ජන සමාජයේ එක්සත් බව ඇති කිරීමට දේශපාලන පක්ෂ මඟින් ඉටු කළ යුතු කාර්යභාරය
- ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක මැතිවරණ හා ඡන්ද බලය
- ප්‍රජාතන්ත්‍රවාදී පුරවැසියකු ලෙස අවස්ථෝචිතව ස්ථිරසාර භාවයෙන් කටයුතු කිරීම
- ප්‍රජාතන්ත්‍රවාදී පුරවැසියකු ලෙස ජාතිය ගොඩනැඟීමේ කාර්යය සඳහා දායකත්වය ලබා දිය හැකි ආකාරය

ආදිය පිළිබඳව පුළුල් අවබෝධයක් ලබා ගැනීමට අවස්ථාව හිමි වනු ඇත.

### 3.1.1 ප්‍රජාතන්ත්‍රවාදය හැඳින්වීම

නව පාසල් වාරය ආරම්භයත් සමඟ නාමල්යාය මහා විද්‍යාලයේ 9 ශ්‍රේණිය සඳහා පන්ති නායකයකු තෝරා ගැනීමට පන්තිභාර ගුරුතුමියට අවශ්‍ය විය. ඒ සඳහා සුදුසු ක්‍රියාමාර්ගයක් සිසුන්ගෙන් විමසූ විට ඇති වූ සංවාදයක කොටසක් පහත දැක්වේ.


ජනුද

මම කැමතියි රශ්මික පන්ති නායකයා කරන්න.

මම නම් කැමති නැහැ රශ්මික පන්ති නායකයා කරන්න.


රමේෂ්


දෙව්නි

අපි කැමතියි රාෂික් පන්ති නායකයා වෙනවා නම්.

අපි කැමතියි, ජනුද පන්ති නායකයා කරන්න.


ෆාතිමා


ගුරුතුමිය

ඔය දරුවො නම් කිහිපයක් යෝජනා කරනවා. පන්ති නායකයා කවුද කියල තීරණය කරන එක එතරම් ලේසි කටයුත්තක් නෙමෙයි දන් නම්. හොඳයි. කවුරු හරි කියන්න බලන්න, මෙවැනි අවස්ථාවක දි අපි කොහොම ද සියලු දෙනාට ම පිළිගත හැකි සාධාරණ තීරණයක් ගන්නෙ කියලා.

අපි එහෙනම් ඡන්දයක් පවත්වලා වැඩි ම කැමැත්ත ගත්තු කෙනා පන්ති නායකයා කරමු. ඒක ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමයක්


චෙනෙතු


දේවකී

චෙනෙතු දන්න දේවල්....... එහෙනම් අද අපිට ප්‍රජාතන්ත්‍රවාදය ගැනත් ඉගෙන ගන්න ලැබේවි. අපේ පුරවැසි අධ්‍යාපනය විෂයටත් තියෙනවා, ප්‍රජාතන්ත්‍රවාදී පාලනය කියල මාතෘකාවක්.

බොහොම හොඳයි. චෙනෙතු පුතා ඉදිරිපත් කරපු අදහස හරිම වටිනවා. අපි එහෙනම් ඡන්දයක් පවත්වලා වැඩි ම ඡන්ද ලබාගත්ත දුව හෝ පුතා හෝ පන්ති නායකයා කරමු.


ගුරුතුමිය

සිංහල භාෂාවේ "ප්‍රජා" යන්නෙන් "මහජනතාවත්" තන්ත්‍රය යන්නෙන් "පාලනයත්" හැඳින්වේ. එම නිසා ප්‍රජාතන්ත්‍රවාදය යනු මහජනතාවගේ පාලනය ලෙස සරලව හැඳින්විය හැකි ය. ප්‍රජාතන්ත්‍රවාදය යන වචනයට ඉංග්‍රීසි භාෂාවේ යෙදෙන්නේ DEMOCRACY යන වචනයයි. එය ග්‍රීක භාෂාවේ "Demos" හා "Kratos" යන වචනවලින් ගොඩනැගී තිබේ. "Demos" යන වචනයෙන් ජනතාවත්, "Kratos" යන වචනයෙන් පාලනය යන්නත් අර්ථ ගැන්වේ.

ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳව විද්වතුන් විවිධ නිර්වචන ඉදිරිපත් කර ඇත. ඉන් කිහිපයක් ඔබගේ දැන ගැනීම සඳහා පහත දක්වා ඇත.

මහජනයා විසින් මහජනයා උදෙසා ක්‍රියාත්මක කරනු ලබන මහජන පාලන ක්‍රමයකි.

**ඒබ්‍රහම් ලින්කන්**

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය සියලු දෙනාට ම අයිතිවාසිකම් හිමි වන පාලන ක්‍රමයකි.

**සීලර්**

මහජනතාවගේ බහුතර කැමැත්ත මත ඔවුන් විසින් ගොඩනගා ගනු ලබන පාලන ක්‍රමය ප්‍රජාතන්ත්‍රවාදී පාලනය ලෙස සරලව හැඳින්විය හැකි ය.

ප්‍රජාතන්ත්‍රවාදය පාලන ක්‍රමයක් ලෙස මෙන් ම ජීවන ක්‍රමයක් ලෙස ද වැදගත් වේ. සෑම පුද්ගලයකු ම තම යුතුකම් ඉටු කරමින් අයිතිවාසිකම් භුක්ති විඳීම, අන්‍ය මත ගරු කිරීම, සාකච්ඡා මඟින් තීරණවලට එළඹීම, සමානාත්මතාව ගරු කිරීම වැනි ගුණාංග ප්‍රජාතන්ත්‍රවාදී ජීවන ක්‍රමයක ගති ලක්ෂණවලට නිදසුන් කිහිපයකි. එම ගුණාංග පුරවැසියාගේ ජීවන දර්ශනයක් බවට පත් වීම මගින් යහපත්, සාමකාමී සමාජයක් ගොඩනැඟෙයි. පවුලේ සාමාජිකයකු ලෙස මෙන් ම පාසලේ සාමාජිකයකු වශයෙන් ද මෙම ගුණාංග ප්‍රගුණ කර ගැනීම වැදගත් වේ. ජන සමාජයේ සියලු ම සාමාජිකයන් තුළ එම ගුණාංග වර්ධනය වීම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක යහපැවැත්ම සහතික කිරීමට හේතු වනු ඇත.

### ක්‍රියාකාරකම 3.1



1. ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ ඉදිරිපත්ව ඇති නිර්වචන කිහිපයක් එක් රැස් කරන්න.
2. ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ ඔබේ ම වූ සරල නිර්වචනයක් ගොඩනඟන්න.

**ප්‍රජාතන්ත්‍රවාදයේ මූලික ස්වරූප**

නාමල්යාය මහා විද්‍යාලයේ 9 ශ්‍රේණිය සඳහා පුරවැසි අධ්‍යාපනය විෂය භාර ගුරුතුමිය තම කාලච්ඡේදයේ දී පන්තියට පැමිණියා ය. පන්තියේ සිසුන් සහ ගුරුතුමිය අතර ඇති වූ සංවාදයක කොටසක් පහත දැක්වේ.

මම අහලා තියෙනවා ඍජු ප්‍රජාතන්ත්‍රවාදය කියලා එකක් ඈත අතීතයේ ක්‍රියාත්මක වෙලා තියෙනවා කියලා.







ඔව්, ඔව්. ග්‍රීසියේ ඇතැන්ස් නගරයේ ඍජු ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක වෙලා තියෙනවා කියලා මම අහලා තියෙනවා.

දැන් ඍජු ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක වෙන්නෙ නැද්ද?







අද වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදය තමයි වැඩි වශයෙන් ක්‍රියාත්මක වෙන්නේ කියලා මං කියවපු පොතක තිබුණා. සමහර අවස්ථාවල වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය තුළත් ඍජු ප්‍රජාතන්ත්‍රවාදී ලක්ෂණ ක්‍රියාත්මක කිරීමට ඉඩ සලසා ඇති අවස්ථා දක්නට තියෙනවා.

බොහොම හොඳයි. මම අද කියලා දෙන්න සූදානම් වුණ පාඩම පිළිබඳව ගොඩක් කරුණු ඔය දරුවො දන්නවා.







**ඍජු ප්‍රජාතන්ත්‍රවාදය**

රටේ පුරවැසියන් ඍජුව ම පාලන කාර්ය සඳහා සහභාගි වීම ඍජු ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයේ මූලික ලක්ෂණයයි. ග්‍රීසියේ ඇතැන්ස් පෞර රාජ්‍යයේ පැවතුණේ මෙවැනි පාලන ක්‍රමයකි. ඇතැන්ස් පෞර රාජ්‍යයේ ප්‍රධාන පාලන ආයතනය වූයේ පුරවැසි සභාවයි. එහි දී පාලන කටයුතු පිළිබඳ පුරවැසියන්ගේ කැමැත්ත ඍජුව විමසා ඇත. පාලන කටයුතු සඳහා පුරවැසියන් සියලු දෙනා සම්බන්ධ වී තිබේ.

**තීන්දු ගැනීමේ ක්‍රියාවලියට හා පාලන කටයුතුවලට පුරවැසියන් ඍජුව සම්බන්ධ වීම ඍජු ප්‍රජාතන්ත්‍රවාදයයි.**

ඍජු ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක වූ ඇතැන්ස් රාජ්‍යයේ වහලුන්ට, කාන්තාවන්ට සහ විදේශිකයන්ට පාලන කටයුතුවලට සහභාගි වීමට අවස්ථාව හිමි වූයේ නැත. ඍජු ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය තුළ ක්‍රියාකාරී සහභාගිත්වය හිමි වූයේ නගර වාසී වැඩිහිටි පිරිමි පක්ෂයට පමණි.

**සෘජු ප්‍රජාතන්ත්‍රවාදය අතීතයේ ක්‍රියාත්මක කිරීම පහසු වීමට හේතු**

- මිනිසාගේ අවශ්‍යතා සීමිත වීම
- ජනගහනය සීමා සහිත වීම
- එක් ස්ථානයකට එක් රැස්ව සාකච්ඡා කිරීම හා තීරණවලට එළඹීම පහසු වීම

**සෘජු ප්‍රජාතන්ත්‍රවාදය පාලන ක්‍රමයක් ලෙස වර්තමානයේ ක්‍රියාත්මක කිරීමේ දී මතු වන ගැටලු**

- ජනගහනය අධික වීම
- එක් ස්ථානයකට එක්රැස් වීමේ අපහසුව
- මිනිසාගේ අවශ්‍යතා සංකීර්ණ වීම
- වර්තමාන පාලන කටයුතු සංකීර්ණ ස්වභාවයක් ගැනීම

**ක්‍රියාකාරකම 3.2**



1. වර්තමානයේ සෘජු ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය ක්‍රියාත්මක කිරීමේ දී මතු විය හැකි ගැටලු නිදසුන් දක්වමින් කෙටියෙන් පැහැදිලි කරන්න.
2. ග්‍රීසියේ ඇතැන්ස් නගරයේ පැවති සෘජු ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය තුළ පැවති දුර්වලතා වෙතොත් ඉන් කිහිපයක් ලැයිස්තු ගත කරන්න.

**වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදය**

- සෘජු ප්‍රජාතන්ත්‍රවාදය ප්‍රායෝගිකව ක්‍රියාත්මක කිරීම දුෂ්කර වීම නිසා වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදය ආරම්භ විය.
- මහජනතාව විසින් තෝරා පත් කර ගනු ලබන නියෝජිතයන් මඟින් පාලන කටයුතු සිදු කිරීම වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදයේ ලක්ෂණයයි. නියෝජිතයන් තෝරා පත් කර ගනු ලබන්නේ කලින් කල පවත්වනු ලබන මැතිවරණ මඟිනි.
- වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදය නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය, නියෝජ්‍ය ප්‍රජාතන්ත්‍රවාදය යන නම්වලින් ද හඳුන්වයි.

වර්තමානයේ නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක කරන රටවල ඇතැම් කරුණු සම්බන්ධයෙන් සෘජුව මහජන කැමැත්ත විමසීම සඳහා ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව මඟින් ඉඩ සලසා ඇත.

එලෙස භාවිතයට ගන්නා සෘජු ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රියාමාර්ගයකට නිදසුනක් ලෙස ජනමත විචාරණය හැඳින්විය හැකි ය. අප රටේ ද ජනමත විචාරණ පැවැත්වීම වර්තමාන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මඟින් නීති ගත කර තිබේ.

### 3.1.2 ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක මූලික ලක්ෂණ

බහුතර කැමැත්ත මත නියෝජිතයන් මඟින් පාලන කටයුතු මෙහෙයවීම ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක මූලික ලක්ෂණයයි. ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් ක්‍රියාත්මක වන රටක දැකිය හැකි ලක්ෂණ රැසකි.

9 ශ්‍රේණියේ ශිෂ්‍ය ශිෂ්‍යාවන් පිරිසක් ප්‍රජාතන්ත්‍රවාදයේ මූලික ලක්ෂණ නිර්මාණාත්මකව ඉදිරිපත් කර තිබූ අයුරු පහත දැක්වේ.

**ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක මූලික ලක්ෂණ**



### 3.1.3 ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක සාර්ථකත්වයට අවශ්‍ය අංග

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක සාර්ථකත්වය කෙරෙහි බලපාන සාධක එක්රැස් කර පෝස්ටරයක් නිර්මාණය කරන ලෙස පුරවැසි අධ්‍යාපන විෂයභාර ගුරුතුමිය තම පන්තියේ සිසුන්ට උපදෙස් දුන්නා ය. දෙව්නිගේ කණ්ඩායම විසින් නිර්මාණය කරන ලද පෝස්ටරයේ අඩංගු වූ කරුණු පහත දැක්වේ.

**ප්‍රජාතන්ත්‍රවාදයේ සාර්ථකත්වය තීරණය වීම කෙරෙහි බලපාන සාධක**

- ජනතාවගේ දේශපාලන දැනුම සහ අවබෝධය ඉහළ මට්ටමක පැවතීම
- ජනතාව පාලකයන් තෝරා පත් කර ගැනීමේ දී බුද්ධිමත් තීරණ ගැනීම
- කැපවීමෙන් කටයුතු කරන අවංක සහ උදාර නායකත්වයක් පැවතීම
- රට තුළ යහපත් ආර්ථික මට්ටමක් පැවතීම
- ජනමාධ්‍ය නිදහස ක්‍රියාත්මක වීම
- රට තුළ නීතියේ ආධිපත්‍යය පැවතීම
- ආණ්ඩුවේ කාර්ය පැහැදිලිව හඳුනා ගත හැකි වන පරිදි බෙදා වෙන් කර තිබීම
- ප්‍රබල විරුද්ධ පක්ෂයක් තිබීම





මැතිවරණයක දී ඡන්දදායකයන් ඡන්දය දෙන අවස්ථාවක්

### 3.1.4 නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක වන රටවලට නිදසුන්

- ශ්‍රී ලංකාව
- ඉන්දියාව
- ජපානය
- එක්සත් රාජධානිය
- ප්‍රංශය
- ස්විට්සර්ලන්තය
- ඇමෙරිකා එක්සත් ජනපදය
- කැනඩාව

## ක්‍රියාකාරකම 3.3



පහත දැක්වෙන වගුවේ I තීරුවේ ප්‍රජාතන්ත්‍රවාදයේ සාර්ථකත්වයට අවශ්‍ය අංග කිහිපයක් දක්වා ඇත. එම අංග ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ සාර්ථකත්වයට බලපාන ආකාරය II තීරුවේ කෙටියෙන් සඳහන් කරන්න.

| I තීරුව | II තීරුව |
|---|---|
| ප්‍රජාතන්ත්‍රවාදයේ සාර්ථකත්වයට අවශ්‍ය අංග | ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ සාර්ථකත්වයට බලපාන ආකාරය |
| ජනතාව සතු දේශපාලන දැනුම සහ අවබෝධය ඉහළ මට්ටමක පැවතීම | |
| කැපවීමෙන් කටයුතු කරන අවංක සහ උදාර නායකත්වය | |
| පාලකයන් තෝරා පත් කර ගැනීමේ දී බුද්ධිමත්ව කටයුතු කිරීම | |
| ප්‍රබල විරුද්ධ පක්ෂයක් පැවතීම | |
| නීතියේ ආධිපත්‍යය ක්‍රියාත්මක වීම | |

(ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රම සම්බන්ධයෙන් වැඩිදුර කරුණු 10 ශ්‍රේණියේ පුරවැසි අධ්‍යාපනය පෙළපොතෙහි පළමු පරිච්ඡේදයෙන් ඔබට ඉගෙනීමට හැකි වනු ඇත.)

## 3.2 ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක පුරවැසියකු සතු අයිතිවාසිකම් හා බැඳුණු යුතුකම්

### 3.2.1 පුරවැසියකු සතු අයිතිවාසිකම්

ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක පුරවැසියකු සතු අයිතිවාසිකම් පිළිබඳව 9 ශ්‍රේණියේ ශිෂ්‍ය ශිෂ්‍යයාවන් පිරිසක් අතර ඇති වූ සංවාදයක කොටසක් පහත දැක්වේ.



යහපත් ජීවිතයක් ගත කිරීම සඳහා පුද්ගලයකුට සමාජයෙන් හිමි වන පිළිගැනීම්, අයිතිවාසිකම් කියලා අපේ තාත්තා මට කියලා දුන්නා.

නිලුපුලි

අපි සියලු දෙනාට ම නමක් හා ජාතියක් ලැබීමට අයිතියක් තියෙනවා.



සදෙව්




නමක් හා ජාතියක් ලබනවා වගේ ම නිදහසේ ජීවත් වීමටත් අයිතිය තිබිය යුතුයි නේද? අනෙක් අයිතිවාසිකම් සියල්ලට ම වඩා ජීවත් වීමේ අයිතිය වටිනවා කියලා මට හිතෙනවා.

ඇයි, අධ්‍යාපනය ලැබීමට ඇති අයිතිය ?







නීත්‍යනුකූල රැකියාවක යෙදෙන්නත් අයිතියක් තියෙනවා නේද?

තමන් කැමති ආගමක් ඇදහීමට ඇති අයිතියත් වැදගත් වෙනවා.







පාලකයන් තෝරා පත් කර ගැනීමට ඇති අයිතියත් ප්‍රජාතන්ත්‍රවාදී ජනසමාජයක පුරවැසියකු සතු වැදගත් අයිතියක්.

ඔය දරුවෝ බොහොම හොඳයි. හැම කෙනාම වගේ දන්නවා ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක පුරවැසියන් සතු අයිතිවාසිකම් මොනව ද කියලා.




මෙම සංවාදයට සවන් දුන් ශිෂ්‍යාවක පුරවැසියකු සතු අයිතිවාසිකම් සාරාංශ කර තිබූ අයුරු පහත දැක්වේ.

- ජීවත් වීමේ අයිතිය
- නමක් හා ජාතියක් ලැබීමට ඇති අයිතිය
- අධ්‍යාපනය ලැබීමට ඇති අයිතිය
- නීත්‍යනුකූල රැකියාවක යෙදීමට ඇති අයිතිය
- තමන් කැමති ආගමක් ඇදහීමට ඇති අයිතිය
- පාලකයන් තෝරා ගැනීමට ඇති අයිතිය
- තමන් කැමති ස්ථානයක/ප්‍රදේශයක ජීවත් වීමේ අයිතිය
- තමන් කැමති දේශපාලන පක්ෂයකට ඡන්දය දීමේ අයිතිය
- වෘත්තීය සමිතිවලට බැඳීමේ අයිතිය

අප භුක්ති විඳින අයිතිවාසිකම් හා බැඳුණු යුතුකම් මැනවින් ඉටු කිරීම අයිතිවාසිකම් තවදුරටත් සුරක්ෂිත වීමට හේතු වනු ඇත. තමන් භුක්ති විඳින අයිතිවාසිකම් හා බැඳුණු යුතුකම් ඉටු කිරීම සෙසු අයගේ අයිතිවාසිකම් ආරක්ෂා වීමට මහගු පිටිවහලක් වේ. එවැනි යුතුකම් කිහිපයක් පිළිබඳව විමසා බලමු.

### 3.2.2 අයිතිවාසිකම් භුක්ති විඳීමේ දී සමාජයට ඉටු විය යුතු යුතුකම්

අයිතිවාසිකම් භුක්ති විඳීමේ දී අපෙන් සමාජයට ඉටු විය යුතු කාර්යභාරය යුතුකම් ලෙස හැඳින්විය හැකි ය. සෑම අයිතිවාසිකමක් ම හා බැඳුණු යුතුකමක් ද පවතී. අයිතිවාසිකම් හා යුතුකම් එක ම කාසියක දෙපැත්ත මෙන් එකට බැඳී පවතී. ශ්‍රී ලාංකිකයන් වන අපට යුතුකම් ඉටු කිරීම ඈත අතීතයේ සිට ම පරම්පරාවෙන් පරම්පරාවට උරුම වූවකි. ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක සාමය, සහජීවනය, සමගිය සහ සමාජ ආරක්ෂාව තහවුරු වීමට ද යුතුකම් ඉටු කිරීම අත්‍යවශ්‍ය වේ.

ඒ අනුව අයිතිවාසිකම් භුක්ති විඳීමේ දී පුරවැසියකු වශයෙන් අපෙන් සමාජයට ඉටු විය යුතු යුතුකම් රාශියක් තිබේ. ඒවාට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- හොඳින් අධ්‍යාපනය ලැබීම
- දෙමාපියන්ට/ගුරුවරුන්ට කීකරුවීම හා ගරු කිරීම
- වැඩිහිටියන්ට සැලකීම
- පරිසරය පිරිසිදුව තබා ගැනීම
- පොදු දේපළ සුරැකීම
- පූජ්‍ය/පූජක උතුමන්ට ගරු කිරීම හා සැලකීම
- නීතිරීතිවලට අවනත වීම හා පිළිපැදීම
- පොලීසියට හා ආරක්ෂක හමුදාවලට සහාය වීම
- රජය මගින් පනවන බදු මුදල් නියමිත පරිදි ගෙවීම
- තමන් ප්‍රයෝජනයට ගන්නා සේවා වෙනුවෙන් බිල්පත් ගෙවීමට අවංක වීම
- අල්ලස, දූෂණය වැනි විෂමාචාර ක්‍රියාවලින් වැළකීම හා ඒවා පිටුදැකීමට ක්‍රියා කිරීම
- සමාජයට අහිතකර ක්‍රියාවලින් වැළකීම
- ත්‍රස්තවාදය පිටු දැකීම
- සංස්කෘතික උරුම සුරැකීම
- රාජ ද්‍රෝහී නොවීම
- කැළි කසළ/අපද්‍රව්‍ය නිසි පරිදි බැහැර කිරීම හා ඒ සම්බන්ධයෙන් රජය ගන්නා ක්‍රියාමාර්ගවලට සහාය දැක්වීම
- ජාතික සමගිය පෝෂණය කිරීම

**පාසල් ශිෂ්‍යයකු වන ඔබගේ යුතුකම හොඳින් අධ්‍යයන කටයුතුවල නිරත වී සමාජයට වැඩදායී පුරවැසියකු වීමයි. ගුරුමව්පියවරුන්ගේ යුතුකම වන්නේ ඒ සඳහා ඔබට අවශ්‍ය වන දැනුම, ආකල්ප, කුසලතා සහ නිපුණතා ඇති කිරීමයි. ගුරුදෙමාපියන් තම යුතුකම් ඉටු කිරීම ඔබගේ අයිතිවාසිකම් තහවුරු වීම කෙරෙහි ඍජුව බලපානු ඇත.**

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 28 වැනි ව්‍යවස්ථාව මගින් ද පුරවැසියකු විසින් ඉටු කළ යුතු මූලික යුතුකම් කිහිපයක් දක්වා තිබේ. ඒවා පහත පරිදි වේ.

- ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව සහ නීතිය ආරක්ෂා කොට අනුගමනය කිරීම
- ජාතික අභිවෘද්ධිය වර්ධනය කිරීම හා ජාතික සමගිය පෝෂණය කිරීම
- තමන් විසින් තෝරා ගනු ලැබූ රැකියාවෙහි කටයුතු හෘදය සාක්ෂියට එකඟව නොපිරිහෙළා ඉටු කිරීම
- පොදු දේපළ සුරක්ෂිත කොට ආරක්ෂා කිරීම, පොදු දේපළ අයථා පරිදි ප්‍රයෝජනයට ගැනීමට සහ නාස්ති කිරීමට එරෙහිව ක්‍රියා කිරීම
- සෙසු අයගේ අයිතිවාසිකම් සහ නන් වැදෑරුම් නිදහස ගරු කිරීම
- ස්වභාවධර්මය සහ ස්වාභාවික සම්පත් රැක ගැනීම

### 3.2.3 නීතිමය රාමුව තුළ අයිතිවාසිකම් භුක්ති විඳීමේ වැදගත්කම

සෑම පුරවැසියකු ම අයිතිවාසිකම් භුක්ති විඳිය යුත්තේ නීතිමය රාමුවට යටත්වයි. එසේ නොවුණහොත් තවත් කෙනකුගේ අයිතිය උල්ලංඝනය වීමට එය හේතු වනු ඇත. නීතිමය රාමුවට යටත්ව අයිතිවාසිකම් භුක්ති විඳීමට සියලු පුරවැසියන් කටයුතු කරන්නේ නම් එය ජාතික සංවර්ධනයට හේතු වනු ඇත.

- පුරවැසියකුට මාර්ගයක ගමන් කිරීමට අයිතිය ඇතත් එසේ ගමන් කළ යුත්තේ මාර්ග නීතිරීතිවලට යටත්ව ය.
- රැකියාවක් කිරීමට සෑම පුද්ගලයකුට ම අයිතියක් ඇතත් එය නීත්‍යනුකූල රැකියාවක් විය යුතු ය.
- වෘත්තීය අයිතිවාසිකම් දිනා ගැනීමට අයිතිය ඇතත් ඒ සඳහා අනුගමනය කරන ක්‍රියාමාර්ග රටේ පවතින නීතියට පටහැනි නොවිය යුතු ය.

ප්‍රජාතන්ත්‍රවාදී රටවල පොදු සමාජ ශුභසිද්ධිය ආරක්ෂා කිරීම වෙනුවෙන් සහ සාමකාමී සමාජ පරිසරයක් ගොඩනැගීම වෙනුවෙන් ද අයිතිවාසිකම් භුක්ති විඳීමේ සීමා පනවා තිබේ. යුදමය තත්ත්වයක් පවතිද්දී මාධ්‍ය වාරණ පැනවීම, පොදු දේපළ හා ජීවිත හානි සිදු විය හැකි අවස්ථාවල දී උද්ඝෝෂණ, පෙළපාළි, පිකටින් තහනම් කිරීම ඒ සඳහා නිදසුන් කිහිපයකි. මෙවැනි අවස්ථාවල පනවන වාරණ පුරවැසි අයිතිවාසිකම් උල්ලංඝනය කිරීමක් නොවේ. එය සමාජ යහපත සඳහා මෙන් ම ජාතික සංවර්ධනය සඳහා ද බෙහෙවින් ඉවහල් වේ.

## 3.3 දේශපාලන පක්ෂයක කාර්යභාරය

### 3.3.1 දේශපාලන පක්ෂ හැඳින්වීම

9 ශ්‍රේණියේ සිසුන් දෙදෙනකු අතර දේශපාලන පක්ෂ පිළිබඳ සංවාදයක් ඇති විය. එහි දී ඔවුන් දෙදෙනා විසින් දේශපාලන පක්ෂ පිළිබඳ ඉදිරිපත් කරන ලද සරල නිර්වචන දෙකක් පහත දැක්වේ.







දේශපාලන පක්ෂ පිළිබඳ විවිධ විද්වතුන් විසින් ඉදිරිපත් කර ඇති නිර්වචන කිහිපයක් ඔබගේ දැන ගැනීම සඳහා පහත දක්වා ඇත.







දේශපාලන පක්ෂයක් යන්නෙන් අදහස් කෙරෙන්නේ යම් ප්‍රතිපත්ති මාලාවක් පදනම් කර ගෙන ආණ්ඩු බලය ලබා ගැනීම සඳහා සංවිධානය වූ පුද්ගල කණ්ඩායමකි.

### 3.3.2 විවිධ රටවල ක්‍රියාත්මක වන දේශපාලන පක්ෂ ක්‍රම

අප රටේ දේශපාලන පක්ෂ රාශියක් ක්‍රියාත්මක වන බව ඔබ දන්නවා ඇත. වෙනත් රටවල ද දේශපාලන පක්ෂ ක්‍රියාත්මක වේ. රටක ක්‍රියාත්මක වන පක්ෂ ක්‍රමය පදනම් කර ගෙන දේශපාලන පක්ෂ වර්ගීකරණය කරනු ලැබේ.




### 3.3.3 දේශපාලන පක්ෂයක කාර්යභාරය

- විසිරී ඇති මහජන මතය ඒකරාශි කිරීම
- තම පක්ෂයේ අරමුණු හා ප්‍රතිපත්ති ක්‍රියාවට නැංවීම සඳහා කටයුතු කිරීම
- අනාගත නායකයන් පුහුණු කිරීම
- ජනතාව දැනුම්වත් කිරීම
- තම පක්ෂයට ප්‍රතිවිරුද්ධ අදහස් දරන දේශපාලන පක්ෂවල සාමාජිකයන්ගේ ප්‍රජාතන්ත්‍රවාදී අදහස්වලට ගරු කිරීම
- ආණ්ඩු බලය අල්ලා ගැනීම සඳහා අනෙක් දේශපාලන පක්ෂ සමග තරග වැදීම
- සමාජ ශුභසාධන සේවා සැපයීම

### 3.3.4 ජන සමාජයේ එක්සත් බව ඇති කිරීම සඳහා දේශපාලන පක්ෂ විසින් ඉටු කළ යුතු කාර්ය

රටක විවිධ අදහස් සහිත පුද්ගලයන් විශාල සංඛ්‍යාවක් සිටිනු ඇත. ඒ සියලු දෙනා පොදු අරමුණක් කරා මෙහෙයවීම දේශපාලන පක්ෂ විසින් කළ යුතු කාර්යයකි. එහිදී දේශපාලන අරමුණු ඉටු කර ගැනීම සඳහා පමණක් පක්ෂයක් කටයුතු නොකළ යුතු ය.

රටක සමාජ සංවර්ධනය ඇති කිරීමේ ප්‍රබල වගකීමක් හිමි වන්නේ දේශපාලන පක්ෂවලටයි. ඒ අනුව දේශපාලන පක්ෂ විසින් ඉටු කළ යුතු කාර්යයන් කිහිපයක් පහත දැක්වේ.

- ප්‍රාදේශීය, වාර්ගික, ආගමික වැනි භේද නොසලකා ජාතික අවශ්‍යතා පදනම් කර ගනිමින්, ප්‍රජාතන්ත්‍රවාදී පාලනය අර්ථවත් ලෙස ප්‍රායෝගිකව ක්‍රියාවට නැංවීම
- බහු සංස්කෘතික ජන සමාජයක සියලු ජන කොටස්වලට තම අයිතිවාසිකම් භුක්ති විඳීමට පදනම සකස් කිරීම
- ජාතික එක්සත්කම මගින් ජාතික සංවර්ධනය ඇති කිරීම
- වාර්ගික, ආගමික වැනි ගැටලු ඇති වන ආකාරයේ ක්‍රියාකාරකම්වලින් වැළකී සිටීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම
- සියලු රටවැසියන්ට සමගියෙන්, සහජීවනයෙන්, එකමුතුකමින්, සංහිඳියාවෙන් ජීවත් වීමටත්, තිරසර සාමයක් ඇති කිරීමටත් කැපවීමෙන් කටයුතු කිරීම

## 3. 4. ඡන්ද බලය හා මැතිවරණ

### 3.4.1 ඡන්ද බලය

> මහජන නියෝජිතයන් තෝරා ගැනීමටත්, ජනතා මතය විමසීම සඳහා පැවැත්වෙන මැතිවරණවල දී තම කැමැත්ත ප්‍රකාශ කිරීමටත් ඇති අයිතිය ඡන්ද බලය වේ.

ඡන්දය යනු කැමැත්තයි. තමන් කැමති පාලකයකු හෝ නියෝජිතයකු තෝරා ගැනීමට තම කැමැත්ත ප්‍රකාශ කිරීම ඡන්දය වේ. ප්‍රජාතන්ත්‍රවාදී රටක පුරවැසියන් සතු දේශපාලන අයිතිවාසිකම් අතුරින් ඡන්ද බලයට ඉතා වැදගත් තැනක් හිමි වේ. මැතිවරණයක දී මහජන නියෝජිතයන් තෝරා ගැනීම සඳහා පුරවැසියන්හට ලැබෙන අයිතිය ඡන්ද බලය ලෙස හැඳින්වේ.

අප රටේ වයස අවුරුදු 18 සම්පූර්ණ කර ඇති පුරවැසියන්ට නීත්‍යානුකූලව ඡන්ද බලය හිමි වේ. නියමිත පරිදි ඡන්ද හිමි නාම ලේඛනයට නම ඇතුළත් කර තිබීම ඡන්ද බලය ලැබීම සඳහා අත්‍යවශ්‍ය වේ.

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව ඡන්ද බලය අහිමි වීමට බලපාන හේතු කිහිපයක් ද දක්වා තිබේ.

- පුරවැසිභාවය අහිමි වීම
- සිහිවිකල තැනැත්තකු ලෙස නීතියෙන් නම් කර තිබීම
- ප්‍රජා අයිතිය අහෝසි කර තිබීම
- ජීවිතාන්තය දක්වා සිරගත කරනු ලැබූවකු වීම
- මරණීය දණ්ඩනය නියම වූ පුද්ගලයකු වීම
- බංකොලොත් වූවකු ලෙස අධිකරණය මගින් නම් කර තිබීම

### 3.4.2 මැතිවරණ

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් තුළ පුරවැසියන් සිය ඡන්දය ප්‍රකාශ කර නියෝජිතයන් පත් කර ගැනීම සිදු වේ. පාලන ආයතන සඳහා ජනතා නියෝජිතයන් තෝරා ගැනීම, රටේ වැදගත් කරුණු පිළිබඳව මහජන මතය විමසීම ආදිය සඳහා මැතිවරණ පැවැත්වේ.

ජනතාව තම ඡන්දය ප්‍රකාශ කිරීම අවස්ථා කිහිපයක දී සිදු වේ. ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක පාලන ආයතන සඳහා නියෝජිතයන් පත් කර ගැනීමට එමගින් අවස්ථාව හිමි වේ. එසේ ම රටේ වැදගත් කරුණු සම්බන්ධයෙන් මහජන මතය විමසූ විට ඊට ප්‍රතිචාර දැක්වීම සඳහා ද ඡන්දය භාවිත කෙරේ. එවන් අවස්ථාවකට නිදසුන් ලෙස ජනමත විචාරණය දැක්විය හැකි ය. ඒ අනුව ප්‍රජාතන්ත්‍රවාදී රටවල මහජන මතය උරගා බැලීම සඳහා යොදාගනු ලබන ක්‍රමවේදය මැතිවරණ ලෙස හැඳින්වේ.

**ශ්‍රී ලංකාවේ වර්තමානයේ ක්‍රියාත්මක වන මැතිවරණ**

- **ජනාධිපතිවරණය**
- **මහා මැතිවරණය/පාර්ලිමේන්තු මැතිවරණය**
- **පළාත් සභා මැතිවරණය**
- **පළාත් පාලන මැතිවරණය**

### 3.4.3 සර්ව ජන ඡන්ද බලය

කිසිදු භේදයකින් තොරව නියමිත සුදුසුකම් සපුරා ඇති සියලු ම පුරවැසියන්ට මැතිවරණවල දී ඡන්දය ප්‍රකාශ කිරීමට ඇති අයිතිය සර්ව ජන ඡන්ද බලයයි. සර්ව ජන ඡන්ද බලය ලැබීමට පෙර අප රටේ ක්‍රියාත්මක වූ සීමිත ඡන්ද බලය පිළිබඳව පුරවැසි අධ්‍යාපනය විෂයභාර ගුරුතුමිය සිසුන්ගෙන් කරුණු විමසුවා ය.




මම ඉතිහාසය විෂයට ඉගෙන ගත්තා, අපිට සීමිත ඡන්ද බලය හිමි වුණේ 1910 හඳුන්වා දුන් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයෙන් කියලා. වයස අවුරුදු 21ට වැඩි උගත් සහ ධනවත් පිරිමි අයට පමණලු ඡන්ද බලය හිමි වුණේ.

ඒ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය හඳුන්වන්නේ කෲ මැකලම් ආණ්ඩු ක්‍රමය කියලා.







ව්‍යවස්ථාදායක සභාවට පළමු වරට ඡන්ද බලයෙන් නියෝජිතයන් පත් කරන්න ලැබීම කෲ මැකලම් ප්‍රතිසංස්කරණයේ සුවිශේෂ ලක්ෂණයක්.

නිලනොලත් නියෝජිතයන් අතුරින් හතරදෙනකු සීමිත ඡන්දයෙන් තෝරා ගත්තා.







යුරෝපීයයන් වෙනුවෙන් දෙදෙනකු, බර්ගර් අය වෙනුවෙන් එක් අයකු සහ උගත් ලාංකිකයන් වෙනුවෙන් එක් අයකු සීමිත ඡන්දයෙන් තෝරා ගත්තෙ.

පොන්නම්බලම් රාමනාදන් මහතා උගත් ලාංකිකයන් වෙනුවෙන් පළමුව තේරී පත් වුණ මන්ත්‍රීවරයා වුණා.







සීමිත ඡන්ද බලය ගැන බොහොම සාරවත් කරුණු ඔය දරුවෝ ඉගෙන ගෙන තියෙනවා. එහෙනම් මං කියලා දෙන්නම් සර්ව ජන ඡන්ද බලය හිමි වුණේ කොහොම ද කියලා.

1931 ඩොනමෝර් ආණ්ඩු ක්‍රම ප්‍රතිසංස්කරණ මගින් වයස අවුරුදු 21 සම්පූර්ණ කළ, ශ්‍රී ලංකාවේ පුරවැසියන් වූ ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වයට ම සර්ව ජන ඡන්ද බලය හිමි විය. අප රටේ බොහෝ ශුභසාධන සේවා ආරම්භ කිරීමට පදනම සර්ව ජන ඡන්ද බලය ලැබීම මගින් හිමි වුණි. 1958 දී සර්ව ජන ඡන්ද බලය හිමි වන වයස් සීමාව අවුරුදු 21 සිට 18 දක්වා අඩු කරනු ලැබී ය.

**ඡන්ද බලය ලබා ගැනීම සඳහා සපුරා ගත යුතු සුදුසුකම්**

- ශ්‍රී ලංකාවේ පුරවැසියකු වීම
- වයස අවුරුදු 18 සම්පූර්ණ කර තිබීම
- ඡන්ද හිමි නාම ලේඛනයේ නම ඇතුළත් කර තිබීම
- ඡන්දය ප්‍රකාශ කිරීම සඳහා ඇති අයිතිය අහිමි කර නොතිබීම

**ඡන්දය ප්‍රකාශ කිරීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු**

- උගත් බුද්ධිමත් සහ ආදර්ශවත් නායකයන් තෝරා ගැනීම
- මැතිවරණවලට පෙර ඉදිරිපත් කරන ප්‍රතිපත්ති ප්‍රකාශනය පිළිබඳ සැලකිලිමත් වීම
- පෞද්ගලික ලාභ අපේක්ෂාවෙන් තොරව කටයුතු කරන නායකයන් තෝරා ගැනීම
- ජාතික අරමුණු හා ප්‍රතිපත්ති ක්‍රියාවට නැංවීම සඳහා කැප වී සිටින නායකයන් තෝරා ගැනීම

**ඡන්ද බලයේ වැදගත්කම**

- කිසි දු භේදයකින් තොරව නියමිත සුදුසුකම් සපුරා ඇති සියලු පුරවැසියන්ට තම දේශපාලන මතය ප්‍රකාශ කිරීමට අවස්ථාව ලැබීම
- සුදුසු පාලකයන් තෝරා ගැනීමට අවස්ථාව හිමි වීම
- පුරවැසියන්ට ක්‍රියාකාරී දේශපාලනයට සහභාගී වීමට අවස්ථාව හිමි වීම
- ජනතාවගේ දේශපාලන අවබෝධය පුළුල් කර ගැනීමට අවස්ථාව උදා වීම
- පාලනයේ කොටස්කරුවන් ය, යන හැඟීම ජනතාව තුළ වර්ධනය වීම
- කැමති පාලකයන් තෝරා ගැනීමටත්, අකමැති පාලකයන් ඉවත් කිරීමටත් අවස්ථාව හිමි වීම

### 3.4.4 මැතිවරණ සම්බන්ධ ජනතා අයිතිවාසිකම් හා යුතුකම්

ජනතාව පාලනයට සහභාගි වන අවස්ථාව වන්නේ මැතිවරණයයි. මැතිවරණවල දී නියෝජිතයන් තෝරා ගැනීම සඳහා ප්‍රධාන වශයෙන් යොදාගන්නා ශිල්ප ක්‍රම දෙකක් පිළිබඳව පමණක් මෙහි දී සරලව සාකච්ඡා කරමු. ඒවා නියෝජන ක්‍රම ලෙස හැඳින්වේ.

- සරල බහුතර නියෝජන ක්‍රමය
- සමානුපාතික නියෝජන ක්‍රමය

පන්තියේ සිසුන් අතර නියෝජන ක්‍රම පිළිබඳව සංවාදයක් ඇති විය. ඉන් අනතුරුව ඔවුන් විසින් සරල නිර්වචන දෙකක් ගොඩනගන ලදුව පන්තිය ඉදිරියේ ප්‍රදර්ශනය කර තිබුණේ මෙසේ ය.






සරල බහුතර නියෝජන ක්‍රමය පදනම් කර ගෙන මැතිවරණ පවත්වන රටකට නිදසුනක් ලෙස මහා බ්‍රිතාන්‍යය හැඳින්විය හැකි ය. ඊට අමතරව 1931-1978 දක්වා අප රටේ ක්‍රියාත්මක වූයේ ද එම නියෝජන ක්‍රමයයි.

මැතිවරණ සම්බන්ධයෙන් පුරවැසි අයිතිවාසිකම් හා යුතුකම් කවරේ ද යන්න පිළිබඳව පුරවැසි අධ්‍යාපනය විෂයභාර ගුරුතුමිය සිසුන්ගෙන් විමසා සිටියා ය. කණ්ඩායම් සාකච්ඡාවක් ඇසුරින් සිසුන් විසින් එක් රැස් කරන ලද තොරතුරු ඇතුළත් පත්‍රිකාවක් ඉදිරිපත් කිරීමට දෙව්නිගේ නායකත්වයෙන් යුත් කණ්ඩායම ඉදිරියට පැමිණියහ.

| මැතිවරණ සම්බන්ධ පුරවැසි අයිතිවාසිකම් | මැතිවරණ සම්බන්ධ පුරවැසි යුතුකම් |
|---|---|
| ▪ ඡන්ද හිමි නාම ලේඛනයේ නම ඇතුළත් කර ගැනීම<br>▪ ඡන්දය ප්‍රකාශ කිරීම<br>▪ තමන්ගේ අභිමතය පරිදි දේශපාලන පක්ෂයක සාමාජිකත්වය ලබා ගැනීම<br>▪ දේශපාලන පක්ෂ පිහිටුවා ගැනීම<br>▪ දේශපාලන රැස්වීම් පැවැත්වීම, ඒවාට සහභාගි වීම හා අදහස් ප්‍රකාශ කිරීම<br>▪ ඡන්ද අපේක්ෂකයකු ලෙස මැතිවරණවලට ඉදිරිපත් වීම<br>▪ දේශපාලන ප්‍රචාරණ කටයුතුවල යෙදීම<br>▪ සාධාරණ හේතු මත ආණ්ඩුව විවේචනය කිරීම | ▪ ඡන්දය ප්‍රකාශ කිරීම<br>▪ මැතිවරණ නීතිරීතිවලට අවනත වීම<br>▪ ප්‍රචණ්ඩ ක්‍රියාවලින් වැළකීම<br>▪ ජය, පරාජය සමව සලකා භුක්ති විඳීම<br>▪ මැතිවරණ නීති ක්‍රියාත්මක කිරීමට සහාය වීම<br>▪ අන් අයගේ අයිතිවාසිකම් උල්ලංඝනය නොවන පරිදි ප්‍රචාරණ කටයුතු සිදු කිරීම<br>▪ අන් අයගේ අභිමානයට හානියක් නොවන පරිදි අදහස් ප්‍රකාශ කිරීම හා චරිත ඝාතනය නොකිරීම<br>▪ ජය පරාජය සමසේ භුක්ති විඳිමින් අන් අයගේ අයිතිවාසිකම්වලට ගරු කිරීම<br>▪ රටේ නීතියට හා සාමයට බාධා නොවන පරිදි කටයුතු කිරීම සහ එවැනි බාධා වන ක්‍රියාවලට අනුබල නොදීම |

## 3.5 ස්ථිරසාර භාවය

### 3.5.1 ස්ථිරසාර භාවය හැඳින්වීම

තම හෘදය සාක්ෂියට අනුව සාධාරණ වූත්, යුක්ති සහගත වූත් ස්ථිර ප්‍රතිපත්ති මත පිහිටා කටයුතු කිරීම ස්ථිරසාර භාවය වේ. ස්ථිරසාර භාවයෙන් කටයුතු කිරීම පාසල් ශිෂ්‍යයකු/ශිෂ්‍යාවක වශයෙන් ඔබ කුඩා කල සිට ම ප්‍රගුණ කළ යුතු ගුණාංගයකි. තම අනාගතය සාර්ථක කර ගැනීම සඳහා ස්ථිරසාර භාවයෙන් කටයුතු කිරීම ඉතා වැදගත් ය.

### 3.5.2 ස්ථිරසාර භාවය ගොඩනගා ගැනීම සඳහා පුද්ගලයකු තුළ වර්ධනය කර ගත යුතු ගුණාංග




| තමා සමඟ ස්ථිරසාර භාවය | අනුන් සමඟ ස්ථිරසාර භාවය |
|---|---|
| ▪ කවර අභියෝග පැමිණිය ද තමන් සිදු කරන නිවැරදි සහ යහපත් ක්‍රියා වෙනස් නොකර සිටීම<br>▪ තම හෘදය සාක්ෂියට අනුව තමන් කරන කියන දෑ ස්ථිරසාර භාවයෙන් යුතුව ක්‍රියාත්මක කිරීම<br>▪ කුමන බලපෑම් මත වුව ද අයහපත් ක්‍රියාවල සහ වැරදි චර්යාවල නිරත නොවීම<br>▪ සුබවාදී ආකල්පවලින් යුක්තව, විචාරශීලීව, සෘජු ප්‍රතිපත්ති මත පිහිටා කටයුතු කිරීම | ▪ අන් අය සමඟ කටයුතු කිරීමේ දී තම හෘදය සාක්ෂයට මෙන් ම ප්‍රතිපත්තිවලට එකඟව හා නීතිරීති, සමාජ සම්මතවලට අනුකූලව කටයුතු කිරීම<br>▪ අවශ්‍ය අවස්ථාවල අවශ්‍ය පරිදි තම හැඟීම් ප්‍රකාශ කිරීම<br>▪ සුබවාදී ආකල්පවලින් යුතු වීම සහ විචාරශීලීව, සෘජු ප්‍රතිපත්ති මත සිට කටයුතු කිරීම<br>▪ පෞද්ගලික ලාභ ප්‍රයෝජන අපේක්ෂාවෙන් තොරව නිවැරදි දේ සම්බන්ධයෙන් සෘජුව ප්‍රතිචාර දැක්වීම<br>▪ අනුන් සමඟ ස්ථිරසාර භාවය ඇති කර ගැනීමේ දී සුබවාදී ආකල්පවලින් මෙන් ම විචාරශීලී චින්තනයෙන් යුක්ත වීම |

## ක්‍රියාකාරකම 3.4



පහත වගුවෙහි I තීරුවේ දක්වා ඇත්තේ පුද්ගලයකු තුළ ස්ථිරසාර භාවය වර්ධනය කිරීම සඳහා ඇති කර ගත යුතු ගුණාංග කිහිපයකි. එම ගුණාංග පුද්ගල සංවර්ධනයට බලපාන ආකාරය II තීරුවේ ඊට අදාළ ගුණාංගය ඉදිරියෙන් සඳහන් කරන්න.

| I තීරුව | II තීරුව |
|---|---|
| **ස්ථිරසාර භාවය වර්ධනය කිරීම සඳහා ඇති කර ගත යුතු ගුණාංග** | **පුද්ගල සංවර්ධනයට බලපාන ආකාරය** |
| අවංක බව | |
| සාධාරණත්වය අගය කිරීම | |
| ආදර්ශවත් ගති පැවතුම්වලින් යුතු වීම | |
| පරාර්ථකාමී වීම | |

## 3.6 ජාතිය ගොඩනැගීම

### 3.6.1 ජාතිය ගොඩනැගීම යන සංකල්පය හැඳින්වීම

ජාතිය ගොඩනැගීම යන වචනය ඉංග්‍රීසියෙන් හඳුන්වන්නේ 'Nation Building' යනුවෙනි. මින් අදහස් වන්නේ විවිධ ජන වර්ග, ආගමික කණ්ඩායම්, සමාජ කණ්ඩායම්, එක් ජාතියක් වශයෙන් අනාගත අභියෝග ජය ගනිමින් සංවර්ධන ඉලක්ක සපුරා ගැනීම සඳහා සාමූහිකව කටයුතු කිරීම වේ. වාර්ගික, ආගමික, පක්ෂ, කුල හෝ පන්ති වැනි විෂමතා අමතක කර සියලු දෙනා සහයෝගයෙන් කටයුතු කිරීම ජාතිය ගොඩනැගීමේ දී අත්‍යවශ්‍ය වේ.

නිදසුනක් ලෙස අප රටේ සිංහල, දෙමළ, මුස්ලිම්, බර්ගර් හා වෙනත් ජන වාර්ගික කණ්ඩායම් සමග සාමූහිකව ජීවත් වන අයුරු දැක්විය හැකි ය. එම ජන වර්ග බෞද්ධ, හින්දු, ඉස්ලාම්, කතෝලික, ක්‍රිස්තියානි යන ආගම් අදහති. මේ සියලු දෙනා ශ්‍රී ලාංකික යන ජාතික හැඟීමෙන් ජාතිය ගොඩ නැගීම සඳහා කැපවීමෙන් කටයුතු කිරීම අවශ්‍ය ය.

### 3.6.2 ජාතික ප්‍රතිපත්තිය හැඳින්වීම

රටක සංවර්ධන අවශ්‍යතා හඳුනා ගෙන ඒවා ඉටු කර ගැනීම සඳහා සකස් කරන දිගු කාලීන වැඩපිළිවෙළ ජාතික ප්‍රතිපත්තියක් වේ. එය දේශපාලන පක්ෂ භේදයෙන් තොර විය යුතු ය, රටේ සංවර්ධනය ඉලක්ක කර ගත යුතු ය. ජාතික ප්‍රතිපත්ති, පාලකයන්ගේ පෞද්ගලික අවශ්‍යතා හෝ අභිමතාර්ථ හෝ ඉටු කර ගැනීම සඳහා නොව ජාතික අභිවෘද්ධිය උදෙසා විය යුතු ය. එය කුමන ආණ්ඩුවක් බලයට පැමිණිය ද අඛණ්ඩව ඉදිරියට ගලා යන එකක් විය යුතු ය.

අධ්‍යාපනය පිළිබඳ ජාතික ප්‍රතිපත්තිය, ආර්ථික සංවර්ධනය පිළිබඳ ජාතික ප්‍රතිපත්තිය, කැළි කසළ විධිමත්ව බැහැර කිරීම පිළිබඳ ජාතික ප්‍රතිපත්තිය ආදිය නිදසුන් ලෙස දැක්විය හැකි ය.

### 3.6.3 ජාතික ප්‍රතිපත්තියක අවශ්‍යතාව

රටක සංවර්ධන අවශ්‍යතා ඉටු කර ගැනීම සඳහා ජාතික ප්‍රතිපත්තියක් පැවතීම අත්‍යවශ්‍ය වේ. ඒවා ජනතා අපේක්ෂා ඉටු කිරීමට මෙන් ම නිශ්චිත අරමුණු කරා ළඟා වීමට ඉවහල් වනු ඇත. පහත දැක්වෙන්නේ ජාතික ප්‍රතිපත්තියක් පැවතීමෙන් අත් වන ප්‍රතිඵල කිහිපයකට නිදසුන් ය.

- රටේ ආර්ථික හා සමාජ සංවර්ධනය ඇති වේ.
- නිශ්චිත අරමුණු සහ ඉලක්ක සපුරා ගැනීමට ඉවහල් වේ.
- ජනතා අභිලාෂ ඉටු කර ගත හැකි ය.
- අනාගත අභියෝග ජය ගැනීමට උපකාරී වේ.
- ජාතික සමගිය ඇති වේ.
- තිරසර සාමයක් ළඟා කර ගැනීමට හැකි වේ.
- තිරසර සංවර්ධනයක් ඇති කර ගැනීමට ඉවහල් වේ.

### 3.6.4 ජාතික ප්‍රතිපත්ති සකස් කිරීම සඳහා දායක වීම

ජාතික ප්‍රතිපත්ති සකස් කිරීම සඳහා දායක වීම අප සියලු දෙනාගේ ම යුතුකම හා වගකීම වේ. ඒ සඳහා සක්‍රීයව දායකත්වය සැපයීම මෙන් ම පෞද්ගලික ලාභ අපේක්ෂාවන්ගෙන් තොරව කටයුතු කිරීම ද වැදගත් ය. ජාතික ප්‍රතිපත්ති සකස් කිරීම සඳහා පුරවැසියකු ලෙස දායකත්වය ලබා දිය යුත්තේ කෙසේ ද යන්න සම්බන්ධයෙන් 9 ශ්‍රේණියේ සිසුන් දැක්වූ අදහස් කිහිපයක් පහත දැක්වේ.

- ජාතික අවශ්‍යතා හඳුනා ගැනීම සඳහා සහාය වීම
- ප්‍රාදේශීය අවශ්‍යතා හඳුනාගෙන ඒ පිළිබඳ අදාළ අංශ දැනුම්වත් කිරීම
- ජාතික ප්‍රතිපත්ති සඳහා සුදුසු යෝජනා සහ වැඩපිළිවෙළ ඉදිරිපත් කිරීම
- ජාතික ප්‍රතිපත්ති සකස් කිරීම සඳහා සක්‍රිය දායකත්වය ලබා දීම
- පෞද්ගලික ලාභ අපේක්ෂාවන්ගෙන් තොරව ජාතික ප්‍රතිපත්ති නිර්මාණයට හවුල් වීම
- ජාතික ප්‍රතිපත්තිවලට අනුගතව කටයුතු කිරීම

### 3.6.5 ජාතික ප්‍රතිපත්තිවලට අනුගතව කටයුතු කිරීම

ජාතික ප්‍රතිපත්ති සකස් කිරීම සඳහා සක්‍රිය දායකත්වය ලබා දිය යුතු අතර ම ඒ සඳහා අනුගතව කටයුතු කිරීම ද ඉතා වැදගත් ය. පහත දැක්වෙන්නේ ඒ සඳහා නිදසුන් කිහිපයකි.

- පොදු යහපත අරමුණු කර ගත් පිළිගත් ජාතික ප්‍රතිපත්ති අගය කිරීම
- පිළිගත් ජාතික ප්‍රතිපත්ති ක්‍රියාත්මක කිරීම සඳහා සක්‍රියව දායකත්වය ලබා දීම
- ජාතික ප්‍රතිපත්තිවලට අනුගතව කටයුතු කරමින් ජාතික සංවර්ධනය සඳහා දායකත්වය සැපයීම

### 3.6.6 ජාතිය ගොඩනැගීම සඳහා තම දායකත්වය කැපවීමෙන් යුතුව ලබා දීමේ වැදගත්කම

ජාතිය ගොඩනැගීම සඳහා තම දායකත්වය කැපවීමෙන් යුතුව ලබා දීම ඉතා වැදගත් ය. ඊට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- සෑම පුරවැසියකු ම ජාතික හැඟීමෙන් යුතුව ජාතිය ගොඩනැගීමට දායකත්වය ලබා දීම
- රට ගොඩනැගීම සඳහා සෑම පුරවැසියකු ම තමන් නියැලෙන රැකියාවට/වෘත්තියට අනුව නොපිරිහෙළා කායික හා මානසික ශ්‍රමය කැප කිරීම
- සෑම පුරවැසියකු ම කුමන කාර්යයක නිරත වුව ද ජාතික සංවර්ධනය අරමුණු කර ගෙන තම කටයුතු සිදු කළ යුතු වීම

ආදරණීය දුවේ, පුතේ ඔබ පාසලේ දී පන්ති කාමරය පිරිසිදු කිරීම, පාසල් වත්ත පිරිසිදු කිරීම හා අලංකාරය සඳහා මල් වැවීම, පැළ සිටුවීම, නියමිත පරිදි කසළ බැහැර කිරීම වැනි විවිධ ක්‍රියාවල යෙදෙනවා ඇති. ඒවා පුංචි, පුංචි දේවල් වගේ පෙනුණත් ඒ සියල්ල ජාතිය ගොඩනැගීම සඳහා දෙනු ලබන ලොකු දායකත්වයක්. පුංචි පුංචි දිය බිඳු එකතු වෙලා මහා ගංගාවක් හැදෙනව වගේ පුංචි අපි එකතු වුණා ම ජාතිය ගොඩනැගීමට මහා මෙහෙවරක් කරන්න පුළුවන්.

### 3.6.7 පුරවැසියකු වශයෙන් ජාතිය ගොඩනැගීම සඳහා අනුගමනය කළ හැකි ක්‍රියාමාර්ග

ජාතිය ගොඩනැගීම සඳහා අනුගමනය කරනු ලබන ක්‍රියාමාර්ග මොනවා දැයි සිතන්න. ජාතියක් ලෙස නැගී සිටීම සඳහා පුරවැසියකු වශයෙන් අපට රට වෙනුවෙන් ඉටු කළ හැකි කාර්ය භාරය අතිමහත් ය. ඒ සඳහා අනුගමනය කළ හැකි ක්‍රියාමාර්ග කිහිපයක් පහත දැක්වේ.

- තමාගෙන් ඉටු විය යුතු යුතුකම් නොපිරිහෙළා ඉටු කිරීම
- සමාජයෙන් තමාට ලැබිය යුතු දෙයට වඩා තමාගෙන් සමාජයට ලබා දිය යුතු දායකත්වය පිළිබඳව සැලකිලිමත් වෙමින් කටයුතු කිරීම
- ශ්‍රී ලාංකිකයකු වශයෙන් ජාතික සමගිය හා සාමය ගොඩනැගීම සඳහා කැපවීමෙන් කටයුතු කිරීම
- දැරිය හැකි ජීවන රටාවක් පවත්වාගෙන යාම
- පොදු දේපළ සුරැකීම
- පරිසරය සංරක්ෂණය කිරීම
- ජාතික සංවර්ධනයට දායකත්වය දෙමින් තම පෞද්ගලික සංවර්ධනය ද ඇති කර ගැනීමට කටයුතු කිරීම
- රටේ සංවර්ධනය වෙනුවෙන් උපරිම දායකත්වය ලබා දීම
- පටු ලාභ අපේක්ෂාවන් තොරව කටයුතු කිරීම
- අවංකව හා කැපවීමෙන් යුතුව තම කාර්ය මනාව ඉටු කිරීම
- ජාතික ආරක්ෂාවට තර්ජනයක් හෝ බලපෑමක් වන ක්‍රියාකාරකම්වල නිරත නොවීම
- හොඳ අධ්‍යාපනයක් ලබා ගෙන තම දැනුම හා ශ්‍රමය රටේ සංවර්ධනය වෙනුවෙන් ලබා දීම
- සොරකම, වංචාව සහ අල්ලස, දූෂණය වැනි අයහපත් ක්‍රියාවලින් වැළකීම

## ක්‍රියාකාරකම 3.5



පාසල් ශිෂ්‍යයකු/ශිෂ්‍යාවක වශයෙන් ජාතිය ගොඩ නැගීම සඳහා ඔබට දායක විය හැකි ආකාර ලැයිස්තු ගත කරන්න.

### සාරාංශය



- ප්‍රජාතන්ත්‍රවාදය යනු පාලන ක්‍රමයක් මෙන් ම ජීවන ක්‍රමයක් ද වේ.
- ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක පුරවැසියකු සතු අයිතිවාසිකම් භුක්ති විඳීම නීතිමය රාමුවක් තුළ සිදු කළ යුතු ය.
- ඡන්ද බලය හා මැතිවරණ ප්‍රජාතන්ත්‍රවාදී ජන සමාජයක පුරවැසියකු සතු වැදගත් අයිතියකි.

- නියෝජන (වක්‍ර) ප්‍රජාතන්ත්‍රවාදයේ දී මැතිවරණ මගින් පාලනය සඳහා සහභාගි වීමට ජනතාවට අවස්ථාව හිමි වේ.
- කිසි දු භේදයකින් තොරව නියමිත සුදුසුකම් සපුරා ඇති සියලු ම පුරවැසියන්ට මැතිවරණවල දී ඡන්දය ප්‍රකාශ කිරීමට ඇති අයිතිය සර්ව ජන ඡන්ද බලයයි.
- තම හෘදය සාක්ෂියට අනුව සාධාරණ වූත්, යුක්ති සහගත වූත් ස්ථිර ප්‍රතිපත්ති මත පිහිටා කටයුතු කිරීම ස්ථිරසාර භාවය වේ.
- තමා සමග ස්ථිරසාර භාවය ඇති කර ගැනීමත්, අනුන් සමග ස්ථිරසාර භාවයෙන් කටයුතු කිරීමත් සමාජ ප්‍රගමනයට බෙහෙවින් ඉවහල් වේ.
- ජාතිය ගොඩනැඟීම සඳහා සියලු පුරවැසියන් කිසි දු භේදයකින් තොරව කැපවීමෙන් කටයුතු කිරීම අත්‍යවශ්‍ය වේ.
- ජාතිය ගොඩනැඟීම සඳහා ඵලදායී ජාතික ප්‍රතිපත්ති මත පිහිටා කටයුතු කිරීම ඉතා වැදගත් ය.
- පුරවැසියකු වශයෙන් ජාතිය ගොඩනැඟීම සඳහා යුතුකම් ඉටු කිරීම නොපිරිහෙළා සිදු කළ යුතු ය.
- ශ්‍රී ලාංකිකයකු වශයෙන් ජාතික සමගිය හා තිරසර සාමය ගොඩනැඟීම සඳහා කැපවීමෙන් ක්‍රියා කළ යුතු ය.

# 04 පළාත් පාලන ආයතන

**හැඳින්වීම**

අප එදිනෙදා කටයුතු පවත්වාගෙන යාමේ දී විවිධ සේවා ප්‍රයෝජනයට ගැනීමට සිදු වේ. එම සේවාවලින් බොහොමයක් ජීවිතය හා ඉතා ම සමීපව බැඳී පවතී. එමෙන් ම ඒවා අත්‍යවශ්‍ය වී තිබේ. සනීපාරක්ෂක සේවා, කසළ බැහැර කිරීම, රෝග මර්දනය කිරීම, විවේකය හා විනෝදය ගත කිරීම සඳහා ආරක්ෂිත ස්ථාන, පිරිසිදු හා ආරක්ෂිත මංමාවත් ඒවා අතර ප්‍රධාන තැනක් ගනී. මෙවැනි අත්‍යවශ්‍ය සේවා මහජනතාවට ලබා දීම සඳහා රජයේ ආයතනයක මැදිහත්වීම අත්‍යවශ්‍ය වී තිබේ.

එවැනි ප්‍රාදේශීය අවශ්‍යතා වඩාත් ඵලදායීව හා කාර්යක්ෂමව ඉටු කිරීම සඳහා ශ්‍රී ලංකාවේ පිහිටුවා ඇති ආයතන විශේෂය පළාත් පාලන ආයතන ලෙස හැඳින්වේ. ඒවා මහ නගර සභා, නගර සභා සහ ප්‍රාදේශීය සභා ලෙස වර්ග තුනක් යටතේ දැනට ක්‍රියාත්මක වේ. එම පළාත් පාලන ආයතන පිළිබඳව පුළුල්ව විමසා බැලීම මෙම පරිච්ඡේදයේ අරමුණයි.

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන්,

- පළාත් පාලන ආයතන හා ඒවායේ ව්‍යුහය
- පළාත් පාලන ආයතනවල අවශ්‍යතාව හා ඒවායින් තම ප්‍රදේශයට සපයන සේවා
- එම සේවා කාර්යක්ෂමව පවත්වාගෙන යාම සඳහා මහජනතාව විසින් ඉටු කළ යුතු යුතුකම්
- මහජන නියෝජිතයන් හා පළාත් පාලන ආයතනවලට සම්බන්ධ රජයේ නිලධාරීන් එම සේවා සැපයීම සම්බන්ධයෙන් ඉටු කළ යුතු යුතුකම් සහ
- ප්‍රාදේශීය සංවර්ධනය තුළින් ජාතික සංවර්ධනය සඳහා පළාත් පාලන ආයතනවලින් ලැබෙන දායකත්වය විමර්ශනය කිරීම වැනි අංශ පිළිබඳ දැනුම්වත් වීමට ඔබට අවස්ථාව ලැබෙනු ඇත.

## 4.1 පළාත් පාලන ආයතන

### 4.1.1 පළාත් පාලන ආයතන හඳුනා ගනිමු

එදින නිවාඩු දිනයකි. අචිනිගේ තාත්තා උදෑසන පත්තරය බලමින් සිටියේ ය. අචිනි තේ කෝප්පයක් ද රැගෙන තාත්තා වෙත පැමිණියා ය. තාත්තා බලමින් සිටි පුවත්පත වෙතට දෙනෙත් යොමු කළ අචිනි තාත්තා සමග කළ සංවාදයේ කොටසක් පහත දැක්වේ.

අචිනි - තාත්තේ අද පත්තරේ පළාත් පාලන ආයතන ගැන ගොඩක් විස්තර තියෙනවා නේද?.

තාත්තා - ආ... ඔව් දුව, පළාත් පාලන ආයතන ගැන තමයි මේ පිටු දෙකේ ම විස්තර තියෙන්නේ..

අචිනි - මොනවද තාත්තේ ඔය පළාත් පාලන ආයතන කියන්නේ ?

තාත්තා - ප්‍රාදේශීය පාලනය පහසු කරන්නයි ප්‍රාදේශීය අවශ්‍යතා ඉටු කරන්නයි පිහිටුවලා තියන ආයතන විශේෂය තමයි පළාත් පාලන ආයතන කියල කියන්නේ.

අචිනි - ආ එහෙනම් මේ ආයතන පිහිටුවල තියන්නේ අපේ ම පහසුව සඳහා නේද?

තාත්තා - ඔව් දුවේ, ඔයා මේ ලිපිය විවේකීව කියවල බලන්න. පළාත් පාලන ආයතන ගැන ගොඩක් තොරතුරු ඔයාට දැනගන්න පුළුවන් වේවි.

**පුවත්පතේ පළ වී තිබූ ලිපිය හොඳින් කියවා බැලූ අචිනි වැදගත් කරුණු කිහිපයක් සාරාංශ කර තිබුණේ මෙසේ ය.**

- පළාත් පාලන ආයතන මධ්‍යම රජයේ මග පෙන්වීම යටතේ ක්‍රියාත්මක වේ.
- ශ්‍රී ලංකාවේ පළාත් පාලන ආයතන මහ නගර සභා, නගර සභා සහ ප්‍රදේශීය සභා වශයෙන් ක්‍රියාත්මක වේ.
- මධ්‍යම ආණ්ඩුව විසින් විවිධ ආඥාපනත් හා පනත් මගින් ප්‍රාදේශීය පාලන කටයුතු පළාත් පාලන ආයතන වෙත පවරා ඇත.
- 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට සිදු කළ 13 වන සංශෝධනය මගින් පළාත් පාලන ආයතනවල පරිපාලනය අධීක්ෂණය කිරීමේ බලය පළාත් සභාවට පවරා ඇත.
- පළාත් පාලන ආයතනයක සංවිධාන ව්‍යුහය ඡන්දයෙන් තෝරාපත් කරගත් මහජන නියෝජිතයන්ගෙන් හා රජයේ නිලධාරීන්ගෙන් සමන්විත වේ.
- පළාත් පාලන ආයතන මධ්‍යම ආණ්ඩුවෙන් පනවන නියෝග මෙන් ම පළාත් සභාවෙන් පනවන නියෝග ද ක්‍රියාත්මක කිරීමට බැඳී සිටී.
- ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය තුළ මධ්‍යම ආණ්ඩුවේ පාලන කටයුතු වඩා පහසුවෙන් පවත්වාගෙන යාමටත්, ශුභසාධන සේවා ජනතාවට වඩාත් සමීප ව ක්‍රියාත්මක කිරීමටත් පළාත් පාලන ආයතන දායකත්වය සපයයි.
- ප්‍රාදේශීය සංවර්ධනය සඳහා පළාත් පාලන ආයතන විශාල සේවාවක් ඉටුකරයි.

ප්‍රජා සේවා පහසුවෙන් හා කාර්යක්ෂමව පවත්වාගෙන යාම සඳහා නාගරික, අර්ධ නාගරික හා ග්‍රාමීය මට්ටමෙන් ක්‍රියාත්මක වන ආයතන විශේෂය, පළාත් පාලන ආයතන ලෙස සරලව නිර්වචනය කළ හැකි ය.

### ක්‍රියාකාරකම 4.1



1. පළාත් පාලන ආයතන හැඳින්වීම සඳහා සරල නිර්වචනයක් ගොඩනගන්න.
2. ඔබ පදිංචි ප්‍රදේශය/ඔබේ පාසල පිහිටි ප්‍රදේශය අයත් වන පළාත් පාලන ආයතනය නම් කරන්න.

### 4.1.2 පළාත් පාලන ආයතනවල අවශ්‍යතාව

මහජනතාවට අවශ්‍ය සේවා කාර්යක්ෂමව හා ඵලදායීව පවත්වාගෙන යාම, පළාත් පාලන ආයතනවලින් ඉටු කරනු ලබන මූලික කාර්යභාරය වේ. පළාත් පාලන ආයතනවල අවශ්‍යතාව හඳුනා ගැනීම සඳහා පහත සටහන අධ්‍යයනය කරන්න.



## 4.1.3 පළාත් පාලනයේ ඓතිහාසික විකාශනය

ශ්‍රී ලංකාවේ නූතන පළාත් පාලන ආයතනවල ආරම්භය බ්‍රිතාන්‍ය යුගයේ දී සිදු විය. එහෙත් ඈත අතීතයේ සිට ප්‍රාදේශීය පාලනය පිළිබඳ සංකල්පය ශ්‍රී ලංකාවේ පාලන ක්‍රමය තුළ ක්‍රියාත්මක වූ බවට ඉතිහාසය සාක්ෂි දරයි.

බ්‍රිතාන්‍ය පාලන යුගයේ ආරම්භ වූ වැවිලි ආර්ථිකයත් සමග ඒවායේ සංවර්ධනය සඳහා යටිතල පහසුකම් (උදාහරණ : මාර්ග, පණිවුඩ හුවමාරු සේවා) සංවර්ධනය කිරීම ද අවශ්‍ය විය. ජන සංඛ්‍යා වර්ධනය, නාගරීකරණය, ජනතාවට අවශ්‍ය ශුභ සාධන සේවා සැපයීමේ අවශ්‍යතාව වැඩි වීම වැනි හේතු සාධක ද බ්‍රිතාන්‍ය පාලන යුගයේ දී විධිමත් පළාත් පාලන ආයතන පද්ධතියක් බිහි වීමට හේතු විය.

ඒ අනුව බ්‍රිතාන්‍ය පාලන යුගයේ පනවන ලද ආඥා පනත්, පළාත් පාලන ආයතන බිහි වීමට මෙන් ම ඒවායේ ක්‍රමික විකාශනයට ද බලපෑවේ ය.

බ්‍රිතාන්‍ය පාලන යුගයේ නිකුත් කරන ලද පළාත් පාලන ආයතන සම්බන්ධ ආඥා පනත් කිහිපයක් පහත දක්වා ඇත.

- ක්‍රි. ව. 1865 දී අංක 17 දරන මහනගර සභා ආඥාපනත මගින් කොළඹ, මහනුවර, ගාල්ල යන මහනගර සභා පිහිටුවීම
- ක්‍රි. ව. 1871 අංක 26 දරන ගම්කාර්ය සභා ආඥා පනත මගින් 1871 ගම්කාර්ය සභා පිහිටුවීම
- ක්‍රි. ව. 1939 අංක 61 දරන නගර සභා ආඥා පනත මගින් 1940 දී නගර සභා පිහිටුවීම
- 1946 අංක 03 දරන සුළු නගර සභා පනත මගින් 1946 දී සුළු නගර සභා පිහිටුවීම

**ශ්‍රී ලංකාවේ මුලින් ම ආරම්භ කළ මහනගර සභා**



කොළඹ මහනගර සභාව



ගාල්ල මහනගර සභාව



මහනුවර මහනගර සභාව

නිදහස ලැබීමෙන් පසු ශ්‍රී ලංකාවේ පහත සඳහන් පළාත් පාලන ආයතන ක්‍රියාත්මක විය.

1. ගම්සභා
2. සුළුනගර සභා
3. නගර සභා
4. මහනගර සභා

1980 අංක 35 දරන දිස්ත්‍රික් සංවර්ධන සභා පනත මගින්,

- ගම්සභා සහ සුළුනගර සභා අහෝසි කර දිස්ත්‍රික් සංවර්ධන සභා පිහිටුවීමත්,
- දිස්ත්‍රික් සංවර්ධන සභාවල සහභාගිත්වය වැඩි කිරීමට ග්‍රාමෝදය මණ්ඩල හා ප්‍රාදේශීය මණ්ඩල පිහිටුවීමත් සිදු කරන ලදි.

1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනත මගින් දිස්ත්‍රික් සංවර්ධන සභා අහෝසි කර ප්‍රාදේශීය සභා පිහිටුවන ලදි.

ඒ අනුව 1987න් පසු ශ්‍රී ලංකාවේ,

- ප්‍රාදේශීය සභා
- නගර සභා
- මහ නගර සභා

යන පළාත් පාලන ආයතන ක්‍රියාත්මක වේ.

## ක්‍රියාකාරකම 4.2



''නිදහසින් පසු ශ්‍රී ලංකාවේ පළාත් පාලනයේ සිදු වූ වෙනස්කම්'' මැයෙන් බිත්ති පුවත්පතක පළ කිරීමට සුදුසු ලිපියක් සකස් කරන්න.

**පළාත් පාලන අමාත්‍යාංශයේ මූලාශ්‍රය අනුව 2017.05.01 දිනට ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වන පළාත් පාලන ආයතන**

| පළාත | දිස්ත්‍රික්ක | මහනගර සභා | නගර සභා | ප්‍රාදේශීය සභා | එකතුව |
|---|---|---|---|---|---|
| බස්නාහිර | කොළඹ | 05 | 05 | 03 | 13 |
| | ගම්පහ | 02 | 05 | 12 | 19 |
| | කළුතර | | 04 | 12 | 16 |
| මධ්‍යම | මහනුවර | 01 | 04 | 17 | 22 |
| | මාතලේ | 02 | - | 11 | 13 |
| | නුවරඑළිය | 01 | 02 | 05 | 08 |
| දකුණ | ගාල්ල | 01 | 02 | 17 | 20 |
| | මාතර | 01 | 01 | 15 | 17 |
| | හම්බන්තොට | 01 | 01 | 10 | 12 |
| උතුර | යාපනය | 01 | 03 | 13 | 17 |
| | මන්නාරම | - | 01 | 04 | 05 |
| | වව්නියා | - | 01 | 04 | 05 |
| | මුලතිව් | - | - | 04 | 04 |
| | කිලිනොච්චි | - | - | 03 | 03 |
| නැගෙනහිර | මඩකලපුව | 01 | 02 | 09 | 12 |
| | අම්පාර | 02 | 01 | 17 | 20 |
| | ත්‍රිකුණාමලය | - | 02 | 11 | 13 |
| වයඹ | කුරුණෑගල | 01 | 01 | 19 | 21 |
| | පුත්තලම | - | 02 | 10 | 12 |
| උතුරු මැද | අනුරාධපුර | 01 | - | 18 | 19 |
| | පොළොන්නරුව | - | - | 07 | 07 |
| ඌව | බදුල්ල | 02 | 01 | 15 | 18 |
| | මොනරාගල | - | - | 10 | 10 |
| සබරගමුව | රත්නපුර | 01 | 02 | 14 | 17 |
| | කෑගල්ල | - | 01 | 11 | 12 |
| එකතුව | | 23 | 41 | 271 | 335 |

### 4.1.4 පළාත් පාලන ආයතනවල ව්‍යුහය

පළාත් පාලන ආයතන මහජන නියෝජිතයන්ගෙන් සහ රාජ්‍ය නිලධාරීන්ගෙන් සමන්විත ය. එම ආයතනවල කටයුතු කාර්යක්ෂමව හා ඵලදායීව ඉටු කර ගැනීම සඳහා රාජ්‍ය නිලධාරීන්ගෙන් යුත් කාර්ය මණ්ඩලයක් පත් කර තිබේ. පළාත් පාලන ආයතනවල සංවිධාන ව්‍යුහයට අදාළ මූලික ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- පළාත් පාලන ආයතනයේ ප්‍රධානියා මහජන නියෝජිතයෙකි.
- රාජ්‍ය නිලධාරීහු පරිපාලන කටයුතු මෙහෙයවීම සිදු කරති.
- පළාත් පාලන ආයතනයේ කටයුතු සම්බන්ධ තීන්දු තීරණ ගැනීම මහජන නියෝජිතයන් මගින් සිදු කෙරේ.

### පළාත් පාලන ආයතනවල ප්‍රධානීන්

| ආයතනය → / තනතුර ↓ | මහනගර සභාව | නගර සභාව/ප්‍රාදේශීය සභාව |
|---|---|---|
| ප්‍රධානියා | නගරාධිපති/ පුරපති | සභාපති |
| උපප්‍රධානියා | උපනගරාධිපති | උපසභාපති |
| පරිපාලන නිලධාරී | නාගරික කොමසාරිස් | ලේකම් |

එක් එක් පළාත් පාලන ආයතනයක මහජන නියෝජිතයන්ගේ හා රාජ්‍ය නිලධාරීන්ගේ සැකැස්ම පහත පරිදි වේ.

ප්‍රාදේශීය සභාවක ව්‍යුහය




උදා :- කාර්මික නිලධාරීන්
කළමනාකරණ සහකාර
රියැදුරු
සුළු සේවක
කම්කරු

නගර සභාවක ව්‍යුහය




මෙම මූලික සැලැස්ම ඒ ඒ නගර සභාව අනුව වෙනස් විය හැකි ය.

**මහනගර සභාවක සංවිධාන ව්‍යුහය**



## ක්‍රියාකාරකම 4.3



1. ඔබ පාසල පිහිටි ප්‍රදේශය/ ඔබ පදිංචි ප්‍රදේශය අයත් වන පළාත් පාලන ආයතනයේ සංවිධාන ව්‍යුහය ගුරුතුමියගේ සහයෝගය ඇතිව කණ්ඩායම් ක්‍රියාකාරකමක් ලෙස ඇඳ දක්වන්න.
2. ඔබ ප්‍රදේශයේ පළාත් පාලන ආයතනයේ සංවිධාන ව්‍යුහය පෙළපොතේ දක්වා ඇති ව්‍යුහය සමග සසඳන්න.

**පළාත් පාලන ආයතනයක ප්‍රධානියා සතු බලතල :**

1. සභාව කැඳවීම හා කල් තැබීම
2. සභාවේ මුලසුන දැරීම
3. මහජන උපයෝගිතා සේවා සැපයීමට මුල් වීම
4. පළාත් පාලන ආයතනය සතු කටයුතු සංවිධානය කිරීම සහ මෙහෙයවීම

- මහනගර සභාවක නාගරික කොමසාරිස් ධුරයට ශ්‍රී ලංකා පරිපාලන සේවයේ නිලධාරියකු, අදාළ පළාත් සභාවේ ආණ්ඩුකාරතුමා විසින් පත් කරනු ලැබේ.
- නගර සභාවක/ප්‍රාදේශීය සභාවක ලේකම් තනතුර සඳහා රාජ්‍ය කළමනාකරණ සේවයේ අධිශ්‍රේණියේ නිලධාරියකු, පළාත් රාජ්‍ය සේවා කොමිෂන් සභාව විසින් පත් කරනු ලැබේ.

පළාත් පාලන ආයතනවල ධුර කාලය අවසන් වූ විට මැතිවරණයක් පැවැත්වෙන තෙක් අදාළ නාගරික කොමසාරිස් හෝ ලේකම් හෝ පළාත් පාලන ආයතනය මෙහෙයවයි. නැතහොත් විශේෂ නිලධාරියෙකු වෙත පාලන බලතල පවරා දීම සිදු කෙරේ.

පළාත් පාලන ආයතන මගින් අදාළ සේවා ඉටු කිරීමේ දී එම ආයතනවලට බලතල රාශියක් හිමි වී තිබේ. ඒවාට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- වරිපනම් බදු ඇතුළු අනෙකුත් බදු පැනවීමට
- වීථි රේඛා සහතික නිකුත් කිරීමට
- නිවාස සැලසුම් අනුමත කිරීමට
- ස්ථිර ගොඩනැගිලි හා වෙනත් ඉදිකිරීම් සඳහා අවසර දීමට
- අනවසර ඉදිකිරීම් ඉවත් කිරීමට
- පරිසර සංරක්ෂණයට අදාළ කටයුතු ක්‍රියාත්මක කිරීමට
- ප්‍රසිද්ධ මාර්ග, වීථි ඇළ මාර්ග, පාලම්, පොදු වෙළෙඳ පොළ, බෙහෙත් ශාලා, පුස්තකාල, උද්‍යාන ආදිය ඉදිකිරීමට හා නඩත්තු කිරීමට
- බෝවන රෝග වැළැක්වීමට අවශ්‍ය ක්‍රියාමාර්ග ගැනීමට
- අනවසර මුඩුක්කු, පැල්පත් හා සෞඛ්‍යයට හානි කරන ස්ථාන ඉවත් කිරීමට
- ස්වාභාවික ජල උල්පත් හා ජලාශ පිළිබඳ අයිතිය පවත්වා ගැනීමට

ඉහත බලතල නිසි පරිදි ක්‍රියාත්මක කිරීම, මහජන ශුභසිද්ධියට හා ප්‍රදේශයේ සංවර්ධනයට බෙහෙවින් උපකාරී වේ. පළාත් පාලන ආයතන ඉටු කරන විවිධ සේවා ක්‍රියාත්මක කිරීම සඳහා මුදල් උපයා ගැනීම විවිධ ක්‍රමවලට සිදු වේ. ඒවාට නිදසුන් කිහිපයක් පහත දක්වා ඇත.

**පළාත් පාලන ආයතන මූල්‍ය සම්පත් උපයා ගන්නා ආකාරය සඳහා නිදසුන්**

- වරිපනම්/ බදු මුදල්
- පළාත් පාලන අමාත්‍යවරයා විසින් පළාත් පාලන ආයතනවලට වෙන් කරනු ලබන ප්‍රදාන
- පළාත් පාලන ආයතනය සතු දේපළ බදු දීම්වලින්/ කුලියට දීමෙන් ලැබෙන මුදල්

  (උදා : නගර ශාලා, කඩ, සාප්පු ආදිය)
- පොදු සේවා සැපයීමෙන් ලැබෙන ආදායම්
- නීති කඩකිරීම සම්බන්ධයෙන් මහේස්ත්‍රාත් අධිකරණය මගින් අය කරන දඩ මුදල්වලින් ලැබෙන ප්‍රතිපාදන
- ශ්‍රී ලංකා පාර්ලිමේන්තුවේ හා අදාළ සභාවේ අනුමැතිය ඇතිව විදේශ රාජ්‍යවලින් ආධාරමය වශයෙන් ලැබෙන පරිත්‍යාග හා රාජ්‍ය නොවන සංවිධානවලින් ලැබෙන පරිත්‍යාග

## පළාත් පාලන ආයතනවලට නියෝජිතයන් පත් කිරීම

- අදාළ පළාත් පාලන බල ප්‍රදේශයේ ඡන්ද දායකයන්ගේ ඡන්දයෙන් සමානුපාතික නියෝජන ක්‍රමය යටතේ නියෝජිතයන් තෝරා පත් කර ගැනීම මෙතෙක් සිදු විය. 2012 අංක 22 දරන පළාත් පාලන ඡන්ද විමසීම් සංශෝධන පනත මේ වන විට සම්මත කර ඇත. ඒ අනුව පළාත් පාලන ආයතන සඳහා මෙතෙක් පැවති ඡන්ද විමසීමේ ක්‍රමය වෙනස් කිරීමට නියමිත ය.
- ඒ අනුව ඡන්ද කොට්ඨාස මට්ටමින් කේවල (තනි) නියෝජන ක්‍රමය හා සමානුපාතික නියෝජන ක්‍රමය යන ක්‍රම දෙක පදනම් කරගෙන පළාත් පාලන ආයතනවලට නියෝජිතයන් තෝරාපත් කර ගැනීමට යෝජිත ය.

## පළාත් පාලන ආයතනවල සීමා නිර්ණය කිරීම

පළාත් පාලන ආයතනවල සීමා නිර්ණය කිරීම ජාතික සීමා නිර්ණය කිරීමේ කමිටුවක් විසින් සිදු කෙරේ. ඒ අනුව පළාත් පාලන ආයතන සීමා නිර්ණය කිරීමේ දී සැලකිල්ලට ගනු ලබන නිර්ණායක පහත දක්වා ඇත.

- ජන වාර්ගික ජනගහන අනුපාතය
- භූගෝලීය ප්‍රදේශය හා එහි භෞතික ලක්ෂණ
- ජනගහනය හා ජන ඝනත්වය
- ආර්ථික සංවර්ධන මට්ටම

පළාත් පාලන ආයතන බල ප්‍රදේශ සීමා නිර්ණය කිරීමට අනුව කොළඹ දිස්ත්‍රික්කයේ පළාත් පාලන ආයතන බල ප්‍රදේශය දැක්වෙන සිතියම පහත දැක්වේ.






## ක්‍රියාකාරකම 4.4



1. පළාත් පාලන ආයතන සඳහා නියෝජිතයන් තෝරා පත් කර ගන්නා ආකාරය පිළිබඳව පන්ති භාර ගුරුතුමා/ගුරුතුමිය සමග සාකච්ඡා කර තොරතුරු සොයා කෙටි වාර්තාවක් ඉදිරිපත් කරන්න.

2. පළාත් පාලන ආයතන සඳහා නියෝජිතයන් තෝරා පත් කර ගැනීමට වඩාත් සුදුසු වන්නේ සමානුපාතික නියෝජන ක්‍රමය ද, නැතිනම් කොට්ඨාස ක්‍රමය හා සමානුපාතික නියෝජන ක්‍රම දෙක පදනම් කරගත් මිශ්‍ර නියෝජන ක්‍රමය ද, යන මාතෘකා තෝරාගෙන පන්ති භාර ගුරුතුමා/ගුරුතුමියගේ මගපෙන්වීම යටතේ විවාදයක් පවත්වන්න.

## 4.2 පළාත් පාලන ආයතනවලින් ඉටු කෙරෙන සේවා

පුරවැසි අධ්‍යාපන විෂය යටතේ 9 ශ්‍රේණියේ ශිෂ්‍ය ශිෂ්‍යාවන්ට එදින ඉගෙනීමට නියමිතව තිබුණේ "පළාත් පාලන ආයතනවලින් ඉටු වන සේවා" පිළිබඳව ය. ඒ පිළිබඳ කරුණු සාකච්ඡා කිරීම සඳහා පන්ති භාර ගුරුතුමාගේ ආරාධනය පිළිගෙන, ප්‍රාදේශීය සභාවේ නිලධාරියකු වූ අනිල් මහතා නියමිත වේලාවට පන්තියට පැමිණ සිටියේ ය.

අනිල් මහතා පළාත් පාලන ආයතනවලින් ඉටු වන සේවා පිළිබඳව පන්තියේ ශිෂ්‍ය ශිෂ්‍යාවන් සමග කළ සංවාදයේ කොටසක් පහත දැක්වේ.

අනිල් මහතා : ප්‍රදේශවාසීන්ටත්, විශේෂයෙන් පාසල් ළමුන්ටත් ප්‍රයෝජනවත් වන සේවා රැසක් පළාත් පාලන ආයතන මගින් සපයනවා.

පුස්තකාල, කියවීම් ශාලා, ළමා උද්‍යාන, ක්‍රීඩා පිටි, ව්‍යායාම සඳහා ඇවිදීමේ මංතීරු පවත්වා ගෙනයාම වැනි සේවා උදාහරණ ලෙස දක්වන්න පුළුවන්.

පූර්ව ළමා විය සංවර්ධන මධ්‍යස්ථාන ආදියත් පළාත් පාලන ආයතන මගින් පවත්වාගෙන යනවා.

ඒ වගේ ම පොදු වැදගත්කමකින් යුත් ආගමික හා සංස්කෘතික වැඩසටහන් ක්‍රියාත්මක කිරීමටත් පළාත් පාලන ආයතන දායක වෙනවා.



පුස්තකාල සේවය



කියවීම් ශාලාව



ළමා උද්‍යානයක්



ව්‍යායාම සඳහා ඇවිදීමේ මං තීරු



පෙරපාසලක්

ෆාතිමා (ශිෂ්‍යාවක්) : මාර්ග අලුත්වැඩියා කරන්නෙත් පළාත් පාලන ආයතන මගින් ද?

අනිල් මහතා : ඔව්, පළාත් පාලන ආයතනයේ බල ප්‍රදේශයට අයත් මාර්ග අලුත්වැඩියා කිරීම, පාලම් හා බෝක්කු ආදිය ඉදිකිරීම, අලුතෙන් මාර්ග තැනීම වැනි සේවාවනුත් ඉටු කරනවා. වීථි ආලෝක කිරීමත් පළාත් පාලන ආයතන මගින් සිදු කරනවා.



ප්‍රාදේශීය මාර්ග නඩත්තු කටයුතු

සඳරේකා (ශිෂ්‍යයෙක්) : පළාත් පාලන ආයතනවලින් සැපයෙන වෙනත් සේවා මොනවාද ?

අනිල් මහතා : සෞඛ්‍ය හා සනීපාරක්ෂක සේවා සැපයීම පළාත් පාලන ආයතනවලින් ඉටු කරන ප්‍රධාන සේවාවක්. මේ යටතේ ජලාපවහන හා මලාපවහන පද්ධති නිසි පරිදි පවත්වා ගෙනයාම, කාණු හා ඇළ මාර්ග නඩත්තු කිරීම පොදු වැසිකිළි පවත්වාගෙන යාම ආදී වටිනා සේවා රාශියක් ඉටු කරනු ලබනවා.



මලාපවාහන ගලි සේවය

අමිල (ශිෂ්‍යයෙක්) ඃ කසළ කළමනාකරණය පළාත් පාලන ආයතනවලින් සිදු කරන සේවාවක් නේද ?

අනිල් මහතා ඃ ඔව්, කසළ නිසි පරිදි කළමනාකරණය කිරීම පළාත් පාලන ආයතනවලින් ඉටු කරන ඉතා වැදගත් සේවාවක්. කසළ නිසි පරිදි බැහැර කිරීම, කසළ ප්‍රතිචක්‍රීකරණ ව්‍යාපෘති ක්‍රියාත්මක කිරීම ආදී කාර්ය පළාත් පාලන ආයතන මගින් ඉටු කරනවා.



**ප්‍රතිචක්‍රීකරණය සඳහා කසළ එක්රැස් කිරීම**

රවී ඃ සෞඛ්‍යයට අහිතකර ද්‍රව්‍ය විකිණීම වැළැක්වීමටත් පළාත් පාලන ආයතන කටයුතු කරනවා නේද ?

අනිල් මහතා ඃ ඔව් ඔව් බොහොම ස්තුතියි, ඒ ගැන මතක් කළාට. සෞඛ්‍යයට අහිතකර දේවල් විකුණන එක ගැන විතරක් නෙවෙයි, එවැනි දේවල් ගැන ප්‍රචාරය කිරීම වැළැක්වීමටත් කටයුතු කරනවා. පළාත් පාලන ආයතන මගින් සපයන තවත් සේවා ගොඩක් තියෙනවා.

පොදු සුසාන භූමි, ආදාහනාගාර නඩත්තු කිරීම, පොදු නාන ළිං පවත්වාගෙන යාම, ප්‍රාදේශීය අවශ්‍යතා අනුව ජල පහසුකම් සැපයීම ආදිය සිදු කරනවා. ගිනි නිවීමේ සේවා ආදී සේවා සැපයීමත් පළාත් පාලන ආයතන මගින් ඉටු කරන සේවාවක්.


**පොදු ළිඳ**


**ගිනි නිවීමේ සේවය**

මලිති (ශිෂ්‍යාවක්) ඃ අපේ ප්‍රාදේශීය සභාවෙන් අපේ ගමේ සායනයක් සංවිධානය කරල තිබුණා.

අනිල් මහතා : ඔව් ඔව් අක්ෂි සායන, ළදරු සායන, මාතෘ සායන, ඩෙංගු වැනි වසංගත රෝග මර්දන වැඩසටහන්, බෝ නොවන රෝග මර්දන වැඩසටහන් ආදියත් පළාත් පාලන ආයතන මගින් පවත්වනවා. ආයුර්වේද බෙහෙත් ශාලා මගින් වෛද්‍ය සේවා සැපයීමත් සිදු කරනවා. ඒ විතරක් නොවෙයි. වැඩිහිටියන් සඳහා සමාජ ආරක්ෂණ ව්‍යාපෘති ආදියත් ක්‍රියාත්මක කරනවා.



ඩෙංගු පාලන වැඩසටහනක්



මාතෘ සායන



ග්‍රාමීය වෛද්‍ය සායනයක්

අචිනි (ශිෂ්‍යාවක්) : ප්‍රදේශයේ සංවර්ධනය සඳහා පළාත් පාලන ආයතන මගින් සිදු කරනු ලබන තවත් වැඩසටහන් තියෙනවා ද ?

අනිල් මහතා : ජල මාර්ග සංවර්ධනය, සුළු වාරි මාර්ග සංවර්ධනය ආදිය මගින් ආර්ථික දියුණුවටත් දායක වෙනවා. ඒ විතරක් නෙවෙයි, පරිසර සංරක්ෂණ වැඩසටහන් පවත්වාගෙන යාමත් පළාත් පාලන ආයතන මගින් සිදු කරනු ලබනවා.

පළාත් පාලන ආයතනවලින් සිදු වන සේවා ඉතා හොඳින් පැහැදිලි කරදීම පිළිබඳව පන්ති නායක අසිත, අනිල් මහතාට ස්තුති කළේ මෙසේ යඃ

අප මෙතෙක් දැනගෙන හිටියෙ නැහැ, මෙතරම් විශාල සේවයක් පළාත් පාලන ආයතනවලින් සිදු වෙනවා කියල. හරි ම අපූරුවට ඔබතුමා ඒ ගැන අපට කියල දුන්න. පරිසරය පිරිසිදුව තියා ගන්න, එදිනෙදා කටයුතු පහසු කරගන්න අපට උපතේ සිට මරණය දක්වා වූ විවිධ අවස්ථාවල දී විශාල සේවයක් පළාත් පාලන ආයතනවලින් ඉටු වෙනවා. පළාත් පාලන ආයතනවල සේවය කරන හැමෝම අප වෙනුවෙන්, රට වෙනුවෙන් විශාල සේවයක් කරන බව අපට දැන් පැහැදිලියි. ඒ ගැන අපිට හරි ම සතුටුයි. අපිව දැනුම්වත් කරන්න පැමිණීම වෙනුවෙන් හා අප සමග සුහදව සංවාදයක් පැවැත්වීම ගැන අපේ ආදරයත්, ගෞරවයත් ඔබතුමාට පුද කරන්න කැමතියි.

## ක්‍රියාකාරකම 4.5



1. පළාත් පාලන ආයතන මගින් සපයනු ලබන පහත දැක්වෙන සේවා ප්‍රදේශයේ මානව සම්පත සංවර්ධනය සඳහා දායක වන අයුරු විෂයභාර ගුරුතුමා/තුමිය සමග සාකච්ඡා කරන්න
   - පුස්තකාලය හා කියවීම් ශාලා පවත්වාගෙන යාම
   - ක්‍රීඩා පිට්ටනි පවත්වාගෙන යාම
   - වෛද්‍ය සායන පැවැත්වීම
2. ඩෙංගු රෝගය මර්දනය කිරීම සඳහා ඔබ ප්‍රදේශයේ පළාත් පාලන ආයතනයට ක්‍රියාත්මක කළ හැකි වැඩසටහන් කිහිපයක් යෝජනා කරන්න

## 4.3 පළාත් පාලන ආයතනවල සේවා සම්බන්ධයෙන් මහජනතාව විසින් ඉටු කළ යුතු යුතුකම්

පළාත් පාලන ආයතනවලින් සපයන සේවා උපරිම ලෙස ප්‍රයෝජනයට ගනිමින් තම ජීවන තත්ත්වය උසස් කර ගැනීමට මහජනතාවට අයිතියක් තිබේ. එමෙන් ම ලබා ගන්නා එම සේවා වෙනුවෙන් තම යුතුකම් නොපිරිහෙලා ඉටු කිරීම ද **සේවාලාභීන්ගේ යුතුකමකි.**

**මහජනතාව (සේවාලාභීන්) විසින් ඉටු කළ යුතු යුතුකම්වලට උදාහරණ කිහිපයක් පහත දැක්වේ.**

- කලට වේලාවට නියමිත බදු ගෙවීම
- සපයන සේවා සඳහා නිසි පරිදි බිල්පත් ගෙවීම
- කසළ හා අපද්‍රව්‍ය නිසි ලෙස බැහැර කිරීම හා කසළ කළමනාකරණය සඳහා පළාත් පාලන ආයතනවලින් ලබා දෙන උපදෙස් අනුව කටයුතු කිරීම
- පරිසරය පිරිසිදුව තබා ගැනීම හා පරිසර සංරක්ෂණ කටයුතු සඳහා දායක වීම
- පොදු දේපළ ආරක්ෂා කිරීම හා අරපිරිමැස්මෙන් යුතුව ප්‍රයෝජනයට ගැනීම
- ඉදිකිරීම් වැනි කටයුතුවල දී නීත්‍යානුකූල අනුමැතිය ලබා ගැනීම
- පළාත් පාලන ආයතනයට සම්බන්ධ මහජන නියෝජිතයන් හා නිලධාරීන් සමග සහයෝගයෙන් කටයුතු කිරීම
- ප්‍රාදේශීය අවශ්‍යතා පිළිබඳව මහජන නියෝජිතයන් සහ නිලධාරීන් දැනුම්වත් කිරීම
- සේවා බිඳවැටීම්වල දී හෝ හදිසි අවස්ථාවල දී නඩත්තු කටයුතු පිළිබඳව දැනුම්වත් කිරීම

## 4.4 පළාත් පාලන ආයතනවල සේවා ඉටු කිරීම සම්බන්ධයෙන් මහජන නියෝජිතයන්ගෙන්/රාජ්‍ය නිලධාරීන්ගෙන් ඉටු විය යුතු වගකීම් හා යුතුකම්

පළාත් පාලන ආයතන මගින් සපයන සේවා ජන ජීවිතය යහපත් කර ගැනීමට හේතු වන ආකාරය පිළිබඳව අධ්‍යයනය කිරීමට මෙම පරිච්ඡේදයෙන් ඔබට අවස්ථාව ලැබුණි. පළාත් පාලන ආයතනවලට සම්බන්ධ මහජන නියෝජිතයන් මෙන් ම, රාජ්‍ය නිලධාරීන් ද තම වගකීම් හා යුතුකම් මැනවින් ඉටු කිරීම, මහජනතාව වෙනුවෙන් ප්‍රශස්ත මට්ටමේ සේවාවක් සැපයීමට අත්‍යවශ්‍ය වේ.

**මහජන නියෝජිතයන්ගෙන්/ නිලධාරීන්ගෙන් ඉටු විය යුතු වගකීම් හා යුතුකම්**

| වගකීම් | යුතුකම් |
|---|---|
| ▪ ප්‍රදේශයේ සම්පත් හඳුනා ගැනීම<br>▪ මහජන ගැටලු හා අවශ්‍යතා හඳුනා ගැනීම<br>▪ සංවර්ධන උපාය මාර්ග හඳුනා ගැනීම<br>▪ සැලසුම් සකස් කිරීමට අවශ්‍ය සහාය ලබා දීම<br>▪ අවශ්‍යතා සැලකිල්ලට ගෙන තීරණ ගැනීම<br>▪ තීරණ ක්‍රියාත්මක කිරීමේ දී සොයා බැලීම<br>▪ නීතිරීතිවලට අනුකූලව කටයුතු කිරීම<br>▪ නායකත්වය සැපයීම<br>▪ වංචා, දූෂණ හා අල්ලස් ආදියට එරෙහිව කටයුතු කිරීම<br>▪ රාජ්‍ය සේවා හා පොදු දේපළ අයථා ලෙස පරිහරණය කිරීම වැළැක්වීමට කටයුතු කිරීම<br>▪ සංවර්ධන කටයුතු නිසි පරිදි අධීක්ෂණය කිරීම<br>▪ තමන්ට අයත් රාජකාරි නිසි ලෙස ඉටු කිරීම | ▪ මහජන දුක්ගැනවිලිවලට සවන් දීම<br>▪ මහජනතාව සමග සමීප සබඳතා පවත්වාගෙන යාම<br>▪ රැස්වීම්වලට සහභාගි වීම<br>▪ වංචා, දූෂණ හා අල්ලස් වළක්වාලීම<br>▪ මහජන ශුභසිද්ධිය වෙනුවෙන් කැපවීමෙන් කටයුතු කිරීම<br>▪ අවංක වීම<br>▪ ජනතාවට ප්‍රිය මනාප ස්ථානයක් බවට ආයතනය පත් කිරීම<br>▪ මහජන අවශ්‍යතා කාර්යක්ෂමව ඉටු කිරීම<br>▪ පොදු දේපළ හා රාජ්‍ය සේවා අයථා ලෙස පරිහරණය කිරීමෙන් වැළකීම<br>▪ ඉහළ ප්‍රමිතියකින් යුතුව සේවය සැපයීම |

## ක්‍රියාකාරකම 4.6



1. පළාත් පාලන ආයතනවලට සම්බන්ධ මහජන නියෝජිතයකු/රාජ්‍ය නිලධාරියකු විසින් ඉටු කළ යුතු යුතුකම් කිහිපයක් පහත වගුවේ I තීරුවේ සඳහන් කර ඇත. තම දෛනික රාජකාරි/ සේවා ඉටු කිරීමේ දී එම යුතුකම් ඉටු කිරීම සඳහා අනුගමනය කළ යුතු පිළිවෙත් II තීරුවේ සටහන් කරන්න.

| I තීරුව | II තීරුව |
|---|---|
| **මහජන නියෝජිතයන් හා රාජ්‍ය නිලධාරීන් විසින් ඉටු කළ යුතු යුතුකම්** | **දෛනිකව තම සේවා/ රාජකාරි ඉටු කිරීමේ දී යුතුකම් ඉටු කිරීම සඳහා අනුගමනය කළ යුතු පිළිවෙත්** |
| මහජනතාව සමග සමීප සබඳතා පැවැත්වීම | |
| මහජන අවශ්‍යතා කාර්යක්ෂමව ඉටු කිරීම | |
| රාජ්‍ය දේපළ අයථා ලෙස පරිහරණය කිරීමෙන් වැළකීම | |
| මහජන ශුභසිද්ධිය වෙනුවෙන් කැපවීමෙන් කටයුතු කිරීම | |

## 4.5 ජාතික සංවර්ධනය සඳහා පළාත් පාලන ආයතනවල දායකත්වය

ප්‍රාදේශීය වශයෙන් සිදු වන සංවර්ධන ක්‍රියාවලියේ අග්‍රඵලය වන්නේ රටක සමාජීය, ආර්ථික හා සංස්කෘතික ආදී සෑම අංශයක ම ඇති වන සමස්ත සංවර්ධනයයි. සංවර්ධන වැඩසටහන් ක්‍රියාත්මක කිරීමේ දී පාරිසරික සමතුලිතතාව ආරක්ෂා කරගැනීම ද කාලීන අවශ්‍යතාවක් බවට පත්ව තිබේ. ප්‍රාදේශීය සංවර්ධනය සඳහා ඍජුව ම දායක වන ආයතන විශේෂය වන්නේ පළාත් පාලන ආයතනයි. ප්‍රාදේශීය සංවර්ධනය තුළින් ජාතික සංවර්ධනය සඳහා ක්‍රියාත්මක වීමේ දී පළාත් පාලන ආයතන විසින් අවධානය යොමු කළ යුතු කරුණු කිහිපයක් නිදසුන් ලෙස පහත දක්වා ඇත.

i. ප්‍රාදේශීය අවශ්‍යතා හා සම්පත් හඳුනා ගැනීම
ii. ප්‍රාදේශීය අවශ්‍යතා ඉටු කිරීම සඳහා සම්පත් හඳුනාගෙන ඊට ගැළපෙන ලෙස සැලසුම් සකස් කිරීම
iii. සැලසුම් නිසි පරිදි ක්‍රියාත්මක කිරීම
iv. ප්‍රාදේශීය නායකයන් බිහි කිරීම

ඉහත කරුණු පිළිබඳව කෙටි විස්තරයක් පහත දැක්වේ.

### i. ප්‍රාදේශීය අවශ්‍යතා හඳුනා ගැනීම

එක් එක් ප්‍රදේශවල ජීවත් වන ජනතාවට විශේෂ වූ අවශ්‍යතා ප්‍රාදේශීය අවශ්‍යතා ලෙස හැඳින්විය හැකි ය. එවැනි අවශ්‍යතා විවිධ වේ. එම විවිධත්වයට බලපාන කරුණු රාශියකි.

එක් එක් ප්‍රදේශවල පවත්නා,

- සම්පත්වල ව්‍යාප්තිය
- සංස්කෘතික විවිධත්වය
- භූගෝලීය පසුබිම යන සාධක ප්‍රාදේශීය අවශ්‍යතා විවිධ වීමට බලපා තිබේ.

ඒ අනුව එක් එක් ප්‍රදේශවලට විශේෂ වූ විවිධ අවශ්‍යතා හඳුනා ගැනීම පළාත් පාලන ආයතනවලට පැවරෙන ප්‍රබල වගකීමකි. ඒ අනුව ප්‍රාදේශීය අවශ්‍යතාවලට උදාහරණ කිහිපයක් පහත දක්වා ඇත.

- වියළි කලාපීය ප්‍රදේශයක ජීවත් වන ජනතාවට පානීය ජලය සැපයීම
- නාගරික ප්‍රදේශවල කසළ බැහැර කිරීම හා කසළ නිසි පරිදි කළමනාකරණය කිරීම
- ග්‍රාමීය ප්‍රදේශවල යටිතල පහසුකම් සංවර්ධනය කිරීම
- නාගරික හා ග්‍රාමීය ප්‍රදේශවල ජනතාවට විවේකය අර්ථවත්ව ගත කිරීම සඳහා පහසුකම් සැපයීම
  (පුස්තකාල සේවා, ක්‍රීඩා පිට්ටනි, ඇවිදීම සඳහා මංතීරු, ළමා උද්‍යාන ආදිය)
- අඩු ආදායම්ලාභීන් සඳහා නිවාස පහසුකම් සැපයීම
- වීථි ආලෝක කිරීම
- ළමා සංවර්ධනය සඳහා පූර්ව ළමාවිය සංවර්ධන මධ්‍යස්ථාන පවත්වාගෙන යාම
- ඩෙංගු වැනි වසංගත රෝග බෝවීමේ අවදානම පවතින ප්‍රදේශවල එය මර්දනය කිරීමට පියවර ගැනීම

### ii. ප්‍රාදේශීය අවශ්‍යතා හා සම්පත් හඳුනා ගෙන ඊට ගැළපෙන පරිදි සැලසුම් සකස් කිරීම

**ජල සම්පාදනය**

ජල හිඟයක් පවතින ප්‍රදේශවලට ජල සම්පාදන යෝජනා ක්‍රමයක් සැලසුම් කිරීමේ දී අනුගමනය කළ යුතු පියවර

උදාහරණ ඃ

- පානීය ජල හිඟයක් පවතින ප්‍රදේශවලට ජලය සැපයීම සඳහා සුදුසු ජල මූලාශ්‍රය හඳුනා ගැනීම
- ජාතික මට්ටමේ ජල සම්පාදන යෝජනා ක්‍රම මගින් ජලය සපයා ගැනීමට ඇති හැකියා පිළිබඳව සොයා බැලීම
- ජල යෝජනා ක්‍රමය සඳහා මුදල් ලබා ගැනීමේ ක්‍රමවේද සැලසුම් කිරීම
- තාක්ෂණික සහාය ලබා ගැනීම



නළ ළිං ස්ථාපිත කිරීම




බවුසර් මගින් පානීය ජලය බෙදා හැරීම

**කසළ බැහැර කිරීම**

- නිවාස ආශ්‍රිතව කොම්පෝස්ට් පොහොර නිපදවීම සඳහා බඳුන් සැපයීම හා අවශ්‍ය උපදෙස් ලබා දීම
- කසළ වර්ග කර බැහැර කිරීමට සැලැස්වීම
- කසළ බඳුන් සැපයීම
- කසළ එක්රැස් කිරීම
- ප්‍රතිචක්‍රීකරණ වැඩසටහන් සැලසුම් කිරීම
- කාබනික පොහොර නිෂ්පාදනය සඳහා සැලසුම් සකස් කිරීම
- කසළ නිසි පරිදි බැහැර කිරීමේ නෛතික හා සදාචාරාත්මක යුතුකම් පිළිබඳව ජනතාව දැනුම්වත් කිරීම ආදී ක්‍රියාකාරකම් ඇතුළත් කර නිසි පරිදි මෙම සැලසුම් සකස් කළ යුතු ය.




කසළ කළමනාකරණය

**ඩෙංගු මර්දනය වැනි වසංගත රෝග පාලනයට කටයුතු කිරීම**

- ප්‍රදේශයේ ඩෙංගු රෝගය බෝ වීමේ අවදානම පවතින ස්ථාන හඳුනා ගැනීම
- එම ස්ථාන පවිත්‍ර කිරීම/වාහක මදුරුවන් වැනි සතුන් විනාශ කිරීම සඳහා සුදුසු ක්‍රියා මාර්ග යෝජනා කිරීම

■ ඒ සඳහා රාජ්‍ය ආයතනවල/ස්වේච්ඡා සංවිධානවල/ප්‍රදේශයේ ජනතාවගේ/ සහාය ලබා ගැනීම ආදි ක්‍රියාකාරකම් ඇතුළත් සැලසුම් සකස් කිරීම

## iii. සැලසුම් නිසි පරිදි ක්‍රියාත්මක කිරීම

අපේක්ෂිත අරමුණු ඉටු වන ආකාරයට මෙම සැලසුම් ක්‍රියාත්මක කිරීමට වග බලා ගැනීම පළාත් පාලන ආයතනවල මහජන නියෝජිතයන්ගේ මෙන් ම රාජ්‍ය නිලධාරීන්ගේ ද වගකීම හා යුතුකම වේ. එමෙන් ම එම සැලසුම් නිසි පරිදි ක්‍රියාත්මක වන්නේ ද යන්න අධීක්ෂණයට ලක් කිරීම මගින් මහජනතාවට වඩාත් හොඳ සේවාවක් සැපයීමට පළාත් පාලන ආයතනවලට හැකියාව ලැබෙනු ඇත.

උදාහරණ ඃ

- ප්‍රාදේශීය මාර්ග ඉදිකිරීම/ප්‍රතිසංස්කරණය ආදි කටයුතුවල දී ඒවා නිසි ප්‍රමිතියට අනුව සිදු වන්නේ දැයි අධීක්ෂණය කිරීම
- කසළ කළමනාකරණයේ දී පළාත් පාලන ආයතන සේවකයන් මෙන් ම ප්‍රදේශවාසීන් ද තම වගකීම් නිසි පරිදි ඉටු කරන්නේ ද යන්න පිළිබඳ අධීක්ෂණය කිරීම හා අවශ්‍ය අවස්ථාවල දී ඔවුන් ඒ පිළිබඳව දැනුම්වත් කිරීම

## iv. ප්‍රාදේශීය මට්ටමින් නායකයන් බිහි කිරීම

ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක සාර්ථකත්වය කෙරෙහි බලපාන ප්‍රධාන සාධකයක් වන්නේ, අවංක, කාර්යශූර හා උදාර දේශපාලන නායකත්වයයි. පළාත් පාලන ආයතන ද ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය තුළ ප්‍රාදේශීය පාලනය සම්බන්ධයෙන් බලතල පැවරෙන ජනතාවට සමීපතම පාලන ආයතන වේ. මේ නිසා ප්‍රදේශයේ ජීවත් වන ජනතාව අතුරින් ප්‍රජාතාන්ත්‍රීය ගුණාංගවලින් යුක්ත ආදර්ශවත් චරිත ප්‍රාදේශීය දේශපාලන නායකයන්, පළාත් පාලන ආයතන නියෝජිතයන් ලෙස තෝරා පත් කර ගැනීමට ජනතාවට අයිතියක් තිබේ. එමෙන් ම එය ජනතාව විසින් ඉටු කළ යුතු ඉතා වැදගත් යුතුකමක් ද වන්නේ ය.

එසේ පත් කර ගන්නා නියෝජිතයන් ප්‍රදේශයේ ජනතාව වෙනුවෙන් සේවයට කැප වී කටයුතු කිරීම මගින් යහපත් දේශපාලන අත්දැකීම්, පළපුරුද්ද හා පුහුණුව ලබා ගැනීමට ඔවුන්ට අවස්ථාව උදා වේ. එවන් කැපී පෙනෙන උදාර නායකයන් ජාතික දේශපාලනයට හඳුන්වා දීම ඉතා වැදගත් ජාතික මෙහෙවරක් වේ.

මෙම ක්‍රියා මාර්ග අනුගමනය කිරීමෙන් සෞභාග්‍යවත් ශ්‍රී ලංකාවක් ගොඩනැගීම සඳහා පළාත් පාලන ආයතනවලට ලබා දිය හැකි දායකත්වය ඉමහත් ය.

### ක්‍රියාකාරකම 4.7



1. පළාත් පාලන ආයතනයට නියෝජිතයකු තෝරා පත් කිරීමේ දී ඡන්ද අපේක්ෂකයකු තුළ පැවතිය යුතු යැයි ඔබ අදහස් කරන යහපත් ගුණාංග කිහිපයක් ලැයිස්තුගත කරන්න.
2. ගෙවත්තේ/පාසලේ මදුරුවන් බෝ වීම වැළැක්වීම සඳහා දෛනිකව ක්‍රියාත්මක කළ හැකි වැඩසටහන් ලැයිස්තුවක් සකස් කරන්න.
3. නිවස ආශ්‍රිත ව එදිනෙදා එකතු වන කසළ කළමනාකරණය කිරීම සඳහා ඔබේ යෝජනා ඉදිරිපත් කරන්න.

**සාරාංශය**



- පළාත් පාලන ආයතන යනු මහජන උපයෝගිතා සේවා ප්‍රාදේශීය මට්ටමින් කාර්යක්ෂමව හා ඵලදායීව ක්‍රියාත්මක කිරීම සඳහා මධ්‍යම රජය විසින් පිහිටුවන ලද ආයතන විශේෂයකි.
- පළාත් පාලන ආයතන මහජන නියෝජිතයන්ගෙන් හා රාජ්‍ය නිලධාරීන්ගෙන් සමන්විත වේ.
- ප්‍රාදේශීය පාලනය පිළිබඳව සංකල්පය රාජාණ්ඩු සමයේ පටන් ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වී තිබේ.
- නූතන පළාත් පාලන ආයතනවල විකාශනය බ්‍රිතාන්‍ය පාලන යුගයේ ආරම්භ වී ඇත.
- නිදහස ලැබීමෙන් පසු පනවන ලද පනත් මගින් පළාත් පාලන ආයතන පද්ධතියේ විවිධ වෙනස්කම් සිදු කරන ලදි
- ශ්‍රී ලංකාවේ දැනට මහ නගර සභා, නගර සභා සහ ප්‍රාදේශීය සභා වශයෙන් පළාත් පාලන ආයතන ක්‍රියාත්මක වේ.
- පළාත් පාලන ආයතන මගින් ජන ජීවිතය පහසු හා යහපත් කිරීම සඳහා සේවා රාශියක් සපයනු ලබයි.
- පළාත් පාලන ආයතනවලට සම්බන්ධ මහජන නියෝජිතයන් හා නිලධාරීන් තම යුතුකම් හා වගකීම් මැනවින් ඉටු කිරීම, එම සේවා කාර්යක්‍ෂමව පවත්වාගෙන යාමට බෙහෙවින් ඉවහල් වේ.
- පළාත් පාලන ආයතනවලින් ඉටු වන සේවා සම්බන්ධයෙන් මහජනතාව තම යුතුකම් හා වගකීම් ඉටු කිරීම එම සේවා කාර්යක්‍ෂමව ඉටු කිරීමට බෙහෙවින් ප්‍රයෝජනවත් වේ.
- ප්‍රාදේශීය සංවර්ධනය තුළින් ජාතික සංවර්ධන උපාය මාර්ග සාර්ථක කර ගැනීමට හා පළාත් පාලන ආයතනවලට ඉහළ දායකත්වයක් ලබා දීමට හැකියාව තිබේ.

# 05 ගැටුම් නිරාකරණය

සමාජය පුද්ගලයන් සමූහයකින් සමන්විත වේ. ඔවුහු විවිධාකාරයට එකිනෙකාගෙන් වෙනස් වෙති. ඔවුන් දරන අදහස්, මතවාද, විශ්වාස, උගත් නූගත්කම්, දුප්පත් පොහොසත්කම් ආදි විවිධ හේතු මත එම වෙනස්කම් ඇති වේ. එම විවිධ හේතු නිසා ගැටුම් ඇති වීම ද නිරතුරුව ම සිදු වේ. සිත් රිදවීම, දුකට පත්වීම, ආතතිය ඇතිවීම, කනස්සලු ස්වභාවයට පත්වීම, ප්‍රචණ්ඩත්වයට පත්වීම, විනාශකාරී ක්‍රියාවලට යොමු වීම දක්වා ගැටුම් වර්ධනය විය හැකි ය. එමෙන් ම තමා තුළ මෙන් ම, පුද්ගලයන් අතර ද, පවුල් අතර ද, ප්‍රාදේශීය වශයෙන් මෙන් ම රටවල් අතර ද, කලාපීය වශයෙන් මෙන් ම ජාත්‍යන්තරව ද විවිධ ක්‍රමවලට ගැටුම් ඇතිවිය හැකි ය. එවැනි ගැටුම් සාමකාමීව නිරාකරණය කර ගැනීම ජන සමාජයේ යහපැවැත්මට මෙන් ම තිරසර සාමයක් පවත්වා ගැනීමට ද අතිශයින් වැදගත් වේ.

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- ගැටුම නිර්වචනය කිරීම
- ගැටුම් ඇති වීමට බලපාන හේතු
- ගැටුම් ඇති වන පාර්ශ්ව
- විවිධ ගැටුම් වර්ග
- ගැටුම් නිරාකරණය සඳහා අවශ්‍ය ගුණාංග
- ගැටුම් නිරාකරණය සඳහා යෝග්‍ය ක්‍රමවේද
- ගැටුම් ශුභවාදීව නිරාකරණය කර ගැනීමේ වාසි
- ගැටුම් ශුභවාදීව නොවිසඳා ගැනීම නිසා ඇති වන ප්‍රතිවිපාක ආදිය පිළිබඳව පුළුල් අවබෝධයක් ලබාගැනීමට අවස්ථා ලැබෙනු ඇත.

## ගැටුම් නිර්වචනය කිරීම

පහත දක්වෙන්නේ සිසුන් පිරිසක් හා ගුරුතුමා අතර ගැටුම් පිළිබඳව පාඩමේ දී ඇති වූ බුද්ධි කලම්බන සාකච්ඡාවකින් උපුටා ගන්නා ලද අදහස් සමූහයකි.



**ගැටුම් නිර්වචනය කිරීම**

ගැටුමක් යනු ''ප්‍රචණ්ඩ හැප්පීමක්, අරගලයක් හෝ හරඹයක්, මානසික වශයෙන් සිදුවන අරගලයක්''

("ඔක්ස්ෆර්ඩ්"Oxford, ශබ්දකෝෂය)

මේ අනුව පැහැදිලි වන්නේ ගැටුම් විවිධ ස්වරූප අනුව ඇති විය හැකි බවයි. ආරවුල, රණ්ඩුව, මතභේදය, බහින් බස්වීම, දබරය, පහර දීම, යුද්ධය ඊට උදාහරණ වේ.

පුද්ගල ජීවිතයේ දී ඕනෑ ම අයකුට විවිධ ගැටුම්කාරී අවස්ථාවලට මුහුණ දීමට සිදු විය හැකි ය. තමන් තුළ, තමා හා මිතුරන් අතර, සහෝදර සහෝදරියන් අතර, අසල්වැසියන් අතර ගැටුම් ඇති විය හැකි ය. එසේ ම වාර්ගික, දේශපාලන, ආගමික කණ්ඩායම් අතර ද මෙවැනි ගැටුම් නිර්මාණය විය හැකි ය. ගැටුම්කාරී අවස්ථාවලට යහපත් ලෙස ප්‍රතිචාර දැක්වීම නිසා නව අදහස්, නව නිර්මාණ, නව සම්බන්ධතා ඇති විය හැකි ය.

කෙසේ වෙතත් ගැටුමක් ආරම්භයේ දී ම නිසි ලෙස විසඳා නොගතහොත් එය ක්‍රමයෙන් වර්ධනය වී විසඳීමට අපහසු බරපතළ තත්ත්ව කරා එළඹිය හැකි ය. එමගින් වටිනා මිනිස් ජීවිත, දේපළ විනාශ වන බැවින් ගැටුම් ආරම්භයේ දී ම විසඳා ගැනීම වැදගත් වේ.

## 5.1 ගැටුම් ඇති වීමට බලපාන හේතු



## ක්‍රියාකාරකම 5.1



1. ඔබ ගැටුමකට මුහුණ දුන් අවස්ථාවක් සිහිපත් කර එයට හේතු වූ කරුණු එකින් එක පෙළගස්වන්න.
2. එම ගැටුම වළක්වා ගැනීමට ඔබට ගත හැකි ව තිබූ ක්‍රියාමාර්ග කිහිපයක් ලියන්න.

### ගැටුම් ඇති වන පාර්ශ්ව

- තමා තුළ (පුද්ගලයා තුළ)
- තමන් හා මිතුරන් අතර (පුද්ගලයන් දෙදෙනකු අතර)
- පවුලක් තුළ
- අසල්වැසියන් අතර (පුද්ගලයන් අතර/පවුල් අතර/පුද්ගල කණ්ඩායම් අතර)
- සංස්කෘති අතර
- ස්වකීය රාජ්‍යය තුළ/ රාජ්‍ය දෙකක් අතර/ රාජ්‍ය කිහිපයක් අතර

### විවිධ ගැටුම් වර්ග

ලෝකයේ දක්නට ලැබෙන ගැටුම් එහි ස්වභාවය අනුව ආකාර කිහිපයකට වර්ග කළ හැකි ය.

- **දේශපාලන මූල මත ඇති වන ගැටුම්**

  දේශ සීමා අරගල මීට නිදසුන් ලෙස දැක්වි හැකි ය.

  නිදසුන් : ඉන්දියාව හා පකිස්ථානය අතර කාශ්මීර ප්‍රදේශ සම්බන්ධව දිගු කාලයක් තිස්සේ පවතින ගැටුම්



- **ආර්ථික මූල මත ඇති වන ගැටුම්**

  සම්පත් ලබා ගැනීම, දිළිඳුකම, වෙළෙඳපොළ අත්පත් කර ගැනීම හෝ වෙළෙඳපොළ පුළුල් කර ගැනීම වැනි විවිධ ආර්ථිකමය හේතු නිසා මෙවැනි ගැටුම් ඇති වේ.
  නිදසුන් : ඉරාකය හා කුවේටය අතර ඛනිජ තෙල් සඳහා පවතින ගැටුම්

- **සමාජ මූල මත ඇති වන ගැටුම්**

  පුද්ගලයන් අතර, ජන කණ්ඩායම් අතර, රටවල් අතර, ආගමික හෝ වාර්ගික වැනි විවිධ මතවාද ඔස්සේ ඇති වන ගැටුම් මේ යටතේ දැක්විය හැකි ය.

## ක්‍රියාකාරකම 5.2



1. ලෝකයේ විවිධ ප්‍රදේශවල පවතින ගැටුම් පිළිබඳව තොරතුරු රැස් කර ගැටුම්වල ඇති බිහිසුණු බව මිනිස් සමාජයට බලපාන ආකාරය පිළිබඳව පුවත්පතකට ලිපියක් ලියන්න.

## 5.2 ගැටුම් නිරාකරණයෙහිලා මතු විය හැකි බාධක

ගැටුම් නිරාකරණය කිරීමේ දී විවිධ බාධක ඇති විය හැකි ය. ඒවාට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- සදොස් තීරණ, අදහස් වෙනස් නොකිරීමේ දැඩි ස්ථාවර බව
- අනම්‍යව, තමන් නිවැරදි යයි සිතන මතයේ ම එල්බ සිටීම
- නිවැරදි යයි තමන් සිතන එක ම විසඳුමක රැඳී සිටීම
- විකල්ප ජනනය නොකිරීම
- ගැටුමට සම්බන්ධ සියලු ම පාර්ශ්ව ගැටුම නිරාකරණය සඳහා ඉදිරිපත් නොවීම
- අනෙක් පාර්ශ්ව පරදවා තමා ජය ගැනීමට සිතීම
- අනෙක් පාර්ශ්වයේ අදහස්, අවශ්‍යතා නොසලකා හරිමින්, එක් පාර්ශ්වයක් පමණක් ජයග්‍රහණය කිරීමට යාම නිසා ගැටුම්කාරී තත්ත්ව වර්ධනය වීමට ඉඩ හැරීම

විශේෂයෙන් ගැටුම්කාරී වාතාවරණවල දී ගැටුමට සම්බන්ධ පුද්ගලයන් හෝ පාර්ශ්ව අතර පවතින දැඩි ස්ථාවර බව ගැටුම් නිරාකරණයේ දී ප්‍රධානතම බාධාවක් වේ. පහත සඳහන් කතාන්දරය මගින් එය මැනවින් අවබෝධ කර ගත හැකි ය.

අමිඳු හා කවිඳු 9 වන ශ්‍රේණියේ ඉගෙනුම ලබන එක ම පන්තියේ සිසුන් දෙදෙනෙකි. නව වසර සඳහා පන්ති නායකයකු පත් කර ගැනීමට අවශ්‍ය බැවින් ඒ සඳහා පන්ති නායකයකු පත් කර ගැනීමට ගුරුතුමිය විසින් ශිෂ්‍ය ශිෂ්‍යාවන්ට යෝජනා කරන ලදි. එහි දී මෙම ශිෂ්‍යයන් දෙදෙනා ම ඉදිරිපත් වූ අතර ඔවුන් දෙදෙනාට ම නායකයා වීමේ අවශ්‍යතාව දැඩිව තිබිණි. එක් ශිෂ්‍යයකු නායකත්වයට පත් කර ගැනීමේ අවශ්‍යතාව ගුරුතුමිය දිගින් දිගට ම ප්‍රකාශ කළා ය. එක් අයකු උපනායකයා ලෙස පත් කර ගත හැකි බව ද ගුරුතුමිය ප්‍රකාශ කළා ය. එහෙත් දෙදෙනා ම ඒ සඳහා අකැමැත්ත ප්‍රකාශ කළ අතර දෙදෙනා ම නායකත්වය ඉල්ලා දැඩි ස්ථාවරයක රැඳී සිටීමේ හේතුව නිසා එම අවස්ථාවේ නායකයකු පත් කර ගැනීමට නොහැකි විය.

ගැටුම් විසඳීමට ඇති තවත් ප්‍රබල බාධාවක් ලෙස මේ ආකාරයට නිවැරදි යැයි තමන් සිතන එක ම විසඳුමක රැඳී සිටීම පෙන්වා දිය හැකි ය. පහත කතාන්දරය මගින් එය සනාථ කර ගත හැකි ය.

සඳකිරණි සහ ප්‍රභාස්වර එක ම පවුලේ සහෝදර සහෝදරියන් වන අතර රූපවාහිනි වැඩසටහනක් නැරඹීම සම්බන්ධයෙන් එක් දිනක් මේ දෙදෙනා අතර ගැටුම්කාරී අවස්ථාවක් ඇති විය. එහි දී එක ම වේලාව තුළ එක් අයෙකුට කාටූන් වැඩසටහනක් නැරඹීමටත් අනෙකාට ක්‍රිකට් තරගයක් නැරඹීමටත් අවශ්‍ය විය. එහි දී දුරස්ථ පාලකය මගින් දෙදෙනා ම තම අභිමතය පරිදි නාලිකා වෙනස් කිරීමට කටයුතු කළහ. ඒ නිසා ගැටුම්කාරී වාතාවරණයක් ඇති විය. අවසානයේ දී පියාට මැදිහත් වී එම ගැටුම සමතයකට පත් කිරීම සිදු විය.

මෙසේ පුද්ගල මට්ටමේ සිට විවිධ මට්ටමේ ගැටුම් නිර්මාණය වීමට, ගැටුම්වලට මුල් වූ පාර්ශ්ව තම විසඳුම ම නිවැරදි ය යන ස්ථාවරයේ රැඳී සිටීම හේතු වේ.

ගැටුම් අවස්ථාවල දී විකල්ප විසඳුම් කෙරෙහි යොමු නොවීම ද ගැටුම් උග්‍ර වීමට හේතු වේ. ඉහත කතාන්දරය තුළ දී ගැටුම් වළක්වා ගැනීම සඳහා පහත සඳහන් විකල්ප කෙරෙහි යොමු වී නම් එය පහසුවෙන් විසඳා ගැනීමට ඉඩ තිබිණි.

- කාලය බෙදා ගෙන වැඩසටහන මාරුවෙන් මාරුවට නැරඹීම
- සතියෙන් සතිය වැඩසටහන් මාරුවෙන් මාරුවට බැලීම
- කලින් විකාශනය වූ වැඩසටහන අන්තර්ජාලය ඇසුරින් පහසුවෙන් යළි නැරඹීම
- අදාළ කාලය තුළ දෙදෙනා ම වෙනත් වැඩසටහනක් නැරඹීම

## ක්‍රියාකාරකම 5.3



ගැටුම් සඳහා යොමු වී ඇති රටක් හෝ පාර්ශ්වයක් තෝරා ගෙන එය අධ්‍යයනය කර එම ගැටුම නිරාකරණයෙහි ලා ඇති බාධක සාකච්ඡා කරන්න.

## ගැටුම් නිරාකරණය සඳහා අවශ්‍ය ගුණාංග

- ඉවසීම
- සක්‍රිය සවන්දීම
- කාරුණික බව
- සුහදශීලී බව
- තීරණ ගැනීමේ හැකියාව
- අදහස් පැහැදිලිව ප්‍රකාශ කිරීම
- චිත්තවේග සමනය
- අන්‍ය අදහස්වලට ගරු කිරීම
- පරිත්‍යාගශීලී බව
- මධ්‍යස්ථ බව
- සෑම පුද්ගලයකුට ම ගරු කිරීම
- සාධාරණ විනිශ්චය
- අයිතිවාසිකම්වලට ගරු කිරීම
- තම යුතුකම් ඉටු කිරීම

## ගැටුම් නිරාකරණය සඳහා යෝග්‍ය ක්‍රමවේද

ගැටුම් නිරාකරණය කර ගැනීම සඳහා භාවිත වන පොදුවේ පිළිගත් ක්‍රමවේද රාශියක් පවතී. ඒවාට නිදසුන් කිහිපයක් පහත දක්වා ඇත.

**සාකච්ඡා කිරීම**

ගැටුම් නිරාකරණය සඳහා යොදා ගත හැකි සරල ම ක්‍රමය සාකච්ඡා කිරීමයි. ගැටුමට මුල් වූ පාර්ශ්ව සාකච්ඡා කිරීම මගින් ගැටුම විසඳා ගැනීම සිදු වේ. මෙමගින් දෙපාර්ශ්වයට ම " ජය ජය " විසඳුම් ලබා ගත හැකි ය.

**මැදිහත්කරණය**

පුද්ගලයන් දෙදෙනකු හෝ කණ්ඩායම් දෙකක් හෝ රටවල් දෙකක් හෝ අතර ගැටුමක් විසඳා ගැනීම සඳහා සාකච්ඡා ක්‍රමයට අපොහොසත්ව සිටින විට එය විසඳා ගැනීම සඳහා උපකාර කිරීම මැදිහත්කරණයයි. මෙය සාමකාමී ක්‍රියා මාර්ගයක් වේ. මේ සඳහා ගැටුම් නිරාකරණ විශේෂඥයන්, පාර්ශ්ව දෙකට ම පිළිගත හැකි පුද්ගලයන් හෝ බාහිර පාර්ශ්ව හෝ යොදා ගත හැකි ය. මෙම ක්‍රමය යොදා ගත හැකි අවස්ථාවලට නිදසුන් ලෙස,

- පවුල් ආරවුල්
- ශිෂ්‍ය කණ්ඩායම් අතර ගැටුම්
- ජන කණ්ඩායම් අතර ගැටුම්
- රටවල් අතර ගැටුම් දැක්විය හැකි ය.

**සමථකරණය**

ගැටුමක් හෝ මතභේදයක් විසඳා ගැනීම සඳහා යොදා ගන්නා තවත් ක්‍රමවේදයක් ලෙස සමථකරණය හැඳින්විය හැකි ය. සමථකරුවන්ගෙන් සමන්විත මණ්ඩලයක් මගින් සමථකරණය සිදු වේ. එහි දී ප්‍රතිවිරුද්ධ පාර්ශ්ව දෙකට සාකච්ඡා කර විසඳුමක් ලබා ගැනීමට යොමු කරවීම සමථකරණයේ ප්‍රධාන ලක්ෂණයයි. ශ්‍රී ලංකාවේ සමථකරණය සඳහා අධිකරණ අමාත්‍යාංශය මගින් සමථ මණ්ඩල පිහිටුවා ඇත. මෙමගින් විසඳා ගත හැකි ගැටුම්වලට නිදසුන් ලෙස,

- පවුල් ආරවුල්
- සුළු වැරදි විසඳීම
- පුද්ගල කණ්ඩායම් ආරවුල් ආදිය දැක්විය හැකි ය.

**විනිසීම**

මෙය අධිකරණමය ක්‍රියාවලියකි. මෙහි දී ගැටුමට මුල් වී ඇති පාර්ශ්වවලට සමථයකට එන ලෙස මුලින් ම ප්‍රකාශ කරන අතර, එකඟ නොවන විට නඩු විභාගයට යාම මගින් ගැටුම් නිරාකරණය කරනු ලැබේ. අධිකරණය මගින් දෙන තීන්දුව අවසාන තීරණය වන අතර තීරණයට එකඟ නොවේ නම් පාර්ශ්වවලට ඉහළ අධිකරණයකට අභියාචනා කිරීමේ හැකියාව පවතී.

**උපදේශනය**

විවිධාකාරයෙන් පහසුකම් සපයා උපදෙස් හා මග පෙන්වීම් ලබා දෙමින් ගැටුම් නිරාකරණයට යොමු වීම උපදේශනයයි. මෙහි දී විකල්ප විසඳුම් කරා පාර්ශ්වකරුවන් යොමු කිරීම සිදු කෙරේ ගැටුම් නිසා ඇති වන ප්‍රතිවිපාක සහ සාමකාමීව ආරවුල් විසඳා ගැනීම නිසා අත් වන ප්‍රතිලාභ පිළිබඳව දෙපාර්ශ්වය ම දැනුම්වත් කිරීම, ගැටුම් ලිහිල් කිරීම සඳහා පාර්ශ්වකරුවන් යොමු කිරීම මෙමගින් සිදු වේ.

**ක්‍රියාකාරකම 5.4**



ඔබ ප්‍රදේශයේ ගැටුම් නිරාකරණය කර ගැනීම සඳහා පිහිටුවා ඇති සමථ මණ්ඩලය ගැටුමක් විසඳන ආකාරය නිරීක්ෂණය කරන්න. එම ගැටුම විසඳූ ආකාරය පිළිබඳව කෙටි වාර්තාවක් පිළියෙල කරන්න.

## 5.3 ගැටුම් ශුභවාදීව නිරාකරණය කිරීමේ වාසි

පළමුව ගැටුම් ඇති වන්නේ පුද්ගලයාගේ සිත තුළයි. සමාජයේ මූලික හා කුඩා ම තැනුම් ඒකකය වන පවුල තුළ වුව ද ගැටුම් ඇති විය හැකි ය. එවිට පවුල් පරිසරයේ සංහිඳියාව, සාමය බිඳ වැටීම සිදු වේ. එවැනි පවුල් පරිසරයක් තුළ හැදී වැඩෙන සාමාජිකයන් තුළ ද විවිධ අසහනකාරී හා ප්‍රචණ්ඩකාරී හැසිරීම් ප්‍රදර්ශනය විය හැකි ය. එබැවින් පවුල තුළ පැන නගින ගැටුම් එම අවස්ථාවේ දී ම විසඳා ගැනීම මගින් පවුල තුළ සාමය හා සංහිඳියාව ඇති වන අතර එහි ප්‍රතිඵලයක් ලෙස සමාජය තුළ ද සාමය, සමගිය, සංහිඳියාව ඇති වේ.

ජාතික හා ජාත්‍යන්තර මට්ටමේ දී වාර්ගික ගැටුම්, ආගමික ගැටුම්, සිවිල් යුද්ධ ආදිය මගින් බොහෝ රටවල් හා ජන සමාජ ගැටුම් ඇති කර ගෙන ඇත. මෙවැනි ප්‍රචණ්ඩකාරී පසුබිමක් තුළ ඉන් ඇති වන ජීවිත හානි, දේපළ හානි, සරණාගතයන් බිහි වීම ආදිය වළක්වා ගැනීම හා අවම කිරීම සඳහා ගැටුම් සුබවාදීව විසඳා ගැනීම අතිශයින් වැදගත් වේ.

ගැටුම් සාමකාමීව නිරාකරණය කර ගැනීමේ වාසි කිහිපයක් නිදසුන් ලෙස පහත දක්වා ඇත.

- **සාමය ස්ථාපිත වීම** - ගැටුමක් ඇති වන සෑම විට ම සිදු වන්නේ සාමය බිඳ වැටීමයි. පුද්ගලයා තුළ (තමා තුළ) ගැටුමක් ඇති වූ විට අභ්‍යන්තර සාමය බිඳ වැටේ. එලෙස ම පුද්ගලයන් දෙදෙනකු හෝ කිහිප දෙනකු අතර, පවුලක් තුළ, සමාජයේ විවිධ කොටස් අතර ගැටුම් ඇති වන සෑම විට ම සාමය බිඳ වැටීම සිදු වේ. මේ නිසා ගැටුම් ශුභවාදීව නිරාකරණය කරගන්නා විට සාමය ස්ථාපිත වීම සිදු වේ. එබැවින් සාමය ස්ථාපිත කර ගැනීමට, තිරසර සාමයක් ඇති කර ගැනීමට ගැටුම් ශුභවාදී ව නිරාකරණය කර ගැනීම අත්‍යවශ්‍ය වේ. එය පෞද්ගලිකව තමාටත් පොදුවේ සමාජයටත් එක සේ වැදගත් වේ.

- **පුද්ගල හා සමාජ සංවර්ධනයට හේතු වීම** - ගැටුම් පවතින සැම විට ම එය පුද්ගල හා සමාජ සංවර්ධනය පිරිහීමට හේතුවක් වේ. මේ නිසා ගැටුම් ශුභවාදීව විසඳා ගැනීමෙන් පෞද්ගලිකව තමාගේ සංවර්ධනය ඇති වන අතර ම එය සෘජුව ම සමාජ සංවර්ධනයට ද හේතු වේ.
- **දේශපාලන ස්ථාවර භාවය** - ගැටුම්කාරී තත්ත්වයක දී පොදුවේ රටක් වශයෙන් ගත් විට රටක දේශපාලන ස්ථාවර භාවය බිඳ වැටීම සිදු විය හැකි ය. විවිධාකාරයට සිදු වන ප්‍රචණ්ඩකාරී ක්‍රියා හා ගැටුම් නිසා දේශපාලනික වශයෙන් සිදු වන එවැනි අස්ථාවරතා රටකට ඉතා අහිතකර ලෙස බලපානු ඇත. මේ නිසා ගැටුම් ශුභවාදීව විසඳා ගැනීම දේශපාලන ස්ථාවර භාවය ඇති කර ගැනීමට ප්‍රබල ලෙස බලපානු ඇත.
- **සම්පත් නාස්තිය අවම වීම** - පොදුවේ සමාජයක්, පුද්ගලයෙක් රටක් ආදි ලෙස ගත් විට ගැටුම් ඇති වීම නිසා සම්පත් නාස්ති වීම ද විශාල වශයෙන් සිදු විය හැකි ය. එහි දී භෞතික සම්පත් මෙන් ම මානව සම්පත් ද, කාලය ද විශාල වශයෙන් නාස්තිවීම සිදු වේ. එම නිසා ගැටුම් ශුභවාදීව විසඳා ගැනීම සම්පත් නාස්තිය අවම කර ගැනීමට හෝ සම්පත් නාස්තිය වළක්වා ගැනීමට හෝ අතිශයින් ම වැදගත් වේ.

ඉහතින් දැක්වූ කරුණුවලට අමතරව ගැටුම් ශුභවාදීව නිරාකරණය කර ගැනීම නිසා ඇති වන තවත් වාසි කිහිපයක් පහත දක්වා ඇත. එම කරුණු පිළිබඳ ව ද පුරවැසි අධ්‍යාපනය විෂයභාර ගුරුතුමා/ ගුරුතුමිය සමග සාකච්ඡා කරන්න.

- විශ්වාසය ගොඩනැගීම
- මානසික ආතතිය අවම වීම
- පුද්ගල ආත්ම ගෞරවය සුරක්ෂිත වීම
- සුහදතාව ගොඩනැගීම
- සමාජ සම්බන්ධතා වර්ධනය වීම
- සංස්කෘතික සහයෝගිතාව වර්ධනය වීම
- මූලික අයිතිවාසිකම් ආරක්ෂා වීම
- මානව අයිතිවාසිකම් ආරක්ෂා වීම (විශේෂයෙන් ම ළමා අයිතිවාසිකම් හා කාන්තා අයිතිවාසිකම් ආරක්ෂා වීම)
- ජීවිත හා දේපළ හානි වැළකීම
- අන්තර්ජාතික සම්බන්ධතා පුළුල් වීම
- ආයෝජකයන්ගේ පැමිණීම වර්ධනය වීම

## ගැටුම් ශුභවාදීව නිරාකරණය කර නොගැනීම නිසා ඇති වන ප්‍රතිවිපාක

ගැටුම් ශුභවාදී ලෙස නිරාකරණය කර නොගැනීම විවිධාකාරයෙන් පුද්ගලයාට මෙන් ම සමාජයට ද අහිතකර ලෙස බලපායි. 'ජය ජය' විසඳුමක් ලැබෙන ආකාරයට ගැටුම් නිරාකරණය කර නොගැනීමේ ආදීනව හෙවත් ප්‍රතිවිපාක කිහිපයකට නිදසුන් පහත දක්වා ඇත.

- මානසික ආතතිය ඇතිවීම
- අපකීර්තියට පත්වීම
- එකිනෙකා කෙරෙහි සැකයෙන් හා අවිශ්වාසයෙන් පෙළීම
- සමාජ සම්බන්ධතා පලුදුවීම
- අනවශ්‍ය කරදර හා වියදම් අධික වීම
- සම්පත් විනාශ වීම
- තිරසර සාමය බිඳ වැටීම

ඉහත කරුණු පිළිබඳව පුරවැසි අධ්‍යාපනය විෂයභාර ගුරුතුමා/ ගුරුතුමිය සමග මෙන් ම ඔබේ පන්තියේ සහෝදර/ සහෝදරියන් සමග හා වැඩිහිටියන් සමග ද සාකච්ඡා කර දැනුම පුළුල් කර ගන්න.

ගැටුම් නිරාකරණය කර ගැනීම ගැටුමකට සම්බන්ධ සියලු පාර්ශ්වවලට එක සේ වැදගත් වේ. ගැටුම් ශුභවාදීව විසඳා ගැනීමේ වාසි සැමට පොදු කාරණා ලෙස දැක්විය හැකි ය. එමෙන් ම ගැටුම් ශුභවාදීව නිරාකරණය කර නොගැනීමේ ආදීනව හෝ ප්‍රතිවිපාක ද පොදුවේ සැමට ම බලපානු ඇත. මේ නිසා සැම විට ම ගැටුම් නිරාකරණයේ දී ගැටුමට සම්බන්ධ සියලු පාර්ශ්ව අවංකව හා කැපවීමෙන් එම ගැටුම ශුභවාදීව විසඳා ගත යුතු වේ. පුද්ගල සංවර්ධනය මෙන් ම සමාජ සංවර්ධනයට ද එහි ඇති බලපෑම ඔබ මේ වන විට අවබෝධ කර ගෙන ඇත. පුද්ගලයා තුළ මෙන් ම පොදුවේ මුළු මහත් සමාජයේ ම සාමකාමී බවට ගැටුම් ශුභවාදීව නිරාකරණය කර ගැනීම හේතු වේ. ගැටුම් සාමකාමීව, ශුභවාදීව නිරාකරණය කර ගැනීමෙන් සමගිය, සහජීවනය, සංහිඳියාව, සහෝදරත්වය, නිදහස වර්ධනය කර ගත හැකි ය. එමගින් පොදුවේ රටක්, ජාතියක් වශයෙන් මුළු මහත් සමාජයේ ම තිරසර සාමයට මං පෙත් විවර වේ. **ආදරණීය දුවේ, පුතේ අපි සැම දෙනා ම සියලු වාදභේද අමතක කර, ගැටුම් සාමකාමීව විසඳා ගෙන තිරසර සාමයක් වෙනුවෙන් පෙළ ගැසෙමු; හඬනගමු; කැපවෙමු. එය අපගේ අද දවසේ ජාතික යුතුකමකි.**

**සාරාංශය**



- පුද්ගලයා තුළ මෙන් ම පුද්ගලයන් අතර ද පුද්ගල කණ්ඩායම් අතර ද රටවල් අතර ද ගැටුම් ඇති වේ.
- විවිධ හේතු නිසා ගැටුම් ඇති වීමත්, ඒවා වර්ධනය වීමත් සිදු වේ.
- දේශපාලන, ආර්ථික හා සමාජ වශයෙන් ගැටුම් ඇති වන මූල පදනම් කරගෙන මූලික වශයෙන් ගැටුම් වර්ග කෙරේ.
- ගැටුම් නිරාකරණයේ දී විවිධ බාධකවලට මුහුණ දීමට සිදු වන අතර ම, එම බාධක ජය ගැනීමෙන් සාර්ථකව ගැටුම් නිරාකරණය කර ගැනීමට හැකි වේ.
- ගැටුම් නිරාකරණයේ දී පුද්ගලයකුට තනිව ම මෙන් ම පොදුවේ සමාජීය වශයෙන් ද ගුණාංග රාශියක් චරිතායනය කර ගැනීමට සිදු වේ.
- සාකච්ඡා කිරීම, උපදේශනය, මැදිහත්කරණය හා සමථකරණය ගැටුම් නිරාකරණයේ දී භාවිත කළ හැකි ඉතා සාර්ථක ක්‍රමවේදවලට උදාහරණ කිහිපයකි.
- ගැටුම් ශුභවාදීව නිරාකරණය කර ගැනීම පෞද්ගලිකව තමාටත් පොදුවේ සමාජයටත් ඉතා වාසිදායක හා ප්‍රතිඵලදායී වන අතර ම එය තිරසර සාමයට මහඟු පිටිවහලක් ද වේ.
- ගැටුම් ශුභවාදීව නිරාකරණය කර නොගැනීම නිසා විවිධ ආදීනව හෝ ප්‍රතිවිපාකවලට හෝ මුහුණ දීමට සිදු වන අතර ම එය පෞද්ගලිකව මෙන් ම සමාජීයව ද සමගිය, සහජීවනය, සංහිඳියාව, සමානාත්මතාව හා තිරසර සාමය වැනි සාරධර්ම බිඳ වැටීමටත් හේතු වේ.

# 06 අනාගත වැඩ ලෝකයට පිවිසෙමු

වර්තමාන අධ්‍යාපනයේ ප්‍රධාන වගකීමක් වන්නේ යහපත් පුරවැසියන් සමාජයට දයාද කිරීමයි. එහි දී පාසල් අධ්‍යාපනයේ මූලික අරමුණ විය යුත්තේ සමාජයට වැඩදයී පුද්ගලයකු බිහි කර දීමයි. පාසල් දරුවන්ට අනාගත වැඩ ලෝකයට සාර්ථකව මුහුණ දීම සඳහා අවශ්‍ය මාර්ගෝපදේශ ලබා දීම ද අධ්‍යාපනය මගින් සිදු විය යුත්තකි. ඒ සඳහා පාසලේ සමස්ත විෂයමාලාව තුළින් ම අවශ්‍ය පහසුකම් සලසා දීම අවශ්‍ය වේ. වැඩ ලෝකය ජය ගැනීමට නම්

- අනාගත රැකියා අපේක්ෂා තෝරා ගැනීම
- එම රැකියා අපේක්ෂාවලට අවශ්‍ය සුදුසුකම් සපුරා ගැනීම වැදගත් වේ.

ඉහත අපේක්ෂා ඉටු කර ගැනීම සඳහා මෙම පරිච්ඡේදය හැදෑරීම ඉතා ප්‍රයෝජනවත් වනු ඇත. මෙම පරිච්ඡේදය මගින් ;

- වැඩලෝකයේ පවතින රැකියා හා වෘත්තීන් හඳුනා ගැනීම
- තම කුසලතා, හැකියා හඳුනා ගෙන රැකියාවක් තෝරා ගැනීම
- රැකියා ඉල්ලුම් පත්‍ර හා ජීව දත්ත පත්‍රිකා සකස් කිරීම
- සම්මුඛ පරීක්ෂණයකට මුහුණ දීමේ කුසලතාව වර්ධනය කර ගැනීම
- රැකියා ස්ථානයේ දී කාර්යක්ෂමව හා සහයෝගයෙන් කටයුතු කිරීම
- තම වෘත්තිය හා පෞද්ගලික ජීවිතය සමබරව පවත්වාගෙන යෑම
- මනා මූල්‍ය කළමනාකරණයකින් යුතුව තම කටයුතු ඉටු කර ගැනීම

ආදී ක්ෂේත්‍ර පිළිබඳව නිපුණතා සංවර්ධනය කරගත හැකි වනු ඇත. 8 ශ්‍රේණියේ දී ද වැඩ ලෝකය පිළිබඳව ඔබ බොහෝ කරුණු ඉගෙන ගෙන ඇත. ඒ ගැන ද නැවත සිහිපත් කරන්න.

## 6.1 පෞද්ගලික ගොනුවක් පවත්වා ගැනීම

සෑම රැකියාවකට ම සමාජීය වටිනාකමක් මෙන් ම පෞද්ගලික වටිනාකමක් ද ඇති බව පහත රූපය අනුව පැහැදිලි වනු ඇත.

වැඩලෝකයේ පවතින රැකියා

රැකියාවක් පිළිබඳ සිතීමට පෙර ඔබගේ හැකියා දක්ෂතා, කැමැත්ත ආදිය පිළිබඳව විමසා බැලීම ද වැදගත් වේ. ඔබට එකිනෙකට වෙනස් වූ දක්ෂතා හා හැකියා තිබිය හැකි ය. ඒවා පිළිබඳව වඩාත් දැනුම්වත් පුද්ගලයා වන්නේ ද ඔබ ම ය. අන් අයගේ පෙළඹවීමට රැකියා ක්ෂේත්‍රයක් තෝරා ගන්නවාට වඩා ඔබ ම ඔබට ගැළපෙන රැකියා ක්ෂේත්‍රයක් තෝරා ගැනීම වඩා වැදගත් වේ. එම නිසා ඔබගේ පෞද්ගලික ගුණාංග, කුසලතා, ළැදියා ආදිය පිළිබඳව විස්තර ඇතුළත් ගොනුවක් පවත්වා ගැනීම අනාගතයේ රැකියාවක් කරා යොමු වීමේ දී ඔබට වැදගත් වනු ඇත.

පෞද්ගලික ගොනුවක් පවත්වා ගැනීමේ දී එයට ඇතුළත් විය යුතු කරුණු පිළිබඳව ගුරුතුමිය විමසූ අවස්ථාවේ දී ළමුන් ඊට දුන් පිළිතුරු කීපයක් පහත දැක්වේ.

**සමන්** - ටීචර්, තමන් පිළිබඳව තොරතුරු, ඒ කියන්නෙ තමන්ගෙ නම, උපන් දිනය, ලිපිනය, උප්පැන්න සහතිකයේ අංකය, පසුගිය අවුරුදුවල වාර පරීක්ෂණ ලකුණු, ලබාගත් සහතික, තෑගි පිළිබඳ විස්තර, මවගේ පියාගේ නම්, රැකියා, දූරකථන අංක ආදිය.

**නිමාලි** - ටීචර්, මම හිතන්නේ අපේ පෞද්ගලික ගුණාංගත් ඇතුළත් වෙන්න ඕන.

**ෆරීඩ්** - ඒ මොනවද නිමාලි?

**නිමාලි** - කැපවීම, ඉවසීම, අධිෂ්ඨානශීලී බව, අභියෝගවලට මුහුණ දීමට තිබෙන ශක්තිය...

**නසීෆා** - ඇයි ටීචර්, අපේ කුසලතාත් ඕන නේද?

**ගුරුතුමිය** - ඔව් කියන්න බලන්න.

**නසීෆා** - සන්නිවේදන කුසලතා, නායකත්වය, අනෙක් අයත් සමග වැඩ කිරීමට, ලිවීමට, ගැයීමට ඇති හැකියාව, තනියම යමක් කරගත හැකි වීම

**කදිරේෂන්** - ඔව්. ඔව්. ඒ විතරක් මදි. අපි ලබාගෙන තියෙන අමතර සුදුසුකමුත් ඇතුළත් වෙන්න ඕන. ගායනා, විවාද, ක්‍රීඩා වගේ දේවලට පාසලෙන් ලබාගත් සහතික, පිටත දී ලබාගත් සහතික ආදියත් ඇතුළත් කරන්න පුළුවන්.

**ගුරුතුමිය** - බොහොම හොඳයි. ඔබ පිළිබඳව බොහෝ දේවල් පෞද්ගලික ගොනුවට ඇතුළත් කළ හැකි බව දැන් පැහැදිලියි නේද? මෙවැනි පෞද්ගලික ලිපිගොනුවක් පවත්වා ගැනීම ඕනෑ ම කෙනෙකුගේ ඉදිරි ජීවිතයට ඉතා ප්‍රයෝජනවත් දෙයක්.

ශිෂ්‍ය ශිෂ්‍යාවන් ලබාදුන් පිළිතුරු ඇතුළත් වන සේ ගුරුතුමිය විසින් පෞද්ගලික ගොනුවක ඇතුළත් විය යුතු වැදගත් තොරතුරු කළු ලෑල්ලේ සාරාංශ කර තිබුණේ මෙසේ ය.

| | |
|---|---|
| **1. පෞද්ගලික තොරතුරු**<br>■ නම<br>■ ලිපිනය<br>■ දූරකථන අංකය<br>■ උපන් දිනය<br>■ වයස<br>■ අධ්‍යාපන සුදුසුකම් | **2. පෞද්ගලික ගුණාංග**<br>■ කැපවීම<br>■ ප්‍රියමනාප බව<br>■ සුහද බව<br>■ පරිත්‍යාගශීලී බව<br>■ ඍජුව අදහස් ප්‍රකාශ කිරීම |
| **3. පෞද්ගලික කුසලතා**<br>■ සෞන්දර්ය කුසලතා<br>■ ක්‍රීඩා කුසලතා<br>■ රිය පැදවීමේ කුසලතා<br>■ භාෂා කුසලතා | **4. පෞද්ගලික චර්යා**<br>■ සමාජශීලී බව<br>■ තනිව කටයුතු කිරීමට ඇති හැකියාව<br>■ කණ්ඩායමක් ලෙස කටයුතු කිරීමට ඇති හැකියාව<br>■ බෙදාහදා ගැනීම |
| **5. පාසලේ දී ලබාගත් අත්දැකීම්**<br>■ පන්ති නායක/ශිෂ්‍ය නායක<br>■ ශිෂ්‍යභට<br>■ බාලදක්ෂ<br>■ රිය නියාමක<br>■ පරිසර නියම | **6. පාසලෙන් පිට දී ලබාගත් අත්දැකීම්**<br>■ ශ්‍රමදාන කටයුතුවලට සහභාගි වීම<br>■ ආපදා කළමනාකරණ කටයුතුවලට සහභාගි වීම<br>■ වැඩිහිටි නිවාස/ළමා නිවාස උපකාරක සේවා<br>■ ශිෂ්‍ය ශුභසාධන කටයුතු<br>■ විවිධ සමිති/සංවිධානවල කටයුතු කිරීම |

පෞද්ගලික ගොනුවක් පවත්වා ගැනීමේ වැදගත්කම පිළිබඳව මීළඟට විමසා බලමු,

- හැකියා, නොහැකියා දැනගැනීම
- ළැදියා අවබෝධ කරගැනීම
- දුර්වලතා අවබෝධ කරගෙන, ඒවා මගහරවා ගැනීම
- සංවර්ධනය කරගත යුතු දක්ෂතා, කුසලතා දැනගැනීම
- තමා පිළිබඳව අභිමානයක් ඇති කරගත හැකි වීම
- රැකියාවක් තෝරා ගැනීමේ දී උපකාරී වීම

### ක්‍රියාකාරකම 6.1



පෞද්ගලික ගොනුවකට ඇතුළත් විය යුතු අංග පිළිබඳව අවධානය යොමු කරන්න. ඔබ පිළිබඳව සිත් ගන්නාසුලු පෞද්ගලික ගොනුවක් ආරම්භ කර එය දිගට ම පවත්වාගෙන යාමට කටයුතු කරන්න.

## 6.2 වැඩ ලෝකයේ විවිධ වෘත්ති හා රැකියා

වැඩ ලෝකයත් සාමාන්‍ය ලෝකය වගේ ම හරි විචිත්‍රවත් එකකි. එහි විවිධ වෘත්තීන්/රැකියා දකින්නට පුළුවන්. වැඩ ලෝකයේ පවතින විවිධ වෘත්තීන්/රැකියා පිළිබඳව අවබෝධයක් තිබීම ඉතා වැදගත් ය. අනාගතයේ දී ඔබට සුදුසු ඔබ කැමති වෘත්තියක්/රැකියාවක් තෝරාගැනීමේ දී එය ඉතා ම ප්‍රයෝජනවත් වේ.

**වැඩ ලෝකයේ රැකියා පවතින ක්ෂේත්‍ර කිහිපයක් හා ඒවාට උදාහරණ කිහිපයක් පහත දැක්වේ.**



රැකියාව කරන ස්ථානය අනුව ද රැකියා වර්ග කළ හැකි ය.

- ගෘහස්ථ රැකියා - කාර්යාල, සාප්පු, කර්මාන්තශාලා වැනි ස්ථානවල කරන රැකියා





- එළිමහනේ කරන රැකියා - ගොවිතැන් කිරීම, මාර්ග සකස් කිරීම, ඉදිකිරීම් වැනි රැකියා





- ස්ථිර ස්ථානවල කරන රැකියා - කර්මාන්තශාලාවල, කාර්යාලවල, කඩසාප්පුවල





- ජංගම රැකියා - තැනින් තැන සංචාරය කරමින් භාණ්ඩ අලෙවි කිරීම වැනි රැකියා





ඇතැම් දේශීය වෛද්‍යවරුන් කිසි දු මුදලක් නොගෙන වෙදකම් කරනු ඔබ දැක තිබේ ද? ඔවුහු එහි දී මුදලට වඩා ආත්ම තෘප්තිය අගය කරති. වැටුප් ලබන රැකියාවක දී වුව ද අපගේ සේවය මුදලට සීමා නොකොට සතුටින් කිරීමෙන් ඔබට මෙන් ම රටට ද එය යහපතක් වනු ඇත.

සමාජයේ පැවැත්ම අඛණ්ඩව පවත්වා ගැනීම සඳහා විවිධ රැකියා හා සේවා සැපයීම අත්‍යවශ්‍ය වේ. එම නිසා සෑම නීත්‍යානුකූල රැකියාවක් ම සමාජයට එක සේ වැදගත් ය. එවැනි සෑම රැකියාවකට ම යම් කිසි වටිනාකමක් තිබේ; පිළිගැනීමක් තිබේ. සමහර අය සිතන ආකාරයට ඉහළ රැකියා හෝ පහළ රැකියා යනුවෙන් රැකියා වර්ග කිරීම සුදුසු නොවේ. එයට හේතුව සෑම රැකියාවක් ම සමාජයට එක සේ අවශ්‍ය වීම ය. සමහරුන් රැකියා වර්ග කිරීමට පෙළඹී ඇත්තේ වැය කරන ශ්‍රමය, ලබන ආදායම හෝ සමාජ තත්ත්වය අනුව බව දක්නට ලැබේ. එහෙත් රැකියා එසේ වර්ග කිරීම සුදුසු නොවන බව මෙන් ම අවශ්‍ය නොවන බව ද ඔබට ම වැටහෙනු ඇත.

## ක්‍රියාකාරකම 6.2



සති අන්ත පුවත්පතක රැකියා ඇබෑර්තු/දැන්වීම් සඳහන් පිටුවක් අධ්‍යයනය කර පහත සඳහන් අංශ තුන යටතේ ඇති රැකියා තෝරා ලියන්න.

| රාජ්‍ය අංශයේ රැකියා | පෞද්ගලික අංශයේ රැකියා | ස්වයං රැකියා |
|---|---|---|
| | | |

## 6.3 විවිධ රැකියා/වෘත්ති සඳහා පිවිසුම්

රැකියාවකට හෝ වෘත්තියකට ප්‍රවේශ වීමේ දී ඒ සඳහා විවිධ මාර්ග පවතී. තම අනාගත අපේක්ෂාවලට ගැළපෙන ලෙස එය තෝරා ගැනීමට යොමු විය යුතු වේ. එමගින් තම අධ්‍යාපන කටයුතු අනාගත වැඩ ලෝකයට ගැළපෙන පරිදි පහසුවෙන් සකස් කර ගත හැකි ය. එහි දී තම හැකියා, ළැදියා, කුසලතා පිළිබඳව ද සැලකිලිමත් විය යුතු ය. එවැනි අවස්ථාවලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

- **පාසලේ විෂය/විෂයධාරාව තෝරා ගැනීම**

මෙම වසරේ 9 ශ්‍රේණියේ ඉගෙනුම ලබන ඔබ ලබන වසරේ 10 ශ්‍රේණියට ඇතුළත් වේ. එහි දී හර විෂය හයක් පවතින අතර කාණ්ඩ විෂය තුනක් තෝරා ගත යුතු වේ. එවැනි අවස්ථාවක සලකා බැලිය යුතු කරුණු කිහිපයක් තිබේ. නිදසුනක් ලෙස එම විෂය හැදෑරීමට තමන්ට ඇති හැකියාව, තමන්ගේ කැමැත්ත, අනාගත වැඩ ලෝකය සමග ඇති

සම්බන්ධතා ආදිය ඉන් කිහිපයකි. එමෙන් ම කාණ්ඩ විෂයන් තෝරා ගැනීමේ දී අනාගතයේ කුමන රැකියාවක්/වෘත්තියක් තෝරා ගත්තත්, යහපත් පුරවැසියකු ලෙස ජීවත් වීමට අවශ්‍ය දැනුම, ආකල්ප, කුසලතා වැඩි දියුණු කරන පුරවැසි අධ්‍යාපනය වැනි විෂයයක් තෝරා ගැනීම කෙරෙහි විශේෂ සැලකිල්ලක් දැක්විය යුතුයි. වර්තමානයේ දී මෙන් ම අනාගතයේ දී ද කුමන රැකියාවක්/වෘත්තියක් කළත් මනුස්සකමේ ඇති වටිනාකම ඉහළින් ම පැවතිය යුතු වීම ඊට හේතුවයි.

අ. පො. ස. (සා.පෙළ) විභාගය සමත් වී උසස් පෙළට ඇතුළත් වීමේ දී විද්‍යාව, ගණිතය, තාක්ෂණය, වාණිජ, කලා ආදි විෂයධාරා කිහිපයක් පවතී. එවැනි අවස්ථාවක දී තම අපේක්ෂා පරිදි විෂය ධාරාව හා විෂය තෝරා ගැනීම කළ යුතු ය.

| උසස් පෙළ විෂය ධාරාව | පවතින රැකියා සඳහා නිදසුන් |
|---|---|
| විද්‍යා විෂය ධාරාව | වෛද්‍ය, දන්ත වෛද්‍ය, පරිපාලන සේවය, රසායනාගාර ශිල්පී, හෙද, ගුරු ආදි වෘත්ති |
| ගණිත විෂය ධාරාව | ඉංජිනේරු, පරිගණක විදුලි ඉංජිනේරු, පරිපාලන සේවය, සැලසුම් ශිල්පී, ගුරු ආදි වෘත්ති |
| වාණිජ විෂය ධාරාව | කළමනාකරු ගණකාධිකාරි, පරිපාලන සේවය, ගිණුම් ලිපිකරු, ව්‍යාපාරික, තක්සේරුකරු, ගුරු වෘත්තිය ආදිය |
| තාක්ෂණ විෂය ධාරාව | පරිගණක, මෝටර් කාර්මික, විදුලි කාර්මික, යන්ත්‍ර අලුත්වැඩියාව, ගුරු ආදි වෘත්ති |
| කලා විෂය ධාරාව | පරිපාලන සේවය, නීතිඥ, ගුරු වෘත්තිය, සේවා සැපයීම, ලිපිකරු, වෙළෙඳ සේවක ආදිය |

ඉහත සටහන අනුව විෂය ධාරා තෝරා ගැනීමේ දී රැකියා ක්ෂේත්‍ර පිළිබඳ වත් ඔබේ අවධානය යොමු විය යුතු බව පැහැදිලි වනු ඇත. අන් අයගේ වුවමනාවට, කැමැත්තට වඩා ඔබේ කැමැත්ත හා හැකියාව අනුව විෂය ධාරා තෝරා ගැනීම අනාගතයට වඩාත් ප්‍රයෝජනවත් වනු ඇත.

- **ශාස්ත්‍රීය/වෘත්තීය සුදුසුකම්**

රැකියාවක් ලබා ගැනීමේ දී ශාස්ත්‍රීය සුදුසුකම් සමග වෘත්තීය සුදුසුකම් ද අවශ්‍ය වේ.

ශාස්ත්‍රීය සුදුසුකම් : අ. පො. ස. (සා.පෙ.), අ. පො. ස. (උ.පෙ.), ඩිප්ලෝමා (උදා : සංගීත, කෘෂිකාර්මික වැනි), උපාධි (විද්‍යා, කලා, වාණිජ, තාක්ෂණ වැනි)

වෘත්තීය සුදුසුකම් : තමන් නියුක්ත වීමට අපේක්ෂා කරන/ දැනට නියුක්ත වන රැකියාවට අදාළ සුදුසුකම්

උදා : ගුරු වෘත්තිය සඳහා ශික්ෂණ විද්‍යා ඩිප්ලෝමා, ගුරු විද්‍යාල පුහුණුව, අධ්‍යාපනවේදී, පශ්චාත් උපාධි අධ්‍යාපන ඩිප්ලෝමා ආදිය

■ **විධිමත් හා සේවාස්ථ රැකියා පුහුණුවීම්**

වැඩ ලෝකය තුළ ශාස්ත්‍රීය සුදුසුකම් සමග වෘත්තීය සුදුසුකම් ඇති, නිපුණතා සහිත නිර්මාණශීලී පුද්ගලයන්ට වැඩි ඉල්ලුමක් තිබේ. වෘත්තීය පුහුණුව ලබා ගැනීම සඳහා විවිධ ආයතන හා විවිධ පාඨමාලා වර්තමානයේ දක්නට ලැබේ. ශ්‍රී ලංකාවේ මේ වන විට වෘත්තීය සුදුසුකම් ලබා ගැනීම සඳහා "ජාතික වෘත්තීය සුදුසුකම් රාමුව" යටතේ ජාතික වෘත්තීය සුදුසුකම් සහතිකය (NVQ) හඳුන්වා දී තිබේ. මේ යටතේ විවිධ අර්ධ කාලීන, පූර්ණ කාලීන, ඩිප්ලෝමා ආදි පාඨමාලා හැදෑරීමට ජාතික තරුණ සේවා සභාව වැනි ආයතන වර්තමානයේ පවත්වාගෙන යනු ලැබේ. උපාධි ලබා ගැනීම සඳහා තාක්ෂණ විශ්වවිද්‍යාලයක් ද ආරම්භ කර තිබේ.

වෘත්තීය පුහුණුව ලබාගත හැකි ආයතන හා පාඨමාලා පිළිබඳව පහත රූපසටහනෙන් විස්තර වේ.




ඉහත සඳහන් කරුණුවලට අමතරව රැකියා/වෘත්තීන් සඳහා බඳවා ගැනීමෙන් පසුව පූර්ව සේවා පුහුණුව මෙන් ම රැකියාවේ යෙදී සිටිය දී සේවාස්ථ පුහුණුව ලබා දීම ද සිදු වේ. (උදාහරණ : ගුරු වෘත්තිය, යන්ත්‍රෝපකරණ ක්‍රියාකරවීම වැනි)

## ක්‍රියාකාරකම 6.3



වෘත්තීය පුහුණුව ලබාගත හැකි ආයතන පිළිබඳව තොරතුරු රැස් කර පන්තියේ අනෙකුත් යහළුවන් සමග හුවමාරු කර ගන්න.

වෘත්තීය පාඨමාලා පිළිබඳව තොරතුරු ලබාගත හැකි ආයතන රාශියක් ද වේ.

- කාර්මික අධ්‍යාපන හා පුහුණු කිරීමේ දෙපාර්තමේන්තුව
- ජාතික ආධුනිකත්ව හා කාර්මික පුහුණු කිරීමේ අධිකාරිය
- වෘත්තීය පුහුණු අධිකාරිය
- ජාතික තරුණ සේවා සභාව

මීට අමතරව පුවත්පත්, ගැසට් පත්‍ර මෙන් ම අන්තර්ජාලය හරහා ද වෘත්තීය පාඨමාලා පිළිබඳ තොරතුරු ලබාගත හැකි වේ.

## 6.4 රැකියා හා වෘත්ති සඳහා අවශ්‍ය සුදුසුකම් හා පළපුරුද්ද

- **වෘත්තීය ප්‍රවේශ සඳහා විෂය/විෂයධාරා තෝරා ගැනීමේ වැදගත්කම**

රැකියාවක් හෝ වෘත්තියක් කිරීමට සුදුසුකම් පමණක් ප්‍රමාණවත් නොවේ. ඒ සඳහා පළපුරුද්දක් තිබීම ද අවශ්‍ය වේ. විශේෂයෙන් වෛද්‍ය වෘත්තිය, නීතිඥ වෘත්තිය වැනි වෘත්තීන් සඳහා වෘත්තියේ නිරත වීමට පෙර අවශ්‍ය පළපුරුද්ද සම්පූර්ණ කර තිබීම අනිවාර්ය වේ.

පාසල් ශිෂ්‍ය-ශිෂ්‍යාවන් ලෙස ඔබ අනාගතයේ දී ඔබගේ වෘත්තීය අපේක්ෂා අනුව විෂය හා විෂය ධාරා තෝරා ගැනීම ඉතා වැදගත් වේ. විෂය ධාරා තෝරා ගැනීම පිළිබඳව සාමාන්‍ය පෙළ සමත් සිසුන් සඳහා පැවති වැඩමුළුවක දී දේශකයකු ඉදිරිපත් කළ අදහසක කොටසක් පහත දැක්වේ.

> “ඔබ දැන් සූදානම් වන්නේ දෙවැනි කඩඉම පැනීමටයි. එහෙත් ඒ සඳහා සුදුසු විෂය හා විෂය ධාරා තෝරා ගැනීම ඉතා වැදගත් වේ. පළමුව හිතන්න ඔබ අනාගතයේ කිරීමට බලාපොරොත්තු වන රැකියාව කුමක් ද කියා. උදාහරණ ලෙස බැංකු ක්ෂේත්‍රයක රැකියාවක් කිරීමට කැමැත්තක් දක්වන්නේ නම් තෝරා ගත යුතු විෂය ධාරාව කුමක් ද? ඒ සඳහා ඔබ තෝරා ගත යුත්තේ වාණිජ විෂය ධාරාව නේද? ”

ඉහතින් දක්වා ඇත්තේ එක් කරුණක් පිළිබඳව පමණි. ඊට අමතරව විෂය ධාරාවක් තෝරා ගැනීමේ දී සැලකිය යුතු කරුණු මොනවා ද?

01. තෝරා ගන්නා විෂය/විෂය ධාරාව තමන්ගේ හැකියා හා කුසලතා සමඟ ගැළපේ ද?

02. එම විෂය ධාරාවෙන් අනාගතයේ හැදෑරිය හැකි වෙනත් අධ්‍යාපන හා පුහුණු පාඨමාලා මොනවා ද?

03. එමෙන් ම උසස් අධ්‍යාපනය සඳහා අවස්ථා තිබේ ද?

04. එම විෂය ධාරාව තමන්ගේ පාසලේ ඉගෙනීමේ හැකියාව තිබේ ද?

05. එම විෂය ධාරාව අනුව අනාගතයේ ඇති විය හැකි රැකියා අවස්ථා මොනවා ද?

මෙම ප්‍රශ්නවලට ඔබට සාර්ථකව පිළිතුරු ලබා දිය හැකි නම් ඔබට අනාගතයේ දී ඉතා සාර්ථකව වැඩ ලෝකයට ප්‍රවේශ වීමට හැකි වනු ඇත. වර්තමානයේ බොහෝ සිසුන් උසස් පෙළ සඳහා විෂය ධාරා තෝරා ගනුයේ දෙමාපිය කැමැත්ත, යහළුවන් එම විෂය හැදෑරීම, නගරයේ පාසලකට යාම වැනි හේතු නිසා බව ඔබට අවබෝධ වී ඇත. ඒ නිසා විභාග අසමත්වී ජීවිතයට සාර්ථකව මුහුණ දීමට නොහැකිව සිටින බොහෝ දෙනා ඔබට සමාජය තුළ දැකිය හැකියි නේද?

- **විශේෂිත රැකියා/වෘත්ති සඳහා අවශ්‍ය ශාස්ත්‍රීය, කාලානුරූප, මානසික හා කායික ඉල්ලුම**

රැකියා සම්බන්ධව පන්ති කාමරයේ ඇති වූ පහත දෙබස කියවන්න.

නිමල් ඃ- රැකියා/වෘත්තීන් සඳහා පිවිසීමේ දී සපුරා ගත යුතු වෙනත් අවශ්‍යතා තියෙනවා ද ටීචර්?

ටීචර් ඃ- ඔව්, නිමල්. විෂය ධාරාවට අමතරව තවත් ගොඩාක් දේවල් තියෙනවා. එකක් තමයි ශාස්ත්‍රීය, කාලානුරූප, මානසික හා කායික ඉල්ලුම

තමරා ඃ- මොකද්ද ටීචර් ඒ කියන්නෙ?

ටීචර් ඃ- එක් එක් රැකියා සඳහා විශේෂ ශාස්ත්‍රීය සුදුසුකම් තියෙනවා. බලන්න මේ වගුව ඃ

| රැකියාව/ වෘත්තිය | ශාස්ත්‍රීය සුදුසුකම් |
|---|---|
| ගුරු වෘත්තිය | උපාධිය, උසස් පෙළ සමත්වීම |
| නීතිඥ වෘත්තිය | නීති උපාධිය |
| වෛද්‍ය වෘත්තිය | වෛද්‍ය උපාධිය |
| හෙදි | උසස් පෙළ විද්‍යා විෂය ධාරාව සමත්වීම |
| ගණකාධිකාරී ක්ෂේත්‍රය | AAT, CIMA වැනි විභාග සමත්වීම |

ටීචර් ඃ- දැන් පැහැදිලියි ද?

කරීම්ඩීන්ඃ- ඔව් ටීචර් ඒත් මොකද්ද කාලානුරූප ඉල්ලුම කිව්වෙ?

ටීචර් ඃ- එක් එක් රැකියාවලට අවශ්‍ය සුදුසුකම් කාලයෙන් කාලයට වෙනස් වෙන්න පුළුවන් කියන එකනෙ පුතා. දැනට ලිපිකරුවෙකු වෙන්න උසස් පෙළ සමත්වීම ප්‍රමාණවත්. ඒත් පස්සෙදි ඒ වෙනුවට උපාධිය අවශ්‍යයි කියල කියන්නත් පුළුවන්නෙ.

නේරංජන්ඃ- එතකොට කායික හා මානසික ඉල්ලුම කියන්නෙ?

ටීචර් :- ආ! ඒ කියන්නෙ රැකියාවක් කරන්න නම් මනා ශරීර සෞඛ්‍යයක් හා හොඳ මානසික සූදානමක් ඕනෑ කියන එක. ශාරීරික ආබාධ ඇත්නම් රියැදුරු වැනි රැකියාවක් කරන්න බැහැනෙ නේද?

හොඳයි. දූන් ඔයාලට තේරුණා නේද? එහෙනම්, අද ගෙදර ගිහිල්ලා පත්තර ටිකක් අරගෙන රැකියා ඇබෑර්තු පරීක්ෂා කරලා, රැකියා පහක් තෝරාගෙන ඒවාට අවශ්‍ය ශාස්ත්‍රීය සුදුසුකම් මොනවා ද කියල ලියාගෙන එන්න ඕන.

කසුන් :- එතකොට ටීචර් රැකියාවලට විශේෂ පළපුරුද්දක් ඕනෑ ද?

ටීචර් :- ඔව් ඔව් පුතා, උදාහරණයක් විදියට ගුරුවරයෙකු වෙන්න විශේෂ පුහුණුවක් ඕනෑ. ඊට අදාළ උපාධියක් වගේ ම වෘත්තීය පුහුණුවකුත් අවශ්‍යයි. නිදසුන් ලෙස විද්‍යා පීඨ පුහුණුව, එහෙම නැත්නම් ශික්ෂණ විද්‍යා ඩිප්ලෝමා දක්වන්න පුළුවන්. රියැදුරු රක්ෂාවටත් එහෙම විශේෂ පළපුරුද්දක් ඕන. වාහන අලුත්වැඩියා කිරීම, නිවාස වයරිං කිරීම, වෛද්‍ය වෘත්තිය වගේ රැකියාවලට ප්‍රායෝගික පුහුණුව අනිවාර්ය කරල තියෙන්නෙ. ඒවගේම තමන් කරන රැකියාවට අමතරව වෙනත් පාඨමාලා වුනත් හදාරන්න පුලුවන්. ලිපිකරුවකුට අවශ්‍ය නම් පරිගණක විද්‍යා පාඨමාලා හදාරලා අමතර ආදායමක් වුනත් ලබාගන්න පුලුවන්.

අතීතයේ වෘත්තීය පුහුණුව ලබාගත් පහසු ම ක්‍රමය වූයේ පවුලේ සාමාජිකයන් මගින් එය ලබා ගැනීමයි. උදාහරණ ලෙස ගොවිතැන් කිරීම, ධීවර කටයුතු, වඩු වැඩ ආදිය දැක්විය හැකි ය.



පියා සමග වඩු වැඩ කරන දරුවෙක්



පියා සමග ගොවිතැන් වැඩ කරන දරුවෙක්

ඔබටත් එවැනි අත්දැකීම් ලැබෙන්නට ඇති නේද? පවුලේ සාමාජිකයන් කරන රැකියාව ආශ්‍රිතව ඔබට ද වෘත්තීය දැනුම හා පුහුණුව ලබාගත හැකි ය. දෙමාපියන්ගේ රැකියාව ම කළ යුතු බවක් ඉන් අදහස් නොවේ. එහෙත් රැකියාවක් කිරීමට අවශ්‍ය මූලික පළපුරුද්ද මෙන් ම වටිනා අත්දැකීම් එමගින් ලබා ගත හැකි ය. එමෙන් ම තමන්ට ද යමක් කළ හැකි ය යන අභිමානයක් ද ඇති වේ.

විවිධ රැකියා/වෘත්ති සඳහා ශාස්ත්‍රීය සුදුසුකම් මෙන් ම පළපුරුද්ද ලබා ගැනීම ද වැදගත් වන බව දැන් ඔබට පැහැදිලි වනු ඇත.

## ක්‍රියාකාරකම 6.4



පුවත්පත්, ගැසට්පත්, අන්තර්ජාලය ආදියෙහි දක්වෙන රැකියා ඇබෑර්තු පරීක්ෂා කර පහත වගුව සම්පූර්ණ කරන්න.

උදා :

| රැකියාව | අවශ්‍ය සුදුසුකම් | පළපුරුද්ද |
|---|---|---|
| 1. විදුලි කාර්මික | අ. පො. ස. (සා.පෙ.) සමත් වීම, කාර්මික පාඨමාලාවක් හදාරා තිබීම | පිළිගත් ආයතනයක වසරක සේවා පළපුරුද්ද |
| 2. | ............................................ | ............................................ |
| 3. | ............................................ | ............................................ |

## 6.5 ජීව දත්ත පත්‍රිකාවක් සකස් කිරීම

රැකියා සඳහා දැන්වීම් පළ කිරීමේ දී පුවත්පත්, ගැසට් නිවේදන, අන්තර්ජාලය, වෙබ් අඩවි බහුලව යොදා ගැනෙන මාධ්‍ය වේ. මීට අමතරව බැනර්, දැන්වීම්, අත්පත්‍රිකා ආදිය ද භාවිත කරනු දක්නට ලැබේ. පහත දැන්වීම් කෙරෙහි ඔබගේ අවධානය යොමු කරන්න.

**දේශීය වෛද්‍ය විද්‍යා ආයතනය, කොළඹ විශ්වවිද්‍යාලය**
**රාජගිරිය**

**පුරප්පාඩු**

**පරිගණක තාක්ෂණික උපදේශක II ශ්‍රේණිය** තනතුර සඳහා සුදුසුකම් සපුරා ඇති අයදුම්කරුවන්ගෙන් අයදුම්පත් කැඳවනු ලැබේ.

**සුදුසුකම්**

(i) පිළිගත් විශ්වවිද්‍යාලයකින් පරිගණක විද්‍යාව/පරිගණක ඉංජිනේරු විද්‍යාව පිළිබඳ විද්‍යාවේදී විශේෂ උපාධි පාඨමාලාවකින් පළමු පෙළ හෝ දෙවන පෙළ සාමාර්ථයක් ලබා තිබීම. **හෝ**

(ii) (a) පිළිගත් විශ්වවිද්‍යාලයකින්, පරිගණක විද්‍යාව/පරිගණක ඉංජිනේරු විද්‍යාව පිළිබඳ විද්‍යාවේදී විශේෂ උපාධි පාඨමාලාවකින් සාමාර්ථයක් ලබා තිබීම **හෝ** විද්‍යාවේදී සාමාන්‍ය උපාධියක් ලබා තිබීම හා විෂය කොටසක් ලෙස පරිගණක විද්‍යාව හදාරා තිබීම **සහ**
(b) පරිගණක ක්ෂේත්‍රයේ වසරක පළපුරුද්දක් ලබා තිබීම. **හෝ**

(iii) (a) පිළිගත් විශ්වවිද්‍යාලයකින් විද්‍යාවේදී සාමාන්‍ය උපාධියක් ලබා තිබීම හා විෂය කොටසක් ලෙස පරිගණක විද්‍යාව හදාරා තිබීම **හෝ** පරිගණක විද්‍යාව විෂය කොටසක් ලෙස හදාරා නොමැති අවස්ථාවකදී විද්‍යාවේදී සාමාන්‍ය උපාධියකින් පළමු පෙළ හෝ දෙවන පෙළ සාමාර්ථයක් ලබා තිබීම **සහ**
(b) පරිගණක ක්ෂේත්‍රයේ වසර දෙකක පළපුරුද්දක් ලබා තිබීම. **හෝ**

(iv) පිළිගත් විශ්වවිද්‍යාලයකින් පරිගණක විද්‍යාව විෂය කොටසක් ලෙස හදාරා නොමැති අවස්ථාවකදී විද්‍යාවේදී සාමාන්‍ය උපාධියකින් සාමාර්ථයක් ලබා තිබීම **සහ**
පරිගණක ක්ෂේත්‍රයේ වසර තුනක පළපුරුද්දක් ලබා තිබීම. **හෝ**

(v) පිළිගත් විශ්වවිද්‍යාලයකින් ලබා ගත් වෙනත් ඕනෑම උපාධියක් සහ පරිගණක විද්‍යාව/පරිගණක තාක්ෂණය පිළිබඳ පශ්චාත් උපාධි ඩිප්ලෝමාවක් ලබා තිබීම **සහ**
පරිගණක ක්ෂේත්‍රයේ වසරක පළපුරුද්දක් ලබා තිබීම.

**වයස:** අවුරුදු 45ට නොවැඩි විය යුතුය.

**වැටුප් පරිමාණය:** U AS 2(II) - රු. 26,020 - 3 x 645 - 27,955 (EB) 28,600 - 14 x 645 - 37,630 (මාසික)

**බඳවා ගැනීම :** අභියෝගාත්මක පරීක්ෂණයක් සහ සම්මුඛ පරීක්ෂණයක් මගිනි

රැකියා පුරප්පාඩු සඳහා නිකුත් කළ ගැසට් නිවේදනයක්

ජාත්‍යන්තර ආයතනයකට අනුබද්ධව ශ්‍රී ලංකාව තුළ ගොඩනැගෙන දැවැන්ත ව්‍යාපෘතියක
කොටස්කරුවෙකු වී ඉහළ වැටුප් සහිත උසස් වෘත්තීය අවස්ථාවක් හිමිකර ගැනීම උදෙසා...

**100% රැකියාව සහතික කෙරෙන විශේෂ ත්‍රෛමාසික පුහුණු පාඨමාලාව**

කාර්යාල පරිපාලන, සම්බන්ධීකරණ, සන්නිවේදන හා තොරතුරු තාක්ෂණික මෙහෙයුම් ඇතුළු සියලු කටයුතු සරල ව හා ප්‍රායෝගික ව පුහුණු කරනු ලැබේ.

**අ.පො.ස. සා.පෙළ දක්වා අධ්‍යාපනය අවම සුදුසුකම ලෙස සැලකේ.**

විවිධ පාඨමාලා කරමින් කාලය, ශ්‍රමය, මුදල් නාස්ති නොකර ඔබත් අද ම ඉල්ලුම් කරන්න.

මෙම පාඨමාලාව නිසි ලෙස සම්පූර්ණ කරන සියලු සිසු සිසුවියන් සඳහා

**රු. 20,000 ත් රු. 50,000 ත් අතර වැටුප**

සහිත රැකියාව අනිවාර්යයෙන් ම හිමි වේ. පිළිගත් වටිනා සහතිකයක් ද පිරිනැමේ.
විශේෂ දක්ෂතා දක්වන අය සඳහා විශේෂ වරප්‍රසාද සහිත උසස් තනතුරු

පාඨමාලා ගාස්තුව රු. 10,000 යි. ලියාපදිංචි ගාස්තුව රු. 500 ක් පමණක් ගෙවා පාඨමාලාව ආරම්භ කළ හැකි ය. පාඨමාලා ගාස්තුවෙන් 50% ක් පමණක් (රු. 5000) මාසික වාරික වශයෙන් ගෙවිය හැකිය.

**ඉතිරිය ඔබගේ පළමු වැටුප ලද පසු ගෙවිය හැකි ය.**

අත්පත්‍රිකාවක්

VACANCY

දිවයිනේ ජාතික පාසල්වල පවතින අ. පො. ස. (උ. පෙළ) සිංහල, දෙමළ හා ඉංග්‍රීසි මාධ්‍යය ගුරු පුරප්පාඩු සඳහා ශ්‍රී ලංකා ගුරු සේවයේ 3-1(අ) ශ්‍රේණියට උපාධිධාරීන් බඳවා ගැනීමේ තරග විභාගය - 2017

**Competitive Examination for the Recruitment of Graduates to Grade 3 - 1 (a) of Sri Lanka Teachers' Service for the Vacancies Existing in G. C. E. (A/L) Sinhala, Tamil and English Medium Teaching in National Schools – 2017**

රැකියා ඇබෑර්තු දැක්වෙන වෙබ් අඩවියක්

**ජාතික මැණික් සහ ස්වර්ණාභරණ අධිකාරිය**

**(මහවැලි සංවර්ධන හා පරිසර අමාත්‍යාංශය)**

# පුරප්පාඩු

මෙම අධිකාරියේ පහත සඳහන් තනතුරු ඇබෑර්තු පිළිබඳ දැන්වීම 2015.05.15 දින සිට www.ngja.gov.lk වන අපගේ වෙබ් අඩවිය ඔස්සේ ප්‍රසිද්ධියට පත්කර ඇති බව මෙයින් දැනුම් දෙනු ලැබේ.

***අයදුම්පත් භාරගන්නා අවසාන දිනය - 2015.05.29***

1. භූ විද්‍යාඥ (JM) – තනතුරු 01
2. නීති නිලධාරි (JM) – තනතුරු 02
3. ක්‍රියාත්මක හා ප්‍රාදේශීය සංවර්ධන සහකාර (MA 5-1) – තනතුරු 05
4. ප්‍රවර්ධන සහකාර (MA 5-1) – තනතුරු 01

**සභාපති සහ ප්‍රධාන විධායක නිලධාරි**

**ජාතික මැණික් සහ ස්වර්ණාභරණ අධිකාරිය**

**අංක 25, ගෝල්ෆේස් ටෙරස්, කොළඹ 03.**

**දුරකථන: 011-2329295 / 2325364 / 2390645-8, ෆැක්ස් : 011-2320758**

**වෙබ් අඩවිය: www.ngja.gov.lk**

පුවත්පත් දැන්වීමක්

ඉහත ආකාරයේ රැකියා දැන්වීමක් සඳහා අපට ප්‍රතිචාර දැක්විය හැකි ප්‍රධාන ක්‍රම තුනක් වේ.

1. ජීව දත්ත පත්‍රිකාවක් මගින්
2. රැකියා ඉල්ලුම් පත්‍රයක් මගින්
3. ලිපියක් මගින්

ප්‍රථමයෙන් ම ජීව දත්ත පත්‍රිකාවක් පිළිබඳ ව විමසා බලමු.

රැකියා සඳහා ඉල්ලුම් කිරීමේ දී ජීව දත්ත පත්‍රිකාවක් ඉදිරිපත් කිරීම සිදු වේ. එය ඉංග්‍රීසියෙන් "Curriculum Vitae" යනුවෙන් හැඳින්වේ. ලතින් භාෂාවෙන් බිඳී ආ එම වචනයේ තේරුම ජීවන චර්යාව පිළිබඳ වාර්තාවක් යන්න ය. තමන්ගේ සම්පූර්ණ ජීවන වාර්තාවක් ලෙසින් ජීව දත්ත පත්‍රිකාව හැඳින්විය හැකි ය.

ජීව දත්ත පත්‍රිකා අතුරින් ඔබේ ජීව දත්ත පත්‍රිකාව කැපී පෙනෙන සුවිශේෂී එකක් බවට පත්වන සේ එය සකස් කිරීම වැදගත් ය. එය ඉතා දීර්ඝ නොවිය යුතු සේ ම අවශ්‍ය සියලු දේ ම ඇතුළත් වීම ද අවශ්‍ය ය. හොඳ ජීව දත්ත පත්‍රිකාවක වැදගත්කම පිළිබඳ බ්‍රයිට් සහ අර්ල් (Bright & Earl, 2001) පහත සඳහන් කරුණු දක්වා ඇත.

- වර්තමානයේ සෑම කෙනකුට ම ජීව දත්ත පත්‍රිකාව අත්‍යවශ්‍ය දෙයක් වී ඇත.
- ඔබ පිළිබඳව සම්පූර්ණ චිත්‍රයක් ඔබේ ජීව දත්ත පත්‍රිකාවෙන් ලබාගත හැකි වේ.
- ඔබේ අරමුණ විය යුත්තේ ජීව දත්ත පත්‍රිකාව ආකර්ෂණීය කර ගැනීම ය.
- වර්තමානයේ රැකියා වෙළෙඳපොළේ තරගකාරී බවක් ඇති වී තිබේ.
- ඔබේ කාලය හා රැකියා ලබා ගැනීම පිළිබඳව ඇති හිසරදය අවම කරගත හැකි වේ.

**සමන් දිසානායක**
නො. 10, අරලිය උයන,
අනුරාධපුර.
දු.අ. 0112555762
ඊමේල් : ghnjsa@gmail.com

**ඡායාරූපය**

**පරමාර්ථය**

**අධ්‍යාපන සුදුසුකම්**

(1) අ.පො.ස. (උ/පෙළ) විභාගය (2009)

| විෂයය | ශ්‍රේණිය |
|---|---|
| | |
| | |
| | |

(2) අ.පො.ස. (සා/පෙළ) විභාගය (2006)

| විෂයය | ශ්‍රේණිය |
|---|---|
| | |
| | |
| | |
| | |
| | |
| | |
| | |
| | |
| | |
| | |

**වෘත්තිමය / වෙනත් සුදුසුකම්**

1)
2)
3)

**විෂය බාහිර ක්‍රියාකාරකම්**

1)
2)
3)

**පෞද්ගලික තොරතුරු**

- සම්පූර්ණ නම :
- මුලකුරු සමඟ නම :
- ලිපිනය :
- උපන් දිනය :
- ස්ත්‍රී/පුරුෂ භාවය :
- විවාහක/ අවිවාහක බව :
- ජාතිය :
- පාසල :

**විමසිය හැකි දෙදෙනෙක් (ඥාතීන් නොවන)**

1) 2)

ඉහත සඳහන් තොරතුරු මාගේ දැනුමට පදනම්ව සත්‍ය හා නිවැරදි බවට සහතික වෙමි.

...................... ...............
..........

අත්සන දිනය

පහත දැක්වෙන්නේ ජීව දත්ත පත්‍රිකාවක ඇතුළත් කළ හැකි අංග පිළිබඳ උදාහරණයකි.

### පෞද්ගලික තොරතුරු

නම, ලිපිනය, නගරය/රට, දුරකථන අංක, විද්‍යුත් ලිපිනය, උපන් දිනය, පුරවැසි බව, ස්ත්‍රී පුරුෂ බව, විවාහක අවිවාහක තත්ත්වය, දරුවන් පිළිබඳව තොරතුරු ආදිය.

### අධ්‍යාපන සුදුසුකම්

පාසල් අධ්‍යාපනය, උසස් අධ්‍යාපනය ලැබූ ආයතන, ලබාගත් සහතික (ආයතනය, වර්ෂය, සහතිකයේ මට්ටම ආදිය ඇතුළත්ව)

### වෘත්තීය සුදුසුකම් (අදාළ පළපුරුද්ද)

ඉල්ලුම් කරන රැකියාවට/වෘත්තියට අදාළ පළපුරුද්ද, ඒ සඳහා ඇති විශේෂිත හැකියා ආදිය

### පෙර රැකියා තොරතුරු

මීට පෙර රැකියා කර තිබේ නම් ආයතනය/ආයතන, රැකියාව කරන ලද කාලය, දැරූ තනතුර, එහි දී ලබාගත් පුහුණුවීම්, ලැබූ ශිෂ්‍යත්ව හා ජයග්‍රහණ

### කුසලතා

නිදසුන් ලෙස ක්‍රීඩා කුසලතා, සෞන්දර්යාත්මක කුසලතා, ලේඛන කුසලතා, භාෂා හැසිරවීමේ කුසලතා ආදිය

### ලබාගත් සම්මාන

ඔබේ සුවිශේෂී දක්ෂතා මත ලබාගත් සම්මාන, ජයග්‍රහණ ආදිය (විශේෂ පදක්කම්, පේටන්ට් බලපත්‍ර ආදිය)

### ප්‍රකාශන

ඔබ විසින් ප්‍රකාශයට පත් කර ඇති ලිපි, පොත්, පර්යේෂණ වාර්තා ආදිය

### වෘත්තීය සාමාජිකත්වය

ඔබ වෙනත් වෘත්තීය මට්ටමේ සංවිධානවල තනතුරු දරා තිබේ නම් ඒ පිළිබඳව විස්තර, එසේ ම සමාජ සංවිධානවල දැරූ තනතුරු, සාමාජිකත්වය පිළිබඳව තොරතුරු

### ගුණාංග

කාර්යයක් පැවරූ විට කැපවීමෙන් කටයුතු කිරීම, ඉවසීම, සුහද බව, පරිත්‍යාගශීලිත්වය ආදිය

### විනෝදාංශ හා රුචිකත්වය

මේවා ද ඉතා ම කෙටියෙන් සඳහන් කළ හැකි ය.

### තමා පිළිබඳව විමසිය හැකි පුද්ගලයන්

සාමාන්‍යයෙන් තමාගේ සමීප ඥාතීන් නොවන පුද්ගලයන් දෙදෙනකු ඉදිරිපත් කිරීම අවශ්‍ය ය. ඔවුන්ගේ නම්, දූරකථන අංක, තැපැල් ලිපින, ඉමේල් ලිපින හා තනතුරු ආදිය ඇතුළත් කළ යුතු ය.

## කැපී පෙනෙන ජීවදත්ත පත්‍රිකාවක් හදමු

වැඩ ලෝකයේ රැකියාවකට ප්‍රවේශ වීමේ දී ලොකු තරගයක් දක්නට ලැබේ. එබැවින් ඔබගේ ජීව දත්ත පත්‍රිකාව අනෙක් ඒවා අතරින් කැපී පෙනෙන සුවිශේෂී එකක් විය යුතු ය. එවැනි කැපී පෙනෙන ජීව දත්ත පත්‍රිකාවක් සැකසීමේ දී සැලකිය යුතු කරුණු කිහිපයක් පහත රූප සටහන මගින් දක්වා ඇත.




### ක්‍රියාකාරකම 6.5



ඔබගේ තොරතුරු ඇතුළත් ජීව දත්ත පත්‍රිකාවක් සකස් කරන්න. එය ඔබ මුලින් සකස් කළ පෞද්ගලික ලිපි ගොනුවට ඇතුළත් කරන්න.

## 6.6 රැකියා ඉල්ලුම් පත්‍රයක් නිවැරදිව සම්පූර්ණ කිරීම

පහත දැක්වෙන්නේ 8 ශ්‍රේණියේ සිසුන් දෙදෙනකු අතර සිදු වූ කතා බහක කොටසකි.

ෂමීර : නිමල් දන්නව ද අපේ අයියා හැමදා ම රස්සාවලට ඉල්ලුම් පත්‍ර පුරවනවා.

නිමල් : අයියෝ ඕක මොකද්ද? අපේ අයියත් එහෙම තමයි. හැබැයි තාම එක ම ඉන්ටර්වීව් එකකට වත් ආවේ නැහැ.

ෂමීර : අපේ අයියා කියනවා, එයා ඉල්ලුම් පත්‍ර පුවරන විදිය හරි ද දන්නේ නැහැලු. ඒකලු, ඉන්ටර්වීව්වලට වත් එන්න කියන්නෙ නැත්තෙ.

නිමල් : ආන් අපේ ටීචර් එනව. අද අපි අහගනිමු ඉල්ලුම් පත්‍රයක් පුරවන විදිය.

- **රැකියා ඉල්ලුම් පත්‍රයක් පුරවන ආකාරය**

රැකියාවක් සඳහා ඉල්ලුම් පත්‍ර ආකෘතියක් ඇතැම් විට දැන්වීම සමග ම ලබා දෙනු ඇත. ඇතැම් ඉල්ලුම් පත්‍ර වෙළෙඳ පොළෙන් ද ලබාගත හැකි ය. එසේ ම සමහර රැකියා දැන්වීම්වල තම අත් අකුරින් සකස් කර ගත් ඉල්ලුම් පත්‍රයක් එවන ලෙසට උපදෙස් දී තිබේ. එවැනි අවස්ථාවල දී රැකියා ඉල්ලුම් පත්‍රයේ කටු පිටපතක් සකස් කර ගැනීම අත්‍යවශ්‍ය වේ. එසේ පළමුව රැකියා ඉල්ලුම් පතේ කටු පිටපතක් සකස් කිරීමේ වැදගත්කම කුමක් දැයි විමසා බලමු.



Global Link සමාගමේ තාවකාලික රියැදුරු තනතුර සඳහා අයදුම් පත්‍රය

1. අයදුම්කරුගේ මුලකුරු සමග නම :
2. මුලකුරුවලින් හැඳින්වෙන නම :
3. ස්ථිර ලිපිනය :
4. ස්ථිර පදිංචි දිස්ත්‍රික්කය :
5. ස්ත්‍රී/ පුරුෂ භාවය :
6. උපන් දිනය : වර්ෂය : මාසය : දිනය :
7. අයදුම්පත් භාරගන්නා අවසාන දිනයට වයස : අවුරුදු : මාස : දින :
8. ශ්‍රී ලංකාවේ පුරවැසියකු වන්නේ පරම්පරාවෙන් ද, ලියාපදිංචියෙන් ද යන වග :
9. විවාහක/ අවිවාහක බව :
10. ජාතික හැඳුනුම්පත් අංකය :
11. දූරකථන අංකය :
12. අධ්‍යාපන සුදුසුකම් :
13. වෘත්තීය හා වෙනත් සුදුසුකම් :
14. සේවා පළපුරුද්ද :
15. රියදුරු බලපත් අංකය හා බලපත්‍රය අදාළ වන වාහන පන්තිය :

මෙම අයදුම්පතෙහි මා විසින් සපයන ලද තොරතුරු සත්‍ය වූත්, නිවැරදි වූත් ඒවා බව මෙයින් සහතික කරමි. මෙහි ඇති තොරතුරු කිසිවක් අසත්‍ය හෝ වැරදි හෝ බව මෙම තනතුරට තෝරා ගැනීමට පෙර අනාවරණය වුවහොත් මා නුසුදුස්සකු බවට පත්වන බවත්, පත්වීම ලැබීමෙන් පසු එවැනි කරුණක් ඔප්පු වුවහොත් වහා ම සේවයෙන් පහ කෙරෙනු ඇති බවත් මා හොඳාකාරව දන්නා බව සහතික කරමි.

දිනය ................................ ...........................................

අයදුම්කරුගේ අත්සන

බැලු බැල්මට ජීව දත්ත පත්‍රිකාව හා රැකියා ඉල්ලුම් පත්‍රය එක සමාන බව පෙනුණ ද, ඉල්ලුම් පත්‍රය ජීව දත්ත පත්‍රිකාවට වඩා වෙනස් බව මෙම අයදුම්පතෙන් ඔබට පැහැදිලි වන්නට ඇත.

■ **ඉල්ලුම් පත්‍රය පිරවීමේ දී සැලකිය යුතු ප්‍රධාන කරුණු**




යවන ලද ඉල්ලුම් පත්‍රයේ පිටපතක් තමා ළඟ තබා ගැනීම, ඉල්ලුම් පත්‍රයට අදාළ දැන්වීමේ පිටපතක් මෙන්ම, ඉල්ලුම් පත්‍රය ලියාපදිංචි තැපෑලෙන් යැවූ විට ලැබෙන කුවිතාන්සිය ද ළඟ තබා ගැනීම පසු අවස්ථාවක ඒ පිළිබඳව විමසීමක් කිරීමට අවශ්‍ය වුවහොත් ප්‍රයෝජනවත් වනු ඇත.

රැකියාවකට ඉල්ලුම් කිරීමේ දී ජීව දත්ත පත්‍රිකාව ද ඉල්ලුම් පත්‍රය සමග අමුණා යැවීමට සිදු වේ. එසේ ම ඉල්ලුම් පත්‍රය සමග ආවරණ ලිපියක් ඉදිරිපත් කිරීම ද වැදගත් වේ.

## 6.7 රැකියා ඇබෑර්තු සඳහා ලිපියක් ලිවීම

ඇතැම් විට රැකියාවක් සඳහා ඉල්ලුම් කිරීමේ දී ජීව දත්ත පත්‍රිකාවක් හෝ ඉල්ලුම් පත්‍රයක් හෝ යැවීම වෙනුවට, ලිපියකින් ද එය කළ හැකි ය.

ඉල්ලුම් පත්‍රයේ හෝ ජීව දත්ත පත්‍රිකාවේ සඳහන් කළ යුතු කරුණු පිළිබඳව නැවත මතක් කරන්න. එම කරුණුවල සාරාංශයක් ලිපියක් ලිවීමේ දී ඇතුළත් කළ යුතු ය.

ඔබ ලියන ලිපිය අනුව සේවායෝජකයා ඔබ පිළිබඳව පූර්ව ඇගයීමක් කරන හෙයින් මනා ලෙස, සිත් ඇදගන්නා ආකාරයට ලිපිය ඉදිරිපත් කිරීම වැදගත් වේ.

එම්. පී. සමරපාල
අංක 36, උඩ පාර,
ජාඇල.
2017.08.28

ගරු සභාපතිතුමා,
ජාඇල ප්‍රාදේශීය සභාව,
කඳාන.

ගරු සභාපතිතුමනි,

<u>තාවකාලික රියැදුරු තනතුර සඳහා බඳවා ගැනීම</u>

උක්ත කාරණය සම්බන්ධව 2017.07.25 දිනැති පුවත්පත් දැන්වීම හා සම්බන්ධවයි. එම දැන්වීමට අනුව තාවකාලික රියැදුරු තනතුර සඳහා මම ද ඉල්ලුම් කිරීමට කැමැත්තෙමි. අ.පො.ස. (සා.පෙළ) දක්වා අධ්‍යාපනය ලබා ඇති මම බර වාහන රියැදුරු බලපත්‍රයක් සහිත අයෙක්මි. එසේ ම මා රියැදුරකු ලෙස වසර 05 කට වැඩි කාලයක් උදාගිරි සමාගමේ සේවය කර තිබේ. මීට අමතරව මා එම දැන්වීමේ සඳහන් කායික සුදුසුකම්වලින් ද යුක්ත අයෙකු බව සඳහන් කරනු කැමැත්තෙමි. සුදුසුකම් හා පළපුරුද්දට අදාළ සහතික ද මේ සමඟ අමුණා ඇත.

ඒ අනුව උක්ත තනතුර සඳහා මා බඳවා ගන්නා මෙන් ඉල්ලා සිටින අතර, එසේ බඳවා ගතහොත් මාගේ උපරිම කැපවීමෙන් යුතුව සේවය කිරීමට සූදානම් බව ද දන්වමි.
ස්තුතියි.

මෙයට,
විශ්වාසී,
.................................
එම්. පී. සමරපාල

රැකියා සඳහා ලිපියක් ලිවීමේ දී සැලකිය යුතු කරුණු කිහිපයක් පහත දක්වා ඇත.

**ඉල්ලුම් කිරීම සඳහා ලියන ලිපියේ කටු සටහනක් සැකසීමේ වැදගත්කම**

- අන්තර්ගතය තර්කානුකූලව පෙළ ගැස්වීමට හැකි වීම
  උදා : මුලින් ඉදිරිපත් කළ යුතු කරුණු පළමුව ද, පසුව ඉදිරිපත් කළ යුතු කරුණු පසුව ද ඉදිරිපත් කිරීම
- අවශ්‍ය කරුණු සියල්ල ම ඇතුළත් කිරීමට හැකි වීම
  උදා : අධ්‍යාපන සුදුසුකම්, පළපුරුද්ද, ළැදියා, විනෝදාංශ
- වැදගත් කරුණු අනුපිළිවෙළකට සකස් කිරීමට හැකි වීම
- ලිපිය නිවැරදිව ලියා ගැනීමට හැකි වීම

**ලිපියක අන්තර්ගතය තර්කානුකූලව පෙළගැස්වීම සිදු කරන ආකාරය පහත උදාහරණයෙන් දැක්වේ**

උදා: ලිපිය ඉදිරිපත් කරන අයගේ නම, ලිපිනය හා දිනය
ලිපිය යොමු කළ යුතු අයගේ නම/තනතුර
ලිපිය යොමු කළ යුතු ලිපිනය
ලිපියෙහි මාතෘකාව
ලිපියෙහි අඩංගු විය යුතු මූලික කරුණු

- ඇබෑර්තුව ප්‍රසිද්ධ කරන ලද පුවත්පතේ/ගැසට්පතේ දැන්වීම හා එහි දිනය
- දැන්වීමෙන් ඉල්ලා ඇති තොරතුරු

- දැන්වීමේ සඳහන් සියලු තොරතුරුවලට අදාළව, උත්තර සැපයීම
  උදා : වෘත්තීය දක්ෂතා/ලබාගත් ජයග්‍රහණ
- තොරතුරු ඉදිරිපත් කළ යුතු ආකාරය කැපී පෙනෙන ලෙස ඉදිරිපත් කිරීම

**තම අයදුම් පත කැපී පෙනෙන ලෙස ඉදිරිපත් කිරීම සඳහා**

- තමා ලබා ඇති ඉහළ ම සුදුසුකම
- ජාතික මට්ටමේ හෝ අන්තර්ජාතික මට්ටමේ ජයග්‍රහණ ආදිය පිළිබඳව සඳහන් කිරීම ඉතා ප්‍රයෝජනවත් වේ

**අවසන් දිනයට පෙර ඇබෑර්තුව සඳහා ප්‍රතිචාර දැක්වීමේ වැදගත්කම**

රැකියාවක් සඳහා අයදුම්පත් යැවීමේ දී ඒ සඳහා අයදුම් කළ හැකි අවසාන දිනය එම දැන්වීමේ ම සඳහන් වේ. අවසාන දිනය වන තෙක් නොසිට රැකියාව සඳහා අයදුම්පත් යැවීම ද ඉතා වැදගත් වේ. එසේ වැදගත් වීමට බලපාන ප්‍රධාන කරුණු කිහිපයක් පහත දැක්වේ.

- තැපෑලේ දී ඇති විය හැකි ප්‍රමාද දෝෂ මඟහරවා ගැනීම
- ඇබෑර්තුව සම්බන්ධයෙන් ඉදිරි කටයුතු සිදු කිරීමට සේවා යෝජකයාට පහසු වීම
- අයදුම්කරු අදාළ ඇබෑර්තුව සම්බන්ධයෙන් දක්වා ඇති උනන්දුව පිළිබඳ ව සේවා යෝජකයාට දැනගත හැකි වීම

රැකියා දැන්වීමේ සඳහන් දිනයට පෙර ලැබෙන සේ ඔබගේ ලිපිය ඉදිරිපත් කිරීම ඉතා වැදගත් වේ. ඒ මගින් ඔබගේ උනන්දුව පෙන්විය හැකි අතර අන් ලිපිවලට වඩා ඔබේ ලිපිය ආකර්ෂණීය විමට ද එය හේතු වනු ඇත.

## ක්‍රියාකාරකම 6.6



රාජ්‍ය ඉංජිනේරු සංස්ථාවේ ඉදිකිරීම් වැඩබිමක් සඳහා පෙදරේරු ඇබෑර්තු ඇති බවත්, ඒ සඳහා පළපුරුද්ද සහිත අයට ලිපියකින් ඉල්ලුම් කරන ලෙසත් දන්වා සති අන්ත පුවත්පතක දැන්වීමක් පළ කර ඇත. එයට ඉල්ලුම් කිරීම සඳහා සුදුසු අදාළ ලිපියක් සකස් කරන්න.

## 6.8 සම්මුඛ පරීක්ෂණ කුසලතා දියුණු කර ගැනීම

රැකියාවකට ඉල්ලුම් කළ පසු ඊළඟ පියවර වන්නේ සම්මුඛ පරීක්ෂණයකට කැඳවූ විට එයට සහභාගි වීමයි.

සම්මුඛ පරීක්ෂණයක් යනු සේවායෝජකයා විසින් බඳවා ගැනීමට අපේක්ෂිත රැකියාවට ඔබ සුදුසු ද නැද්ද යන්න පරීක්ෂා කිරීම සඳහා කරනු ලබන වාචික/ ප්‍රායෝගික පරීක්ෂණයකි.

- **සම්මුඛ පරීක්ෂණ පවත්වන ආකාර**

රැකියා සඳහා තෝරා ගැනීමේ දී පවත්වනු ලබන සම්මුඛ පරීක්ෂණ, ආකාර තුනකින් පැවැත්වෙන බව දැකිය හැකි ය.

### I. තනි පුද්ගලයකු විසින් කෙරෙන සම්මුඛ පරීක්ෂණ (Individual Interview)



ආයතන ප්‍රධානියා විසින් තනිව ම අයදුම්කරුගෙන් වාචිකව ප්‍රශ්න ඇසීම කරනු ලබයි. විශේෂයෙන් පෞද්ගලික අංශයේ තනි පුද්ගලයකු විසින් පවත්වාගෙන යනු ලබන වෙළෙඳ ව්‍යාපාර, ඇඟලුම් කම්හල් වැනි ස්ථාන සඳහා සේවකයන් බඳවා ගැනීමේ දී මෙවැනි සම්මුඛ පරීක්ෂණ පැවැත්වේ.

## II. මණ්ඩලයක් මගින් කෙරෙන සම්මුඛ පරීක්ෂණ (Group Interview)



රජයේ ආයතන හා මහා පරිමාණ පෞද්ගලික ආයතන සඳහා සේවකයන් බඳවා ගැනීමේ දී මෙවැනි සම්මුඛ පරීක්ෂණ පැවැත්වේ. සාමාන්‍යයෙන් පුද්ගලයන් දෙදෙනකු හෝ ඊට වැඩි සංඛ්‍යාවක් හෝ සම්මුඛ පරීක්ෂණ මණ්ඩලයේ සිටිය හැකි ය. ඉහළ වෘත්තීය මට්ටමේ රැකියා සඳහා තෝරා ගැනීමේ දී පුද්ගලයන් 5ක් පමණ සම්මුඛ පරීක්ෂණ මණ්ඩලයේ සිටින අවස්ථා ද දක්නට ලැබේ.

## III. නිපුණතා මැන බැලීමේ පරීක්ෂණ (Practical Interview)



ඇතැම් විට ප්‍රායෝගික කුසලතා අවශ්‍ය රැකියා සඳහා වාචික සම්මුඛ පරීක්ෂණවලට අමතරව ප්‍රායෝගික අභ්‍යාස මගින් ද පරීක්ෂණ පවත්වනු ලැබේ. විශේෂයෙන් පරිගණක මෙහෙයවීම, කාර්මික අංශයේ රැකියා, සංගීතය, නර්තනය වැනි රැකියා සඳහා මෙවැනි ප්‍රායෝගික පරීක්ෂණ පැවැත්වීම සිදු වේ. වර්තමානයේ දී ගුරු වෘත්තිය සඳහා බඳවා ගැනීමේ දී ද ප්‍රායෝගික පරීක්ෂණ පවත්වනු ලැබේ.

- **සම්මුඛ පරීක්‍ෂණ කුසලතා වර්ධනය කර ගැනීමේ වැදගත්කම**

සම්මුඛ පරීක්‍ෂණ සඳහා මනා පෙර සූදානමක් සහිතව සහභාගි වීම අවශ්‍ය ය. එයට හේතුව එක ම රැකියාවක් සඳහා ඔබ වැනි ම සුදුසුකම් සහිත කිහිප දෙනකු සහභාගි විය හැකි බැවින් ඒ අතරින් ජයග්‍රහණය ලබා ගැනීම වැදගත් වීමයි. සාර්ථකව මුහුණ දීමට ඔබට හැකි වුවහොත් රැකියාවක් ලබාගත හැකි අතර අසාර්ථක වුවහොත් ඔබට බොහෝ කලක් රැකියාවක් නොමැතිව ජීවත් වීමට ද සිදු විය හැකි ය.

සම්මුඛ පරීක්ෂණයකට සාර්ථක ව මුහුණ දීම සඳහා අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ග කිහිපයක් චාර්ලි මාර්ෂල්ස් (Charlie Marshalls 2016) විසින් දක්වා ඇත්තේ මෙසේ ය.

- විධිමත්ව ඇඳුම් ඇඳිය යුතු ය. සරල ඇඳුමකින් සැරසී යාම සුදුසු නොවේ. ඔබේ ඇඳුමෙන් පෞරුෂය මෙන් ම සිත් ගන්නා සුලු පෙනුමක් ද දිස් විය යුතු ය.
- අමතර ජීව දත්ත පත්‍රිකාවක්, සටහන් පොතක්, පෑනක් ඇතුළු අවශ්‍ය දේ රැගෙන යන්න.
- පෙර පුහුණුවක් සිදු කරන්න.
- සම්මුඛ පරීක්ෂණයට යන ආයතනය පිළිබඳව මනා දැනුමක් ලබා ගන්න.
- නියමිත වේලාවට වැඩ කරන්න. සම්මුඛ පරීක්ෂණ වේලාවට පෙර අදාළ ස්ථානයට යන්න.
- සම්මුඛ පරීක්ෂකයා හෝ මණ්ඩලය සමග තර්ක කිරීම හෝ විවාද කිරීම නොකරන්න.
- අසනු ලබන ප්‍රශ්නවලට සුවිශේෂීව, අවංකව හා විවාදාත්මක නොවන ආකාරයට පිළිතුරු සපයන්න.
- සම්මුඛ පරීක්ෂණ කාලය තුළ ආචාරශීලී බව හා පාණ්ඩිත්‍යය පිළිබිඹු කරන්න.
- ඔබ පිළිබඳව අවශ්‍ය ප්‍රමාණයට වඩා ආත්ම වර්ණනා නොකරන්න. ඔබ ඔබ ම වීමට උත්සාහ කරන්න.
- ඔබ කලින් රැකියාවක් කර තිබේ නම් ඒ පිළිබඳව සෘණාත්මක ප්‍රකාශ නොකරන්න.
- සම්මුඛ පරීක්ෂණ කාලය තුළ දී ඔබගේ ශරීර භාෂාව ද (Body Language) හොඳින් පවත්වා ගන්න.

සම්මුඛ පරීක්ෂණයකට මුහුණ දීමේ දී ඕනෑ ම පුද්ගලයකු තුළ ආතතියක්, තිගැස්මක් ඇති වීම ස්වාභාවික ය. මනා ලෙස පුහුණුවීම මගින් ආතතිය අවම කරගෙන, සම්මුඛ පරීක්ෂණයට සාර්ථකව මුහුණ දිය හැකි ය.

**ක්‍රියාකාරකම 6.7**



කණ්ඩායම් දෙකකට බෙදී භූමිකා රංගනයක් මගින් ආදර්ශ සම්මුඛ පරීක්ෂණයක් ඉදිරිපත් කරන්න.

## 6.9 සම්මුඛ පරීක්ෂණයකට හොඳින් මුහුණ දීමේ වැදගත්කම

සම්මුඛ පරීක්ෂණ අවස්ථාවේ දී ඔබ පිළිබඳව ඇති කර ගන්නා ප්‍රතිරූපය දිගුකාලීනව වැදගත් වේ. ඔබ කොතෙක් සුදුසුකම් සහිත වුව ද රැකියාවට තෝරාගැනීම හෝ ප්‍රතික්ෂේප වීම හෝ තීරණය වන්නේ ඔබ සම්මුඛ පරීක්ෂණයට මුහුණ දෙන ආකාරය මතයි.

සම්මුඛ පරීක්ෂණයකට සාර්ථකව මුහුණ දෙන ආකාරය පිළිබඳව පුරවැසි අධ්‍යාපනය විෂය භාර ගුරුතුමා ශිෂ්‍ය ශිෂ්‍යාවන් කණ්ඩායමකට ලබා දුන් උපදෙස් කිහිපයක් පහත දැක්වේ.

නිමල් - සර්, අපේ අයියා බයෙන් ඉන්නවා. එයාට හෙට සම්මුඛ පරීක්ෂණයක් තියෙනවා කියලා.

ගුරුතුමා - බය වෙන්න ඕන නැහැ. සම්මුඛ පරීක්ෂණයකට මුහුණ දෙන ආකාරය ඉගෙන ගත්තා ම හරි.

නසාර් - කොහොම ද සර්? අපිට කියල දෙන්නකො.

ගුරුතුමා - පළවෙනි ම දේ තමයි අපේ පෞද්ගලික පෙනුම.

නිමල් - පෞද්ගලික පෙනුම කියන්නෙ මොකක්ද සර්?

ගුරුතුමා - සම්මුඛ පරීක්ෂණයට යනකොට අපේ ඇඳුම් පැලඳුම්, කොණ්ඩය කපා ඇති ආකාරය, අපි භාවිත කරන රූපලාවන්‍ය හැඩගැන්වීම් (Make up) ඒවාට තමයි පෞද්ගලික පෙනුම කියන්නෙ.

රාජිනි - ඕනවට වඩා 'මේක් අප්' දාන්න හොඳ නැහැ නේද සර්?

ගුරුතුමා - අන්න හරි රාජිනි. සරලව හා චාම්ව ඉන්න ඕන. එතකොට තමයි සම්මුඛ පරීක්ෂණ මණ්ඩලයේ ඉන්න අයට ප්‍රියමනාප බවක් ඇති වන්නෙ.

අබ්දුල් - වෙන මොනවා ද සර් තව වැදගත් වන දේවල්?

ගුරුතුමා - ඉන්න මම කියල දෙන්නම්. බලන්නකො මේ පෝස්ටරේ.

- සම්මුඛ පරීක්ෂණයකට ඉදිරිපත් වීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු
  - **පෞද්ගලික පෙනුම**
    - හිස කෙස් උචිත පරිදි සකස් කර ගැනීම
    - හැඩගැන්වීම (Make up)
    - ඇඳුම් පැළඳුම්
  - **ශරීර භාෂාව** (Body Language)
    - ඉඳ ගැනීම
    - ඇස් හැසිරවීම (eye contact)
    - මුහුණෙන් පෙන්වන හැඟීම් (facial expressions)
    - අත් චලන (Use of hands)
  - **අවධානය හා උනන්දුව**
    - සම්මුඛ පරීක්ෂණ මණ්ඩලය සමඟ ඍජු සම්බන්ධතාවක් පැවැත්වීම
    - සංවරශීලීව හා සම්මුඛ පරීක්ෂණ මණ්ඩලයේ අවධානය දිනා ගත හැකි වන පරිදි පුහුණුවක් ලබා ඉදිරිපත් වීම
    - සම්මුඛ පරීක්ෂණ මණ්ඩලය විසින් අසනු ලබන ප්‍රශ්නවලට අවධානයෙන් යුතුව හා ඍජුව උත්තර සැපයීම
    - අලසකමෙන් තොරව උනන්දුවෙන් සම්මුඛ පරීක්ෂණ මණ්ඩලය ඉදිරියේ පෙනී සිටීම
  - **කථනය හා බස හැසිරවීම**
    - පැහැදිලිව, නිරවුල්ව සම්මුඛ පරීක්ෂණ මණ්ඩලයට ඇසෙන පරිදි කතා කිරීම
    - නිවැරදිව, සංයමයෙන් යුතුව, ආචාරශීලීව බස හැසිරවීම
  - **ආචාර සම්පන්න වීම**
    - සම්මුඛ පරීක්ෂණය පැවැත්වෙන ස්ථානයට ප්‍රවේශ වීමේ දී හා පිට ව යෑමේ දී විනීතව කටයුතු කිරීම
    - ගෞරවයෙන් යුතුව ආමන්ත්‍රණය කිරීම, අසුන් ගැනීමේ දී හා නැඟිට යාමේ දී ආචාර සම්පන්න වීම
    - සම්මුඛ පරීක්ෂණ මණ්ඩලය අසන ප්‍රශ්නවලට ආචාරශීලී ව හා සංයමයෙන් යුතුව උත්තර සැපයීම/ගෞරව සම්පන්නව කතා කිරීම
    - සම්මුඛ පරීක්ෂණ මණ්ඩලය ඉදිරියේ ආචාර සම්පන්නව හැසිරීම

සම්මුඛ පරීක්ෂණයක් යන්න තරගකාරී අවස්ථාවකි. ඇතැම් විට එක රැකියාවකට දස දෙනෙකු හෝ පහළොස් දෙනෙකු වුව ද ඉදිරිපත් විය හැකි ය. එහි දී අන් අයට වඩා වැඩි වාසියක් අත් කර ගැනීමට නම් ඔබ ඉතා හොඳ ආකාරයට එයට මුහුණ දීම කළ යුතු ය. ඔබට කොතරම් සහතික තිබුණ ද, ඇතැම් විට ඔබට වඩා අඩු අධ්‍යාපන සුදුසුකම් ඇති අයකු සම්මුඛ පරීක්ෂණයේ දී එයට සාර්ථකව මුහුණ දීම නිසා ඔහුට හෝ ඇයට එම රැකියාව හිමි විය හැකි ය.

## ක්‍රියාකාරකම 6.8



''සම්මුඛ පරීක්ෂණයක් ජය ගැනීමට නම්'' යන මාතෘකාව යටතේ බිත්ති පුවත්පතක පළ කිරීමට සුදුසු ලිපියක් ලියන්න.

## 6.10 මනා කාල කළමනාකරණය

සම්මුඛ පරීක්ෂණය ජයග්‍රහණය කිරීමෙන් පසු ඔබට රැකියාව ලබා ගත හැකි වේ. රැකියාව තුළ සාර්ථකත්වයට පත් වීමට නම් ඔබ තුළ වර්ධනය කර ගත යුතු කුසලතා රාශියකි. ඉන් කිහිපයක් පහත දැක්වේ.

• අධිෂ්ඨානය හා කැපවීම • ශ්‍රමාභිමානය ඇති කරගැනීම • සේවායෝජක අපේක්ෂා අනුව වැඩ කිරීම • සේවාලාභීන්ගේ අවශ්‍යතා මැනවින් ඉටු කිරීම • කාර්යක්ෂමතාව හා ඵලදායිතාව ඇතිකර ගැනීම • **මනා කාල කළමනාකරණය** • නිවැරදි මූල්‍ය කළමනාකරණය • පෞද්ගලික හැසිරීම • රැකියාව හා පෞද්ගලික ජීවිතය සමබරව පවත්වා ගැනීම

ඉහත කුසලතා අතුරින් ඉතා වැදගත් වන්නේ කාල කළමනාකරණයයි. එයට හේතුව කාලය වටිනාකමින් වැඩි ම සම්පතක් වීම ය. 'කාලය රන් හා සමාන ය' යනුවෙන් පැරණි කියමනක් ඇත්තේ කාලයේ වටිනාකම පෙන්වීමටයි. රැකියාවේ කටයුතු සාර්ථක කර ගැනීමට නම් කාලය, වැඩ අනුව බෙදාගෙන කටයුතු කළ යුතු ය. එය කාල කළමනාකරණය නම් වේ.

■ **කාල කළමනාකරණයේ වැදගත්කම**



කාල කළමනාකරණය සඳහා අනුගමනය කළ හැකි ක්‍රියාමාර්ග කිහිපයක් පහත දැක්වේ.

- තමන්ට හිමි රාජකාරි කටයුතු මනාව අවබෝධ කර ගැනීම
- එම කටයුතු ප්‍රමුඛතාව අනුව සකස් කිරීම
- එක් එක් කාර්යය සඳහා යම් කාල සීමාවක් තීරණය කිරීම
- දෛනික කාල සටහනක් අනුගමනය කිරීම
- දවස අවසානයේ දී තමන් සැලසුම් කළ කටයුතුවල ප්‍රගතිය පරීක්ෂා කිරීම
- ප්‍රමාදවීම් හා ඉටු කර ගැනීමට නොහැකි වූ කාර්ය සඳහා හේතු විමසා බැලීම
- නිවාඩු ලබාගැනීමේ දී තම වැඩ සඳහා විකල්ප වැඩ පිළිවෙළක් සැකසීම

පුද්ගලයකුට තමන්ගේ කාලය පහත පරිදි කොටස් තුනකට බෙදා ගත හැකි ය.

| | |
|---|---|
| පෞද්ගලික කාලය → | තමාගේ පෞද්ගලික කටයුතු සඳහා ගත කිරීමට ඇති කාලය මෙසේ හැඳින්වේ. රාජකාරි කාලයෙන් බාහිරව මෙම කාලය යොදා ගත යුතු වේ. |
| වැඩ කරන කාලය → | කාර්යාලය හෝ වැඩබිම තුළ තමාට සේවය කිරීමට තිබෙන කාලය මෙසේ හැඳින්වේ. සාමාන්‍යයෙන් ශ්‍රී ලංකාවේ මෙම කාලය පැය 8ක් ලෙස සැලකේ. |
| අධ්‍යයන කාලය → | රැකියාවට අදාළ වැඩිපුර පුහුණුවීම් හා සුදුසුකම් සපුරා ගැනීමට ගත කරන කාලය මෙයට අයත් වේ. ඇතැම් විට ආයතන මගින් නිවාඩු ලබා දී අධ්‍යයන කටයුතු සඳහා යොමු කරවනු ලැබේ. |

සේවායෝජකයන් සැම විට ම ආයතනයේ කාර්යක්ෂමතාව හා ඵලදායිතාව ගැන අවධානය යොමු කරන හෙයින් කාල කළමනාකරණය අතිශයින් වැදගත් වේ.

| | |
|---|---|
| කාර්යක්ෂමතාව | ඃ සීමිත සම්පත් උපරිම අයුරින් ප්‍රයෝජනයට ගැනීම |
| ඵලදායිතාව | ඃ ආරම්භයේ දී සැලසුම් කළ අරමුණු ඒ අයුරින් ම ළඟා කර ගැනීම |

කාලය මැනවින් කළමනාකරණය නොකරගත හොත් කාර්යක්ෂමතාව හා ඵලදායිතාව ළඟා කර ගැනීම අපහසු විය හැකි ය.

**ඵලදායිතාව හා කාර්යක්ෂමතාව ගැන සේවායෝජකයාගේ අවධානය**

- සෑම සේවායෝජකයකුගේ ම අපේක්ෂාව වන්නේ තම සේවා ස්ථානය ඵලදායීව හා කාර්යක්ෂමව පවත්වාගෙන යාමයි.
- එම නිසා සේවාදායකයන්ට ලබා දෙන මූල්‍ය හා අනෙකුත් ප්‍රතිලාභවලට සරිලන පරිදි සේවයක් ලබා ගැනීමේ අයිතිය සේවායෝජකයන්ට ඇත.
- මේ නිසා සේවාදායකයන් තම සේවය නොපිරිහෙළා ඉටු කිරීම වගකීමක් මෙන් ම යුතුකමක්ද සේ සැලකීම වැදගත් වේ.
- තම කාර්ය නොපිරිහෙළා ඉටු කළහොත් ආයතනයකට ඵලදායිතාව හා කාර්යක්ෂමතාව කරා ළඟා වීමට ඉතා පහසු වේ.



මෙය 1960 ගණන්වල මැද භාගයේ සිදුවූවකි. ඇමෙරිකාවේ හිටපු ජනාධිපතිවරයකු වන ජෝන් එෆ්. කෙනඩි, කේප් කැනවරල් තුඩුව නම් ස්ථානයේ පිහිටුවා තිබූ අභ්‍යවකාශ මධ්‍යස්ථානය නැරඹීම සඳහා පෙර දැනුම්දීමකින් තොරව පැමිණියේ ය. ගොඩනැගිලි සංකීර්ණය පුරා සැරිසරන කෙනඩිට එම ආයතනයේ සේවය කරන පුද්ගලයෙක් හමු විය. "ඔබ මෙහි මොක ද කරන්නේ ?" කෙනඩි ඔහුගෙන් විමසීය. "මම ජීවත් වෙන්න කීයක් හරි හොයාගන්නවා," යන්න ඔහුගේ පිළිතුර විය. ඔහුට ආචාර කළ කෙනඩි ඉදිරියට ගමන් කළේය. ඔහුට තවත් පුද්ගලයෙකු මුන ගැසුණු අතර කෙනඩි ඔහුගෙන් ද පෙර ප්‍රශ්නය ම ඇසී ය. "මම සියලු ම කසළ ඉවත් කර පිරිසිදු කරනවා" ඒ ඔහුගේ පිළිතුරයි. ඔහුට මඳහසක් නැගූ කෙනඩි තවත් පුද්ගලයකු හමුවන තුරු ඉදිරියට ගමන් කළ අතර තෙවන පුද්ගලයාගෙන් ද සුපුරුදු පැනය විමසී ය. මුහුණ පුරා පැතිරුණු ප්‍රසන්න සිනහවකින් ඔහු දුන් පිළිතුර වූයේ, "ජනාධිපතිතුමනි, මම මිනිසෙකුව හඳට යවන්න උදවු කරනවා." යන්නයි.

ඔබ ද යම් ආයතනයක සේවය කරන විට එම ආයතනය වෙනුවෙන් ඔබ කරන කුඩා කාර්ය කොටසට වඩා, ඔබට එම සේවයෙන් ලැබෙන වේතනයට වඩා, ආයතනයේ විසල් දැක්ම සාක්ෂාත් කර ගැනීම ඔබේ පුළුල් චේතනාව විය යුතු ය.

### ක්‍රියාකාරකම 6.9



1. ඔබගේ පාසල් කටයුතු කරගෙන යාම සඳහා දෛනික කාල සටහනක් පිළියෙල කරන්න.
2. 'පුරවැසියකු ලෙස කාල කළමනාකරණයේ ඇති වැදගත්කම' මැයෙන් ලිපියක් සකස් කරන්න.

## 6.11 පෞද්ගලික හැසිරීම පවත්වා ගැනීම

ආයතනයක විවිධ මට්ටමේ රැකියාවල නිරත වන පුද්ගලයන් දැකිය හැකි ය. එබැවින් රැකියා ස්ථානයේ දී තම පෞද්ගලික හැසිරීම මනාව හැඩ ගස්වා ගැනීම අවශ්‍ය ය. එක් අයකුගේ හැසිරීමේ ගැටලු අනෙක් අයට බලපාන බව ද අප සිහියේ තබා ගත යුතු වේ.

පෞද්ගලික හැසිරීම මනාව පවත්වා ගැනීමේ දී සැලකිය යුතු කරුණු කිහිපයක් පහත රූපසටහන මගින් දක්වා ඇත.




එසේ ම ආයතනය යම් අසීරුතාවන්ට මුහුණ දී ඇති අවස්ථාවල දී සාමූහිකව කටයුතු කිරීමෙන් එවැනි අසීරුවලින් ආයතනය මුදවා ගැනීමට ක්‍රියා කිරීම ද අවශ්‍ය වේ. ආයතනය තුළ දී මෙන් ම ඉන් පිටත දී ද එහි ගෞරවය ආරක්ෂා වන ආකාරයට තම හැසිරීම පවත්වා ගැනීම සෑම සේවාදයකයකුගේ ම වගකීම වේ.

මීට අමතරව සේවාදයකයන් විසින් අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ග කිහිපයක් ද පහත දැක්වේ.

- තම හැසිරීම අන් අයට අගෞරවයක්, හිරිහැරයක් නොවන ආකාරයට පවත්වා ගැනීම
- ආයතනයේ අරමුණු ඉටු වන ආකාරයට තම හැසිරීම සකස් කර ගැනීම
- නියමිත වේලාවට වැඩට පැමිණීම
- අනවශ්‍ය ලෙස වැඩ ප්‍රමාද නොකිරීම
- ආයතනයට උදවු අවශ්‍ය විටෙක, එනම් නිෂ්පාදන ඌනතා/මානව සම්පත් ඌනතා ඇති අවස්ථාවල දී ඒ සඳහා ස්වේච්ඡාවෙන් ඉදිරිපත් වීම
- සම්පත්වලින් උපරිම ප්‍රයෝජන ලැබිය හැකි ආකාරයට කටයුතු කිරීම
- ආයතනයේ කීර්තිනාමයට හානියක් නොවන සේ ක්‍රියා කිරීම

සේවාදයකයාගේ හැසිරීම ආයතනයේ කීර්තිනාමයට සෘජුව ම බලපායි. එක් එක් පුද්ගලයන්ගේ හැසිරීම අන් අයගේ කටයුතු සඳහා ද ඔවුන්ගේ හැසිරීම කෙරෙහි ද යහපත් හෝ අයහපත් හෝ ලෙස බලපෑම් කළ හැකි ය.

> සේවා කාලය තුළ දී මද්‍යසාර පානය කර සිටීම, බුලත්විට හැපීම, දුම්පානය, විෂමාචාර ක්‍රියා, අල්ලස් ගැනීම, නිකරුණේ සේවා ස්ථානයෙන් බැහැරව සිටීම, දූෂණ ක්‍රියාවල නිරත වීම වැනි ක්‍රියා නිසා සේවකයාට මෙන් ම ආයතනයට ද විශාල අපකීර්තියක් ඇති විය හැකි ය.

විශේෂයෙන් නියමිත වේලාවට වැඩට පැමිණීම, නියමිත කාලය තුළ වැඩ කිරීම, නියමිත වේලාවට පිටව යාම වැදගත් වේ. පැමිණීම හා පිටවීම ක්‍රමවත් කිරීමට බොහෝ ආයතන අත්සන් පොත වෙනුවට කාඩ් ලකුණු කිරීම, ඇඟිලි සලකුණු තැබීම වැනි ක්‍රම හඳුන්වා දී තිබේ. සේවා කාලයෙන් බැහැරව ද හැසිරීම ගැන සැලකිලිමත් විය යුතු ය.

සමහර රැකියාවල යෙදීම ආයතනයේ දියුණුවට මෙන් ම සමාජ අවශ්‍යතා සපුරාලීමට දායකවන නමුත් සේවා කාලයෙන් පසුව තම පෞද්ගලික සෞඛ්‍යයට අහිතකර ලෙස බලපාන අවස්ථා ඇතිවිය හැකි ය. රසායනාගාර සේවකයන්, විකිරණ ආශ්‍රිත සේවාවල යෙදෙන්නන්, වැද්දුම් ශිල්පීන්, පීඩන යන්ත්‍ර ක්‍රියාකරුවන් වැනි වෘත්තීන් ඒ සඳහා නිදසුන් ලෙස දැක්විය හැකි ය. මෙවන් රැකියාවල යෙදෙන්නන් එම වෘත්තීන්හි යෙදීම සඳහා ලබා දී ඇති සේවා උපදෙස් හා ආරක්ෂක ක්‍රම නිසි පරිදි අනුගමනය කරමින් එම බලපෑම් වළක්වා ගැනීම කෙරෙහි සැලකිලිමත් විය යුතු ය.

## 6.12 නිවැරදි පෞද්ගලික මූල්‍ය කළමනාකරණය

- **ආදායම සහ වියදම**

ඕනෑ ම පුද්ගලයකුට ජීවත් වීම සඳහා කිසියම් ආදායම් මාර්ගයක් අවශ්‍ය වේ. ඒ සඳහා රැකියාවක හෝ වෘත්තියක හෝ යෙදීම අත්‍යවශ්‍ය වේ. එසේ නොමැති නම් තමන්ට ජීවත් වීම සඳහා සහනාධාර හා පරිත්‍යාග වැනි වෙනත් ආදායම් ලැබීමේ ක්‍රමයක් තිබිය යුතුයි.



**Company Name**
[Address]
Salary Slip

**Employee Name:** ____________________
**Designation:** ____________________
**Month & Year:** ____________________

| **Earnings** | | **Deductions** | |
|---|---|---|---|
| Basic & DA | 5,200.00 | Provident Fund | 358.00 |
| HRA | 3,000.00 | E.S.I. | 120.00 |
| Conveyance | 500.00 | Loan | - |
| | | Profession Tax | - |
| | | TSD/IT | - |
| | | | |
| Total Addition | 8,700.00 | Total Deduction | 478.00 |
| | | **NET Salary** | **8,222.00** |
| | | | |

**Dollars Eight Thousand Two Hundred Twenty Two Only**
Cheque No. ____________ Name of Bank: ____________
Date: ____________

Signature of the Employee: ____________ Director: ____________

වැටුප් පතක් (Pay Slip)

බිල් පතක් (Bill)

තමන්ගේ ආදායමට සරිලන ලෙස වියදම් සකස් කර ගැනීම සාර්ථක ජීවිතයකට අත්‍යවශ්‍ය වේ. ඒ සඳහා සැලකිලිමත් ලෙස මුදල් පරිහරණය කිරීම අවශ්‍ය වේ.

**සාමාන්‍ය හෝ හදිසි අවස්ථාවල දී මුදල් යෙදවීම**

එදිනෙදා කටයුතුවල දී මෙන් ම හදිසි අවස්ථාවල දී තමන්ට මුදල් යෙදවීමට සිදු විය හැකි බැවින් ඒ සඳහා ප්‍රයෝජනයට ගැනීමට මුදල් තමන් සතු විය යුතු ය.

- **බැංකු ගිණුමක් විවෘත කිරීම/පවත්වාගෙන යෑම**

මුදල් පරිහරණයේ දී බැංකු ගිණුමක් පවත්වාගෙන යාම එදිනෙදා කටයුතු පහසු වීමටත්, මුදලට ආරක්ෂාව සැලසීමටත්, අතිරේක ආදායමක් ලැබීමටත් හේතු වේ. උදාහරණ ලෙස බැංකුවක මුදල් තැන්පත් කිරීම නිසා මාසිකව හෝ වාර්ෂිකව හෝ පොලියක් ලබාගත හැකි වීම සහ ඒ මඟින් පෞද්ගලික මූල්‍ය කළමනාකරණයක් ද සිදු වේ.

- **අනාගතය සඳහා ඉතිරි කිරීම්**

පහත සඳහන් කරුණු මත පෞද්ගලික මූල්‍ය කළමනාකරණයේ දී අනාගතය සඳහා ඉතිරිකිරීම් අත්‍යවශ්‍ය වේ.

- අපේක්ෂිත තත්ත්ව යටතේ තවදුරටත් මුදල් ඉපයීමට නොහැකි වීම
- හදිසි කරදර ඇති වුවහොත්, එවැනි අවස්ථාවල දී ප්‍රයෝජනයට ගැනීම
- වයස්ගත වූ විට හෝ විශ්‍රාම ගිය විට හෝ ප්‍රයෝජනයට ගැනීම
- අන්‍යයන්ට කරදරයක් නොවන ලෙස ජීවත් වීම

- **පරිභෝජනය සඳහා ණය ගනුදෙනුවලින් වැළකී සිටීම**

හැකි සෑම විට ම තම මූල්‍ය කළමනාකරණයේ දී ණය ගනුදෙනුවලින් වැළකී සිටීම තමන්ට වාසිදායක වේ. එදිනෙදා කටයුතුවල දී ණය ගැනීමට මෙන් ම ණය දීමට යෑමෙන් අනපේක්ෂිත කරදරවලට මුහුණ දීමට සිදු විය හැකි ය.

විශේෂයෙන් ම එදිනෙදා පරිභෝජන කටයුතු සඳහා ණය ගැනීම නොකළ යුතු ය. තමන්ගේ ආදායමට සරිලන පරිදි වියදම් පාලනය කර ගැනීම අත්‍යවශ්‍ය වේ.

- **ණය පත් (Credit Card) භාවිතයේ වාසි හා අවාසි**

ණය කාඩ්පත් (Credit Card) භාවිතය ගැන ඔබ දන්නේ කුමක් ද? ණය කාඩ්පතක් යනු මුදල් ණයට ලබාගත හැකි එක් ක්‍රමයකි.



ඔබේ පවුලේ අයත් මෙවැනි කාඩ් භාවිත කරනු ඇත. එය භාවිත කරන ආකාරය ඔවුන් සමඟ සාකච්ඡා කරන්න. මෙවැනි **ණය පත් භාවිතයේ වාසි මෙන් ම අවාසි ද රාශියක් පවතී.**

| ණය පත් භාවිතයේ වාසි | ණය පත් භාවිතයේ අවාසි |
|---|---|
| ■ මුදල් එහා මෙහා ගෙන යාමට වඩා ආරක්ෂාකාරී වේ.<br>■ තමාට මිල දී ගත හැකි උපරිම ණය ප්‍රමාණය තීරණය වේ.<br>■ පොලී රහිත ගෙවීම් කාල හිමි වේ.<br>■ වියදම් කරන ප්‍රමාණය අනුව විවිධ ප්‍රතිලාභ (Rewards) ලබා ගත හැකි ය.<br>■ ඕනෑ ම මුදල් වර්ගයකින් ගනුදෙනු කළ හැකි ය.<br>■ ක්ෂණික අවශ්‍යතා සඳහා ණය ලබාගත හැකි ය.<br>■ නියමිත වෙලාවට බිල්පත් වැනි දේ ගෙවීමට හැකි ය. | ■ ණයපත් භාවිතය නිසා ඇතැම් විට තමාට ඔරොත්තු නොදෙන පරිභෝජනයකට පෙළඹීමේ අවදානමක් තිබීම<br>■ ඉහළ පොලී අනුපාත අය කිරීම<br>■ වෙනත් අයකුට අවභාවිත කළ හැකි වීම<br>■ මුදල ගෙවීමේ දී අමතර ගාස්තු අය කිරීම<br>■ ක්ෂණිකව කොන්දේසි වෙනස් කිරීම<br>■ ප්‍රමාණය ඉක්මවා වියදම් කිරීමට පෙළඹීම<br>■ නියමිත දිනට ශේෂය නොගෙවූ විට අමතර ගාස්තු එකතු වීම<br>■ දීර්ඝ කාලීනව ණයකරුවකු බවට පත්වීම<br>■ ඉහළ වාර්ෂික ගාස්තු අය කිරීම |

විශේෂයෙන් සීමාවකින් තොරව භාණ්ඩ හා සේවා ණයපත් මඟින් ලබා ගැනීම නිසා අපට ගැලවිය නොහැකි ආකාරයෙන් ණයපත් සමාගම්වල දිගුකාලීන ණයකරුවන් බවට පත් වීමට සිදු වීම ප්‍රධාන ම ගැටලුව වේ.

නිශ්චිත ආදයම් මාර්ග සහිත ජලය, විදුලිය වැනි බිල්පත් ගෙවීම ක්‍රමානුකූලව කළ යුතු කාර්යබහුල පුද්ගලයන්ට ණයපත් භාවිතය සුදුසු වේ. විශේෂයෙන් වියදම් කිරීම පිළිබඳව අරපිරිමැස්මක් නොමැති අධික ලෙස ණය ලබා සිටින, නිශ්චිත ආදයම් මාර්ග නොමැති පුද්ගලයන්ට ණයපත් භාවිත කිරීමෙන් තවත් ගැටලුවලට මුහුණ දීමට සිදු විය හැකි ය.

■ **අනාගතය සඳහා ආයෝජනය කිරීම හෝ ඉතිරි කිරීම**

මින් අදහස් වන්නේ තමන්ගේ ඉදිරි ව්‍යාපාරික කටයුතු හෝ පෞද්ගලික ජීවිතය හෝ සාර්ථක කර ගැනීම සඳහා මුදල් ආයෝජනය කිරීම හෝ ඉතිරි කිරීම යි.

උදා: ව්‍යාපාරවල මුදල් යෙදවීම
ස්ථාවර තැන්පතුවල මුදල් යෙදවීම

වයස්ගත කාලය සඳහා විශ්‍රාම වැටුප/අර්ථ සාධක අරමුදල්; සේවයෙන් විශ්‍රාම යන විට ලැබෙන විශ්‍රාම වැටුප් හෝ අර්ථ සාධක මුදල හෝ ඉතා හොඳ කළමනාකරණයකින් යුතුව පරිහරණය කළ යුතු ය.

විශ්‍රාම වැටුප් හෝ අර්ථසාධක අරමුදල් වරප්‍රසාද හෝ නොමැති රැකියාවක යෙදී සිටී නම් අනාගතය සඳහා සැලසුම් සහිතව මුදල් පරිහරණය හා ඉතිරි කිරීම් ක්‍රමානුකූලව පවත්වා ගෙන යාම ඉතා වැදගත් වේ.

එමෙන් ම රැකියාවෙන් ලැබෙන ආදායමෙන් අනාගතය සඳහා යම් මුදලක් ඉතිරි කිරීම ද වැදගත් වේ. රැකියාවෙන් ඉවත් වීමට හෝ විශ්‍රාම ගැනීමට හෝ සිදු වන අවස්ථාවක දී එම ඉතිරි කිරීම් ප්‍රයෝජනයට ගැනීමට හැකි වනු ඇත. හදිසි මුදල් අවශ්‍යතාවක දී මෙම ඉතුරුම් ඇපයට තබා ණය ලබා ගැනීමට ද හැකි ය. විශ්‍රාම වැටුප් නොලබන රැකියාවක දී මෙම ඉතුරුම් අනාගත ආයෝජන ලෙස ද භාවිත කළ හැකි ය.

විශ්‍රාම වැටුප හෝ අර්ථ සාධක අරමුදල මගින් ලැබෙන මුදල් සමබරව වියදම් කිරීම ද වැදගත් ය. විශේෂයෙන් රැකියාවක් නොමැති විට ඔබේ වටිනාකම ද අඩු වීමට ඉඩ තිබේ. එවන් අවස්ථාවක ක්‍රමවත් ලෙස මෙම මුදල් ආයෝජනය කර අතිරේක ආදායමක් ලැබිය හැකි නම් ඔබට විශ්‍රාම ජීවිතය සතුටින් ගත කිරීමට හැකියාව ලැබෙනු ඇත. වර්තමානයේ බැංකු විසින් ජ්‍යෙෂ්ඨ පුරවැසියන්ගේ ඉතිරි කිරීම් සඳහා ඉහළ පොලී අනුපාතයක් මෙන් ම විශේෂ සහන ලබා දීමට ද කටයුතු කර ඇත.

### ක්‍රියාකාරකම 6.10



ණය කාඩ්පත් භාවිතයේ වාසි හා අවාසි මාතෘකාව යටතේ පුවත්පතකට ලිපියක් සකස් කරන්න.

## 6.13 වෘත්තීය ජීවිතය හා පෞද්ගලික ජීවිතය සමබරව පවත්වා ගැනීම

වෘත්තීය ජීවිතය හා පෞද්ගලික ජීවිතය ගැටලු ඇති නොවන ආකාරයට සමබරව පවත්වා ගැනීම ද ඉතා වැදගත් වේ. වෘත්තීය ජීවිතය හා පෞද්ගලික ජීවිතය එකිනෙක පටලවා ගැනීමෙන් රැකියාව මෙන් ම ජීවිතය ද නීරස වනු ඇත. රැකියාවේ වැඩ කටයුතු කාර්යාලයේ දී ම අවසන් කර නිවසට යාමෙන් පෞද්ගලික ජීවිතය සාර්ථකව පවත්වා ගත හැකි ය. එසේ ම අවශ්‍ය ප්‍රමාණයට වඩා අතිරේක ආදායම් ඉපයීම සඳහා අතිකාල වැඩ වැනි අමතර කාර්යවල නිරත වීම නිසා ද පෞද්ගලික ජීවිතය ගැටලුකාරී වනු ඇත. විශේෂයෙන් තම පවුලේ සාමාජිකයන් සමග දවසේ හෝරා කිහිපයක් හෝ ගත කිරීම අවශ්‍ය ය. ගෙදරදොර කටයුතු, දරුවන්ගේ අධ්‍යාපන කටයුතු සාකච්ඡා කිරීම, එක්ව ආහාර ගැනීම, විනෝද චාරිකාවල, ක්‍රීඩාවල නිරත වීම, ආගමික කටයුතුවලට, සමාජ සේවා හා පවුලේ පොදු කටයුතුවලට සහභාගි වීම, කායික මෙන් ම මානසික නීරෝගී බව ඇති කිරීමට ද හේතු විය හැකි ය.

එසේ ම පෞද්ගලික ජීවිතය ප්‍රධාන කොටගෙන රැකියා කටයුතු අතපසු කිරීම මගින් සේවායෝජකයන් හා සේවාලාභීන් අතර ද, ආයතනයේ අනෙකුත් සේවකයන් අතර ද අප්‍රසාදයට ලක් වීමට ඉඩ තිබේ. එම නිසා පෞද්ගලික ජීවිතය, සමාජ ජීවිතය හා රැකියා ජීවිතය අතර සමතුලිත බවක් ඇති කර ගැනීම පිළිබඳව සැලකිලිමත් වීම වැදගත් ය.

පුද්ගලයකුට දෛනික ජීවිතයේ දී ප්‍රධාන කාර්ය පහකට යොමු වීමට සිදු වේ.




මෙම කාර්ය සමබරව පවත්වා ගැනීම සාර්ථක ජීවිතයක් ගත කිරීමට හේතු වේ. මද්‍යසාර, මත්ද්‍රව්‍ය භාවිතයෙන් වැළකීම, දුම් බීමෙන් වැළකීම, නරක මිතුරන් ඇසුරු කිරීමෙන් වැළකීම, සමාජ විරෝධී කටයුතුවල නොයෙදීම, දූෂණ හා වංචා සඳහා සම්බන්ධ නොවීම මගින් ජීවිතය වඩාත් සාර්ථකව පවත්වාගෙන යා හැකි ය.

රැකියාවේ කටයුතු හා පවුලේ කටයුතු අවුල් වීමට බලපන ප්‍රධාන කරුණක් ලෙස මූල්‍ය අපහසුතා දැක්විය හැකි ය. ආදායමට වඩා වියදම් වැඩි වීම මගින් මූල්‍ය අපහසුතා ඇති වේ. ආදායමට සරිලන ආකාරයට අනවශ්‍ය හා අමතර වියදම් සීමා කර ගැනීම මෙහි දී අවශ්‍ය ය. මූල්‍ය අපහසුතා ඇති වූ අවස්ථාවක තමාට සමීප හිතවතුන්ගෙන් උපකාර ලබා ගැනීම කෙරෙහි අවධානය යොමු වීම අවශ්‍ය ය. විශේෂයෙන් දෙමාපියන්, හිතවතුන් ආදීන්ගෙන් මුදල් ලබා ගැනීම කළ හැකි ය. ණයපත් භාවිතය, පොලියට මුදල් ලබා ගැනීම වැනි ක්‍රමවලට යොමු වීමෙන් ගැටලු තවත් උග්‍ර වනු මිස ඔබට ඉන් මිදීමට නොහැකි වනු ඇත. සැලසුම්ගත කළමනාකරණයක් මගින් සේවා ආයතනයේ කාර්යක්ෂමතාව හා ඵලදායිතාව ඉහළ නැංවීමෙන් සේවාදායකයාට ද ප්‍රතිලාභ ලබාගත හැකි අතර, පෞද්ගලික

ජීවිතය සාර්ථක කර ගැනීමට මංපෙත් විවර කරගත හැකි ය. ජීවත් වීම සඳහා මුදල් අවශ්‍ය වේ. **එහෙත් මුදල් යනු ජීවිතය නොවන බව මතක තබා ගැනීම ඉතා ම වැදගත් වේ.**

## ක්‍රියාකාරකම 6.11



'සැලසුම්ගතව වැඩ කිරීමෙන් රැකියාව හා පෞද්ගලික ජීවිතය ජයගත හැකි ය.' යන මාතෘකාව යටතේ රචනයක් ලියන්න.

## සාරාංශය



- කුඩා අවධියේ සිට ම පෞද්ගලික ගොනුවක් පවත්වා ගැනීමෙන් තමා පිළිබඳව අවබෝධයක් ලබා ගැනීමට හැකියාව ලැබේ.
- රැකියාවක් තෝරා ගැනීමට පෙර සැම විට ම තම හැකියා හා ළැදියා පිළිබඳව අවබෝධ කර ගැනීමෙන් වඩාත් සුදුසු රැකියාවකට යොමු වීමට හැකියාව ලැබේ.
- වැඩ ලෝකයේ විවිධ රැකියා රාශියක් පවතී. ඒ පිළිබඳව මනා ලෙස විශ්ලේෂණය කර තමාට උචිත රැකියාවක් තෝරා ගැනීමට කටයුතු කිරීම වැදගත් වේ.
- ජීවදත්ත පත්‍රිකාවක් හෝ රැකියා ඉල්ලුම් පත්‍රයක් හෝ නිවැරදිව සම්පූර්ණ කිරීමෙන් තරගකාරී වැඩ ලෝකය තුළ ජයග්‍රහණය හිමි කර ගැනීමට ඇති ඉඩ ප්‍රස්ථාව වැඩි වේ.
- විවිධ සම්මුඛ පරීක්ෂණ පිළිබඳව අවබෝධ කර ගැනීම හා ඒවාට සාර්ථකව මුහුණ දීමට පුහුණුවක් ලැබීම අනාගත ජීවන ඉලක්ක ජය ගැනීමට මහඟු පිටිවහලක් වේ.
- කාල කළමනාකරණය හා මූල්‍ය කළමනාකරණය සාර්ථක ජීවිතයකට අත්‍යවශ්‍ය ය.
- පෞද්ගලික හැසිරීම යහපත්ව පවත්වා ගැනීම පෞද්ගලික ජීවිතයට මෙන් ම වෘත්තීය ජීවිතයට ද එක සේ වැදගත් වේ.
- පෞද්ගලික ජීවිතය මෙන් ම රැකියා/වෘත්තීය ජීවිතය සමබරව පවත්වා ගැනීම පෞද්ගලික සංවර්ධනයට මෙන් ම සමාජ සංවර්ධනයට ද බෙහෙවින් ඉවහල් වේ.